සැඟවුණු බොදු මග යළි පුබුදන

# හෙළ බොදු පියුම

ශ්‍රී බු. ව. 2558ක් වූ නිකිණි මස (ව්‍යවහාරික වර්ෂ 2014 අගෝස්තු)

34 වෙනි කලාපය

## ලෝ සත නොදකින මරණයේ මහා බියකරු බව...



රු. 20/-

සැඟව ගිය බොදු මග යළි රැගෙන සෑම පුන් පොහෝ දිනකම එළිදකින දහම් සංග්‍රහය

# පෙළීම

බුදුන් සහ මහ රහත් සඟමුත් පෙළීමෙන් දුක විඳි කයේ<br>
යොදුන් ගණනක් උසින් සිටිනා මහ බඹුත් පෙළෙනව බයේ<br>
නොදුන්නොත් සුව සිතට රිසි ලෙස පෙළේ සියලුම සත ළයේ<br>
වෙදුන් නැත තුන් ලොවේ පිළියම් දෙන්න හිටියොත් දිවි දියේ

පසිඳුරන්ගෙන් පෙළෙන ගත හෝ සිතක් හැම ලොවකම ඇතී<br>
කිසි ලෙසින්වත් නොපෙළෙනා තැන් කොහේ හිටියත් නොම වෙතී<br>
රිසි ලෙසින් නොපවතින ලෝ දම් කා හටත් දුක ගෙන දෙතී<br>
නිසි ලෙසින් ලොව අල්ව ගත්තොත් පෙළීමේ කෙළවර නැතී

පල්ලෙ ඇති ඉම පෙළීමයි යන අරුත ගත් විට එන නැණා<br>
අල්ව ගෙන හිටියොතින් ඒ ඉම මහා බියකරු බව දැනා<br>
එල්ල කර ගෙන අත හැරෙන මග ගියොත් ඒ දෙස නුවණිනා<br>
දල්ව ගත හැක පහන් එළි වැට සදා සැනසුම් ගෙන දෙනා

පෙළීමේ දුක නිවන් දැක්කත් කයක් ඇත්නම් එහි තියේ<br>
ඇලීමේ දොස තියෙන තෙක් සිත එයින් පෙළෙනව දිව රැයේ<br>
බැලීමේ හිත තියේ නම් ඇස නිසා පෙළෙනව සිත බයේ<br>
ගිලීමේ ලොව දුකෙහි තතු නැණ නොතිබුණොත් සිහියට නොයේ

පිරිනිවන් පෑ විටදි හිත කය දෙකෙන් පෙළි දුක නිමා වේ<br>
අරි දහම් හඬමය නිවන් සුව සියලු සත හට ගෙනාවේ<br>
සිරි ලෙසින් ගෙන සසර ගමනක මන බඳොත් තව පමා වේ<br>
බැරිකමක් නැත දහම තිබුණොත් ලබන්නට සුව අමා වේ

පෙළෙන සලකුණ තුන් ලොවේ කොතැනත් තියේ හැම කලකමා<br>
ඇළෙන හේතුව නොදුටුවොත් ඉන් ලැබෙන දුක මතු නැත නිමා<br>
තැලෙන පොඩි වෙන කැඩෙන බිඳෙනා ලොවක නිසි තතු වෙත යොමා<br>
හැලෙන කඳුළැලි නිමා කර ගනු නිවන් සුව ලැබ ගෙන අමා

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන



# නිවන් මාර්ගයේ මුල පටන් ගැන්ම අපදාන පාළිය තුලින්...

**14 වන කොටස**

සිදුහත් කුමාරයගෙ සුළු මව වුන මහා ප්‍රජාපතී ගෝතමී දේවිය ගැන බොහෝ පින්වතුන් දන්නවා. එතුමිය මහාමායා දේවිය කළුරිය කිරීමෙන් පසු සිදුහත් කුමාරයව බලා කියා ගත් හැටිත්, එතුමිය සහ පිරිවර ශාක්‍ය කුමරියො පන්සීයක් එක්ක ආනන්ද හාමුදුරුවන්ගෙ උදව් උපකාර ඇතිව මහණ වුන හැටිත් දැනටමත් දන්නා කරුණු අතර වෙනවා. එතුමිය මහණ වෙලා පිරිනිවන් පාන මොහොතෙ ගෞතම බුදු පියාණන් වහන්සේ ඉදිරියේ මහා ඍද්ධි ප්‍රාතිහාර්යක් පෑවා. ඉතින් මේ පෑව ප්‍රාතිහාර්ය දැක්ක එතන හිටපු උපාසක උපාසිකාවන් බොහෝ පිරිසක්, මෙතරම් ඍද්ධි ප්‍රාතිහාර්ය පාන්න හැකියාව ලැබෙන්න ඔබතුමිය කරපු පින මොකක්ද කියල අසා සිටියා.



ඉතින් එතුමිය ඒ අතීත සිද්ධිය මතක් කරල දුන්නා. අනෙක් ශ්‍රාවකයන් වහන්සේලා වගේම මේ මහා භද්‍ර කල්පයෙන් කල්ප ලක්ෂයකට පෙර පදුමුත්තර නම් බුදු පියාණන් වහන්සේ ලොව පහල වෙලා හිටපු කාලයේ තමයි ඊට මූලාරම්භය සිද්ධ වුණේ. ඒ කාලය වෙන කොට එතුමිය හංසවතී කියන නුවරක ඇමති කුලයක දියණියක් විදියට උපත ලබල හිටියා. දවසක් එතුමිය පදුමුත්තර බුදුන් වහන්සේ දැකල පැහැදිලා දින 7 ක් මහා දන් දුන්නා. ඉතින් පදුමුත්තර බුදුන් වහන්සේ අනෙක් ශ්‍රාවකයන් වහන්සේලාට වගේම, මේ මහා දානයේ ආනිසංස පෙන්වා දීල ගෞතම බුද්ධ සාසනයේ මහා ප්‍රජාපතී නමින් ඇය රහත් වෙන බවත් සැලකර සිටියා.

එතුමිය මේ ගෞතම බුද්ධ සාසනයේ කාන්තාවන්ට පැවිදි උපසම්පදාව ලබා ගැනීම උදෙසා හිස මුඩු කර ගෙන, කහ වස්ත්‍ර ඇඳගෙන ගෞතම බුදුන් වහන්සේ ළඟට ඇවිත් පැවිද්ද ඉල්ලා සිටියා. පැවිදි උපසම්පදාව ලබා දෙන්න කියල තුන් වතාවක් ඉල්ලා සිටියත් බුදුන් වහන්සේ ඊට එකඟ වුනේ නෑ. ඉතින් එතුමිය උත්සාහය අත් නොහැර අර කහ වස්ත්‍ර පිටින්ම තැන තැන ඇවිද්දා. කොච්චර නම් ඇවිද්දද කියනව නම්, කකුල් ඉදිමෙන කල්ම ඇවිද්දා. ඇඳුම්වල, සිරුරේ කුණු දහදිය තියෙද්දිම ඇවිද්දා. ඇය පමණක් නෙවෙයි, ඇය එක්ක තවත් ශාක්‍ය කුමරියො පන්සීයක් සිටියා. බැරිම තැන නැවතත් බුදුන් වහන්සේ වැඩ ඉන්න විහාරයේ දොර ළඟට ගිහින් අඬා වැළපුණා. මේ සිද්ධිය දකපු ආනන්ද හාමුදුරුවො එතුමිය ළඟට ගිහින් කාරණය විමසා සිටියා. ඇයි මේ කකුල් ඉදිමෙනකල් ඇවිදල, ඇගේ හැම තැනමත් කුණු ජරාව පෙරාගෙන මොකක් හොයාගෙනද මෙහි ආවෙ කියල ඇහුවා. එතකොට එතුමිය හඬා වැළපෙමින් අවශ්‍ය කාරණය සැලකර සිටියා. ඒ කියන්නෙ කාන්තාවන්ටත් පැවිදි බිමට ඇතුල් වෙන්න අවසර දෙන්න කියල බුදුන් වහන්සේගෙන් තුන් වතාවක්ම ඉල්ලා සිටියත් ප්‍රතික්ෂේප කළා කියන කාරණය.

ඉතින් ආනන්ද හාමුදුරුවො ඇය අස්වසල බුදුන් වහන්සේ ළඟට ගිහින් කාරණය සැල කර සිටියා. ස්වාමීනි, ඔබ වහන්සේගෙ සුළු මව වන මහා ප්‍රජාපතී ගෝතමිය කාන්තාවන්ට පැවිදි උපසම්පදාව ලබා දෙන්න කියල ඉතාමත් බැගෑපත්ව ඉල්ලා සිටිනවා, හිස මුඩු කරගෙන කහ වස්ත්‍ර ඇඳගෙන හරිම උවමනාවක්, අවශ්‍යතාවයක් තියෙන බව පේනවා, ඒ නිසා ඇයට පැවිදි බිමට ඇතුල් වෙන්න අවසර දෙන්න කියල ආනන්ද හාමුදුරුවො ඉල්ලා සිටියා. තුන් වතාවක් ඉල්ලා සිටියත් බුදුන් වහන්සේ ඒ ඉල්ලීම ප්‍රතික්ෂේප කළා. ඉතින් ආනන්ද හාමුදුරුවො ඉතාමත් නුවණ තියෙන කෙනෙක්. මේ ප්‍රශ්නයම වෙන ක්‍රමයකට අහල බලමු කියල හිතල මෙහෙම ඇහුවා. ''ස්වාමීනි, භාග්‍යවතුන් වහන්ස කාන්තාවකට මේ ධර්ම විනයේ පැවිදි බිමට ඇතුල් වෙලා සෝවාන්, සකෘදාගාමී, අනාගාමී, අරිහත් යන මාර්ග ඵලවලට එන්න බැරිද?''

බොහොම හිතල බලන්න ඕන ප්‍රශ්නයක් ආනන්ද හාමුදුරුවො බුදුන් වහන්සේගෙන් ඇහුවෙ. අද බොහෝ කාන්තාවන්ට තියෙන ප්‍රශ්නයක් තමයි මේ. ''අපිට මේ ගැඹුරු දහම් වැටහෙයිද? ඒ මදිවට කාන්තාවන්ගෙ නුවණෙ තරම හැඳි මිටේ දිගට පමණයි කියල කියනවා, අනේ අපේ පවට තමයි මේ කාන්තාවන් වෙලා ඉපදිලා තියෙන්නෙ (ඒ කාලෙ බමුණන් අතර ප්‍රසිද්ධ වෙලා තිබුණෙ මේ වගේ මතයක්) ඊළඟ අත්බැවේදිවත් පිරිමියෙක් වුනොත් අපිට මේ ටික කරගන්න පුළුවන්...'' මේ ආදී වශයෙන් ලතැවෙමින් පිරිමියෙක් වෙන්න ඕන කරන පින්කම් මොනවද කියල කල්පනා කරනවා. ඉතින් ඇත්තටම කාන්තාවක් වෙලා ඉපදෙන්නෙ පෙර කරපු පවු නිසාද? කොහෙද එහෙම කතාවක් කියල තියෙන්නෙ? පවු නිසා කාන්තාවක් වෙලා ඉපදෙනව නම්, දිව්‍ය ලෝකවල දිව්‍යාංගනාවන්, දිව්‍ය අප්සරාවන් වෙලා ඉපදෙන්නෙ කොහොමද? මොකද මනුස්ස ලෝකෙට වඩා දිව්‍ය ලෝකයට යන්න පින් කරන්න ඕන.

හිතා හිතං මීනාති ජානාතීති වෝ මනුස්සෝ - හිත අහිත මේ මේ යැයි කියල දැන ගන්න පුළුවන් කෙනා මනුස්සයෙක්. ඒ අර්ථයෙන් සමාජය තුළ හොඳ නරක කියන දෙක හිතල මතල තේරුම් ගන්න පුළුවන් හැකියාවක් තියෙන්න ඕන. මනුස්සයො අතර ඉඳගෙන, ඒ බලාපොරොත්තු- වෙන් හොඳ නරක දැන ගෙන, ඒ ☞

විදියට කටයුතු කරන කොට තමයි මනුස්ස සංඛාර වැඩෙන්න මූලික වෙන්නෙ. මනුස්සයෙක් වෙන්න නම් කාට වුනත් ඒ ගති ලක්ෂණ තියෙන්න ඕන. එහෙනම් මනුස්ස භවය, මනුස්ස ජාතිය හදන නිර්මාණාත්මක ශක්තිය ගොඩ නැගෙන්නෙ කොහොමද? මේ ශක්තිය ගොඩ නැගෙන්න නම් ඒ ශක්තිය තව තවත් ඔප මට්ටම් වෙන්න ඕන, වැඩි දියුණු වෙන්න ඕන. එහෙම නැත්නම් ඒ තැනට උපාදාන වෙලා තියෙන්න ඕන. ඒ උපාදානය වෙන්නත් මනුස්සකමට භාවෙලා ඉන්න ඕන. එහෙම නැත්නම් තණ්හාවක් තියෙන්න ඕන. තණ්හාව නිකං ඇති වෙන්නෙ නෑ. ඒකට මනුස්ස ස්පර්ශයක් තියෙන්න ඕන. මොකක්ද මනුස්ස ස්පර්ශය කියන්නෙ? ''අනේ අපේ එවුන් එක්ක මට ඉන්න ඕන, අනේ මේ ළමයව කොච්චර හුරතල් කළත් මදි. අල්ලල ඉඹින්න, වඩා ගන්න ඕන. මේ අයට මම නැත්නම් කොහොමද? මම ඉඳල මේ අයට හොඳ සිරිත් විරිත් කියල දෙන්න ඕන. එතකොට තමයි මේ ළමයි හොඳට හැදෙන්නෙ.'' මේ සේරම මනුස්සකමට ලැබෙන ස්පර්ශ. ඒකට ඉතින් ඇස, කන, දිව, නාසය, ශරීරය ආයතන වෙලා තියෙන්න ඕන. හැබැයි නිකං ආයතන වෙන්නෙත් නෑ. හිතේ මේ ගතිය බැහැගෙන තියෙන්න ඕන.

ළමයෙක් වගේ සෙල්ලම් කළ හැටි, අම්මා තාත්තා එක්ක පන්සල් ගිය හැටි, පින් දහම් කළ හැටි හිතේ බැහැගෙන තියෙන මනුස්සකම්. ඉතින් මේ කරපු කියපු දේවල් නැත්නම් ඒ සම්බන්ධ අදහසක් හිතේ බැහැගන්න විදිහක් නෑ. මොනවද කරපු කියපු දේවල් කියන්නෙ? මනුස්සයෙක් වගේ හැසිරීම. උදව්වක් ඉල්ලුවම උදව් කරන කෙනෙකුට, එහෙම නැත්නම් අනෙක් අය එක්ක සහයෝගයෙන් වැඩ කරන කෙනෙකුට, කොටින්ම හොඳ කෙනෙකුට අපි අදටත් කියනව කොච්චර වුනත් ඒ මිනිහ ගාව, ඒ ගෑනි ගාව මනුස්සකම තියෙනව කියල. එතකොට මනුස්සකම කියන්නෙ හොඳ පැත්ත. ඒ කියන්නෙ සුගතියකට යන පැත්තක්. ඒකට ලෝබකම් කරල බෑ. දැක්ක තැන සර්පයො, බල්ලො, බළල්ලු වගේ කා කොටාගෙන බෑ. අනෙක් මිනිස්සු එක්ක තරහ මරහ තියාගෙන මූණුවල් පුප්පගෙන ඉඳල බෑ. එහෙම අයට මනුස්සයො කියන්නෙ නෑ. ''අපෝ ඒක නම් මහ නයා වගේ මිනිහා, අනේ ඒ ගෑණි නම් බල්ලෙක් වගේ ඇඟට කඩන් පැන්නෙ. අනේ උන් ගාව මනුස්සකම් ගෑවිලාවත් නෑ.'' මෙහෙම තමයි ඒ වගේ අය ගැන කතා කරන්නෙ. එහෙනම් මනුස්සකම් කියන්නෙ අලෝභ, අදෝස, අමෝහ කියන කුසල මූලයෙන් පටන් ගන්න සංඛාරවල විපාක ජාතිය. එතකොට ගැහැණු කියන්නෙත්, පිරිමි කියන්නෙත් මනුස්සයො. ඉතින් ගැහැණු වෙලා ඉපදෙන එක පවක්ද, එහෙම නැත්නම් පිනක්ද කියල මේ කියවන පින්වත් උදවියට හිතල බැලුවොත් තේරුම් ගන්න පුළුවන්.

දැන් ඉතින් බුදුන් වහන්සේ ආනන්ද හාමුදුරුවො අහපු පැණයට මෙහෙම පිළිතුරක් දෙනවා. ආනන්ද, කාන්තාවකට ධර්ම විනයේ පැවිදි උපසම්පදා වෙලා සෝවාන්, සකෘදාගාමී, අනාගාමී හෝ අරිහත් කියන මාර්ග ඵලවලට එන්න කිසිම බාධාවක් නෑ. දැන් වැටහෙනව මාර්ග ඵලවලට එන්න නම් ත්‍රිහේතුක (අලෝභ, අදෝස, අමෝහ) පටිසන්ධියක් තියෙන්න ඕන කියන කාරණය. එහෙම නැත්නම් ඒ උප්පත්තිය තීරණය වෙලා තියෙන්න ඕන මේ කුසල මූල තුනෙන්ම. දැන් නැවතත් ආනන්ද හාමුදුරුවො බුදුන් වහන්සේට මෙහෙම සැලකර සිටිනවා. ස්වාමීනි, මේ ඉන්නෙ ඔබ වහන්සේව හැදූ වැඩූ සුළු මව. ඔබ වහන්සේට කිරි පෙව්වා, අතපය නොකඩා හදා ගත්තා. එහෙම කාන්තාවකට බුද්ධ සාසනයේ පැවිදිවෙලා සෝවාන්, සකෘදාගාමී, අනාගාමී හෝ අරිහත් කියන මාර්ග ඵලවලට එන්න පුළුවන් නම්, ඇයි මෙතුමිය ඇතුලු පිරිසට පැවිදි උපසම්පදාව නොදෙන්නෙ? එතකොට බුදුන් වහන්සේ සැලකර සිටියා, කාන්තාවන්ට පැවිදි උපසම්පදාව ලබන්න නම් ඒ අය මෙන්න මේ කාරණා අටකට එකඟ වෙන්න ඕන කියල. මේ කාරණා අටට අෂ්ඨ ගරු ධර්ම කියල කියනවා. මේ තමයි ඒ කාරණා අට.

**1. උපසම්පදාවෙන් වර්ෂ සියයක් ගතවුවත් භික්ෂුණිය එදින උපසම්පදාව ලැබූ භික්ෂුවකට වැඳීම් පිදීම් ආදී ගරු සැළකිලි කළ යුතුය.**

මේකටත් හේතුවක් තියෙනවා. භික්ෂුණීන් වුනත් සාමාන්‍යයෙන් ස්ත්‍රීන්ගෙ උපතින්ම එන ස්වභාවයක් තමයි යම්කිසි ආකාරයක තියෙන මදි පාඩුව / ඉතිරි ගතිය. (මේ ගැන විග්‍රහයක් මීට පෙර පළ වූ පද නිරුක්ති ලිපි මාලාව තුළින් දැනටමත් ඉදිරිපත් කරල තියෙනවා.) විශේෂයෙන් ස්ත්‍රී පක්ෂයේ කෙනෙක් යම්කිසි තානාන්තරයක් ලැබුවම ඒ ගති ස්වභාවය මතු වෙනවා. ගරු සත්කාර ලැබෙන කොට තමයි ඒක විශේෂයෙන්ම මතු වෙන්නෙ. පුරුෂයන්ට මේ ගති ලක්ෂණය අඩුයි. ස්ත්‍රීන්ට අධිකයි. අන්න ඒ අධික ගති ලක්ෂණය තමයි මේ කාරණයට බලපාන්නෙ. ඒ අධික ගති ලක්ෂණය නිසා මොකද වෙන්නෙ, කාට හරි වැඳුම් පිදුම් කරන්න අවස්ථාව දුන්නොත් එහෙම, ''අපි දැන් මේ තත්ත්වයේ ඉන්නෙ, මේ තත්ත්වයට පත් වුණා ...'' මේ ආදී වශයෙන් තමන්ගෙ තත්ත්වය උසස් කරල පෙන්වන්න බලනවා. ඒ තත්ත්වය නිසා භික්ෂූන් ඉක්මවා ඉහළ යන්න හදනවා. එහෙම වුනොත් ඒ තත්ත්වය පාලනය කරගන්න බැරි වෙනවා. ඒ නිසා තමයි උපසම්පදා වෙලා අවුරුදු 100 ක් ගියත් එදින උපසම්පදා වෙච්ච භික්ෂුවකට වැඳීම් පිදීම් කළ යුතුයි කියල කිව්වෙ. භික්ෂුව කෙරෙහි යටහත් පහත්ව තියන්න තමයි ඒ කාරණය පැනෙව්වෙ. ඒක අර ස්ත්‍රීන්ගෙ ස්වභාවික ගති ලක්ෂණය නිසා සාසනයේ අභිවෘද්ධියටම පනවපු එකක් මිසක් පහත් කරල සලකන්න පැනෙව්ව නෙවෙයි.

**2. භික්ෂූන් නැති පෙදෙසක භික්ෂුණිය වස් නොවිසිය යුතුය.**

කාන්තාවො බොහෝ ඉන්න, දුර්වල පිරිමි කිහිප දෙනෙක් ඉන්න ගෙදරකට හොරු පැන්නොත් එන විනාසය වගේ දෙයක් සිද්ධ වීම වළක්වන්න තමයි මේ වගේ දෙයක් පැනෙව්වෙ. එතනදි භික්ෂූන් වැඩ ඉන්න පෙදෙසක භික්ෂුණීන් වැඩ ඉන්න ඕන කියන්නෙ, ළඟටම වෙලා ඇසුරු කරන්න කියන එක නෙවෙයි. මොනව හරි ගැටළුවක් ආවොත් ඒකට විසඳුම් ලබාගන්න පුළුවන් වෙන මට්ටමක, ඒ වගේ දුරකින් වාසය කිරීමේ වැදගත්කම තමයි මේ පෙන්වා දෙන්නෙ. උදාහරණයක් විදියට යම්කිසි බාහිර පිරිසකගෙන් බාධාවක් ගැටළුවක් ඇති වුනොත් එහෙම, ඒ අයට ආරක්ෂාවක් සලස ගන්න රජයේ නිලධාරීන් වගේ යම්කිසි වගකිව යුතු පිරිසක් ළඟට ගිහින් ඒ කාරණය කියන්න වෙනවා. මොකද ඒ වගේ අවස්ථාවල සමහර විට නීති විරෝධී විදියට පුද්ගලයන්ගෙන් අඩන්තේට්ටම්, උසුළු විසුළු ආදිය භික්ෂුණීන් කෙරෙහි එන්න පුළුවන්. එතකොට ඒ අය අසරණ වෙනවා. ඒ වගේ වෙලාවක භික්ෂූන් වහන්සේලා නැත්නම් භික්ෂුණීන් වහන්සේලාට තනියෙන් ඒ වගේ ගැටළුවක් විසඳගන්න පුළුවන්කමක් නෑ. භික්ෂුණීන් වහන්සේලා ඒ වගේ දේකට මැදිහත් වෙන්න යෑමත් ගැළපෙන්නෙ නෑ. එතකොට භික්ෂූන් වහන්සේලා හරහා තමයි ඒ ගැටළුව ඉදිරිපත් කරන්න ඕන. ඒ වගේ අවස්ථාවකදි භික්ෂුණීන් වහන්සේලාට ළඟම සම්බන්ධය තියෙන පිරිස් විදියට ඉන්නෙ භික්ෂූන් වහන්සේලා. ඒ නිසා තමයි භික්ෂූන් වහන්සේලා වැඩ ඉන්න පෙදෙසක වස් වසන්න කිව්වෙ.

**3. අඩ මසක් පාසා භික්ෂු සංඝයාගෙන් පොහොය විමසිය යුතුය.**

ඒ කියන්නෙ උපසම්පදා වෙච්ච භික්ෂූන් / භික්ෂුණීන් පොහොය කරනව කියල සික්ඛා පද පිළිබඳ සුද්ධතාවයක් කරනවා. එතනදි භික්ෂුණීන්ට පැවරිච්ච සික්ඛා පද වෙනම තියෙනවා. ඒ අනුව තමන්ගෙ සුද්ධතාවය ප්‍රකාශ කරන්න ඕන. ඒ සඳහා පොහොය කරන සීමාවට ගිහින්

ස්වාමීනි, අපේ පවිත්‍රතාවය ඉවසා දරන සේක්වා කියල ඉල්ලීමක් කරල ඒ පිළිබඳව තමන්ගෙන් අහන ප්‍රශ්නවලට උත්තර දෙන්න ඕන. එතනදි, දැන් ඔබ ළඟ මේ පාරාජිකාවට හේතු වන කාරණා යෙදිල තියෙනවද? ... ආදී වශයෙන් අහන ක්‍රමයක් තියෙනවා. එහෙම දෙයක් යෙදිල නැත්නම් නිහඬව ඉන්න ඕන. එහෙම දේවල් යෙදිල තියේ නම් ඒ බව කියන්න ඕන. ඒ ආකාරයෙන් අඩ මසක් පාසා තමන්ගෙ සුද්ධතාවය ප්‍රකාශ කරල ප්‍රතිඥාවක් ගන්න ඕන. භික්ෂුණීන් වහන්සේලා විතරක් නෙවෙයි, භික්ෂූන් වහන්සේලාත් මේ වගේ කරන්න ඕන. හැබැයි මේ කාරණය භික්ෂුණීන් වහන්සේලාට තනියෙන් කරන්න බෑ. ඒ නිසා උපසම්පදා භික්ෂූන් වහන්සේලා ඉදිරියට ගිහින් තමයි ඒක කරන්න ඕන. නමුත් භික්ෂූන් වහන්සේලාට නම් භික්ෂූන් වහන්සේලා විතරක් එකතු වෙලා ඒ කාරණය කරගන්න පුළුවන්.

**4. වස් අවසානයේ භික්ෂු භික්ෂුණී යන උභතෝ සංඝයා ඉදිරියේ වස් පාවාරණය කළ යුතුය.**

තුන් මාසයක් වස් වසල වස් අවසානයේ වස් පිංකම / වස් පාවාරණය කියල දෙයක් තියෙනවා. ඒ වස් පාවාරණය ප්‍රසිද්ධියේ තියන්න ඕන. මම මෙච්චර කාලයක් අහවල් තැන වස් විසුවා, අදින් වස් අවසානයි... ආදී වශයෙන් ඒ කාරණය උභතෝ සංඝයා ඉදිරියේ දැනුම් දෙන්න ඕන. එහෙම නැතිව ඒක තනියෙන් කරන්න බෑ.

**5. මෙහෙණිය (භික්ෂුණිය) උභතෝ සංඝයා ඉදිරියේ මානත් පිරිය යුතුය.**

උභතෝ සංඝයා කියන්නෙ භික්ෂු / භික්ෂුණී දෙකොටසටම. පොහොය කරන කොට, යම්කිසි ආකාරයකින් ඇවැත්, අඩුපාඩු සිද්ධ වෙච්ච අවස්ථා තියේ නම් ඒවාට දඬුවම් වශයෙන් පවරන යම් යම් දේවල් තියෙනවා. ඒ කියන්නෙ මේ සාසනයටම යම් යම් ඇප උපස්ථාන කරල ඒ ඇවැත්, අඩු පාඩු කමා කර ගන්න අවස්ථාව තියෙනවා. උදාහරණ විදියට විහාර මළුව අතුගාන්න කියනවා, මළුවට වැලි ගෙනත් දාන්න කියනවා, බෝධීන් වහන්සේට පැන් වත් කරන්න කියනවා, යම් කිසි විදියකින් ඇවිත් වැඳල පුදල යන්න කියනවා, එහෙම නැත්නම් මෙච්චර කාලයක් යන කල් භික්ෂූන් අතරට එන්න එපා කියනවා. මේ වගේ මොනව හරි ඒ කෙරිච්ච වරදට වන්දි ගෙවන ක්‍රම තියෙනවා. ඒව ඔක්කොම තියෙන්නෙ ඒ වැරදි නැවතත් නොකර නිවැරදි මගට ඇතුල් වෙන්න මිසක් අයහපතකට නෙවෙයි. ඒවත් වත් පිළිවෙත්වලටමයි වැටෙන්නෙ. ඒවට තමයි මානත් කියල කියන්නෙ. ඒ වගේ දේවල් එක් එක්කෙනාට පවරනවා.

**6. ශික්ෂා මානා වශයෙන් අවුරුද්දක් සිට උපසම්පදාව ලැබිය යුතුය.**

ශික්ෂා මානා කියන්නෙ ඉස්සෙල්ලම හික්මෙන කෙනෙක් හැටියට වාසය කිරීම. ඒ කියන්නෙ මුලින්ම ඒ තත්ත්වයට බැහැල දස සිල් මාතාවක් වගේ තත්වයකින් ඉන්න ඕන. එතකල් සාමණේරි කරන්නෙත් නෑ. එතකොට ශික්ෂා මානා කියන්නෙ සාමණේරි තත්ත්වයටත් වඩා පහළ අවස්ථාවක්. ඒ කියන්නෙ සුදු වතකින් සැරසිලා භික්ෂුණීන් අතර ඒ වත් පිළිවෙත් කරගෙන සිල්වතකට බැහැල ඉන්න ඕන. ඊළඟට ඒ අනුව සුදුසු නම් තමයි සාමණේරි කරන්නෙත්, උපසම්පදා කරන්නෙත්. එහෙම අනුපූර්ව යන ක්‍රමයක් තියෙනවා.

**7. භික්ෂුවට ආක්‍රෝෂ පරිභව නොකළ යුතුය.**

ඒ කියන්නෙ මේ හැම පැත්තෙන්ම අනවශ්‍ය කතාවලට ගිහින් ගැටළුකාරී තත්ත්වයක් ඇතිවීම වළක්වන්න, ඒ වගේ කතාවලට වැට බඳින්න තමයි මේ කාරණය තියෙන්නෙ. මොකද භික්ෂූන්ට වඩා භික්ෂුණීන් ප්‍රධාන වුනොත්, ඒ අයගෙ උප්පත්ති ගති ලක්ෂණය නිසාම ගැලපෙන්නෙ නැති දේවල් කර ගන්න පුළුවන්. ඒ නිසා කිසි විටකත් භික්ෂූන්ට එරෙහිව යන්න එපා කියන එක තමයි මේ පෙන්වා දුන්නෙ. ඒ කාරණයම තමයි හැම තිස්සෙම පළවෙනි කළේ. මොකද සමහර වෙලාවට ගෙදරක හිටපු ස්වාමි පුරුෂයයි, භාර්යාවයි භික්ෂු භික්ෂුණීන් වශයෙන් මහණ වෙන අවස්ථා තියෙනවා. ඒ වගේ අවස්ථාවලදි භාර්යාව වෙලා හිටපු අය අතරෙ පුරුෂයගෙ ඔළුවට අත හෝදන්න පුරුදු වෙච්ච අයත් ඉන්න පුළුවන්. ඒ කියන්නෙ පුරුෂයව අනවශ්‍ය විදියට පාලනය කරන්න යනවා, කිසි තැනක් දෙන්නෙ නෑ, වහලෙක් වගේ සලකනවා. අන්න එහෙම අවස්ථාවකදි ඒ භාර්යාව භික්ෂුණියක් වුනොත් එහෙම, අර තමන්ගෙ පුරුෂයා මහණ වුනත් භික්ෂුව කියන හැඟීම නැතිව යනවා. කිසි බයක්, ගරු සැලකිල්ලක් නැතිව යනවා. මේකා ඉස්සර මගේ මිනිහනේ කියන අන්න එහෙම අදහස් එන්න බලනවා. ඒ වගේම පරණ පුරුද්දට අවවාද කරන්න, බනින්න, අඩු පාඩු හොයන්න යන්න පුළුවන්.

දැන් මේකට සම්බන්ධ කතාවකුත් තියෙනවා. මුල් කාලෙ ස්වාමි පුරුෂයයි, භාර්යාවයි වශයෙන් හිටපු දෙන්නෙක් මහණ වුණා. ඊට පස්සෙ ඒ භික්ෂූන් වහන්සේට දානෙ බෙදන කොට අර භික්ෂුණියත් දානෙ බෙදන්න ආවා. ඒ අවස්ථාවෙදි ඒ භික්ෂූන් වහන්සේ අර භික්ෂුණියට, නැගණියනි ඉවත් වෙන්න කියල සංඥා කරල කිව්වා. එතකොට ඒ භික්ෂුණිය, ආ දැන් තමයි උඹට මම හොඳ නැති වුනේ කියල බැනල වතුර කෝප්පය අර භික්ෂූන් වහන්සේගෙ ඔළුවට හලල යන්න ගියාලු. එතකොට ඒ විදියට කිසි බයක්, ගරුත්වයක් නොතිබුනේ භික්ෂුව කියන හැඟීමක් තිබුනෙ නැති නිසා. තමන්ගෙ ගිහි කාලෙ පුරුෂයා කියන හැඟීම මහණ වෙලත් ඈර ගන්න බැරි වුණා. නමුත් ඒක ලොකු බාධාවක්. දෙන්නම මහණ වුනොත්, ඒ භික්ෂුව දකල භික්ෂුණියට ගිහි කාලෙ වගේ හැඟීමක් ඇති වෙන්න පුළුවන්, දෙවෙනි වෙන්න කැමති නෑ. අර ඉස්සර තිබිච්ච ගතිය වගේ නිකං යටත් කරන ගති ලක්ෂණ මතු වෙන්න බලනවා. භික්ෂුව කියන ගරුත්වය තියන්න හිතෙන්නෙ නැතිව යනවා. අන්න ඒ වගේ දේවල් හුඟක් සිද්ධ වෙන නිසා තමයි මේ වගේ නීතියක් පනවන්න හේතු වුණේ.

**8. භික්ෂුණිය විසින් භික්ෂුවට අවවාද නොකළ යුතුය. භික්ෂූන් භික්ෂුණීන්ට අවවාද කළ යුතුය. ඔවුන් ඒවා පිළිගත යුතුය.**

ඉහත විස්තර කරපු හත් වන කාරණයට අදාල දේවල්ම තමයි මේකටත් හේතුව. ඒ අනුසාරයෙන් මේ කාරණයත් තේරුම් ගන්න ඕන.

දැන් සමහර පින්වතුන්ට හිතෙන්න පුළුවන්, ඇයි එහෙම නීති මාලාවක් පැනෙව්වෙ කියල. බුදුන් වහන්සේ නමක් කියන්නෙ අද්විතීය උත්තමයෙක්. ඒ කියන්නෙ කාටවත් දෙවැනි නෑ. අසම සම උත්තමයෙක්. තීරණයක් ගන්නෙත්, නීතියක් දමන්නෙත්, වචනයක් මුවින් පිට කරන්නෙත් සියල්ල සියලු ආකාරයෙන් දැකල. ඉතින් ඒවායේ අඩුපාඩුවක් විවේචනයක්, එහෙම නැත්නම් ඒක මෙහෙම වුනොත් හොඳයි ඇයි ඒ වගේ අසාධාරණ නීති දැම්මෙ ආදී වශයෙන් කතා කියන්න සමතෙක් නෑ. අංගුත්තර නිකායෙ 5 වන කාණ්ඩයේ ගෝතමී වර්ගයේ එන ගෝතමී සූත්‍රයේ ඒ නීති පැනවීමට හේතු ආනන්ද හාමුදුරුවන්ට බුදුන් වහන්සේ සැලකර සිටිනවා. කාන්තාවන් පැවිදි නොවුන නම්, නිරුපද්‍රිතව කඩ කිළුටක් නැතිව අවුරුදු දහසක් පැවතෙන්න තිබුන බුද්ධ සාසනය, කාන්තාවන්ගෙ මහණ වීම නිසා අවුරුදු 500 දක්වා අඩු වුනා කියල එතැන සඳහන් වෙනවා. උන් වහන්සේ ඒකට උපමාවක් කියනවා. හරියට කාන්තාවො බොහෝ ඉන්න සහ දුර්වල පිරිමි කීප දෙනෙක් ඉන්න ගෙයකට හොරෙක් පැනල, ලේසියෙන් ඒ ගේ වනසල බඩු ටික හොරකම් කරගන්නෙ කොහොමද, අන්න ඒ වගේ මේ කාන්තාවන්ගෙ පැවිද්ද නිසා

සාසනයේ ආයුස අඩු වුණා, ඒ ඉතුරු ටිකත් රැකගන්න තමයි මේ අෂ්ඨ ගරු ධර්ම පැනෙව්වෙ කියල උන් වහන්සේ ආනන්ද හාමුදුරුවන්ට කියා සිටියා.

ඒ වගේම මේකට තවත් උපමා දෙකක් පෙන්වනවා. උපද්‍රවය සහ නිරුපද්‍රවය කියන්නෙ මොකක්ද කියල එතනින් තෝර ගන්න ඕන. උක් වගාවකදි උක් පුරුක් අතර යම්කිසි රතු පාටට එන රෝගයක් හැදෙනවා. ඒ රෝගය ආවයි කියන්නෙ උක් වගාවට උපද්‍රවයක් හට ගත්තා. ඒකෙන් උක් වගාව විනාස වෙන්න පටන් ගන්නවා. ඒ වගේම යම්කිසි ඇල් හේනක තැනින් තැන සුදු කරල් එන රෝගයක් හට ගන්නවා. ඒකෙන් ඒ වගාව විනාස වෙන්න උපද්‍රවයක් හට ගත්ත වෙනවා. ඒ උපද්‍රවය වර්ධනය වෙලා අන්තිමට වගාව විනාස වෙනවා. භික්ෂුණී සාසනය පිහිටු වීමෙන් සාසනයට උපද්‍රවයක් පැමිණීමත් මෙන්න මේ හා සමානයි කියල පෙන්වනවා. ඒ නිසා තමයි එහෙම දෙයක් හට නොගන්න කාලෙ නිරුපද්‍රිතව තියෙනව කියල කිව්වෙ. ඒ අතර කාලෙ කිළුටක් හට ගත්තම උපද්‍රවයක් හට ගත්ත කියල කියනවා. ඒ උපද්‍රවය හට ගැනීම මුල් කරගෙන ඒක වර්ධනය වෙලා භික්ෂු, භික්ෂුණීන්ගෙ සිල්වත් බව කෙලෙසෙන්න පටන් ගන්නවා. ඒක තමයි අර උක් වගාවටයි, ඇල් හේනටයි උපද්‍රවයක් / කඩ කිළුටක් ආව කියල උපමා කරල තියෙන්නෙ. මොකද උක් වගාවයි, ඇල් වගාවයි කියන්නෙ බොහොම ප්‍රණීත වගාවන් දෙකක්. ඉතින් ප්‍රණීතයට අර වගේ කඩ කිළුටක් ආව කියන්නෙ ඒ ප්‍රණීත බවට පහරක්. ඒක රොඩු බොඩු වෙලා යනවා. අන්තිමට විනාස වෙලා යනවා. නමුත් විනාස වෙලා ගිය අවස්ථාවක් නෙවෙයි මේ කියන්නෙ. විනාස වෙන්න ආරම්භයට ලෙඩේ හැදිච්ච අවස්ථාව. ඒ අවස්ථාව තැනින් තැන විතරයි දකින්න තියෙන්නෙ. හැබැයි ඒක තමයි කඩ කිළුට හෙවත් උපද්‍රවය කියන්නෙ. ඒ වගේ සාසනය නිරුපද්‍රිතව අවුරුදු දහසක් පැවතෙන්න තිබිච්ච අවස්ථාව තමයි උපද්‍රවයක් ආව නිසා ඒ නිරුපද්‍රිතව පවතින කාලය අවුරුදු පන්සියයට අඩු වුණයි කියන්නෙ. ඉතින් මෙන්න මේ නිසා කෙතට වැටක් බැන්ද වගේ භික්ෂුණී සාසනය පිහිටුවන කොට නීති මාලාවක් දාන්න හේතුව බුදුන් වහන්සේ පැහැදිලි කරල තියෙනවා. ඒ, සාසනයට සිද්ධ වෙන හානිය අවම කර ගන්න.

මේ විදියට බුදුන් වහන්සේ විසින් කරන යම් යම් පැනවීම්වලට උපමාවක් තියෙනවා. ඒ තමයි **සුව වෙන අසනීප තියෙන නිසා, සුව වෙන / සුව නොවෙන සියල්ලන්ටම වෙදකම් කරනව වගේ කියල. මොකද 100% කටම සුව වෙන්නෙ නැති වුනාට, සුව වෙන රෝගීන් ඉන්න නිසාම සුව වෙන / නොවෙන සියළු රෝගීන්ටම පොදුවේ වෛද්‍යවරු වෙදකම් කරනවා.** බුදුන් වහන්සේ නීති පනවන්නෙත් එහෙමයි. එතකොට යම්කිසි විදියකින් වරද්දන අය ඉන්න නිසා, වරද්දන / නොවරද්දන දෙගොල්ලන්ටම පොදුවේ පනවනවා. උදාහරණ විදියට රහත් මෙහෙණියකගෙන් බරපතල වරදක් සිද්ධ නොවුනත්, අනිත් භික්ෂුණීන්ගෙන් එහෙම දේවල් වෙන්න පුළුවන් නිසා සියළු භික්ෂුණීන්ට යම් නීති මාලාවක් පනවනවා. එහෙම නොවුනොත් කොටසකට විතරක් පැනෙව්වා, අපිට ඕව අදාළ නෑ කියල ඒකත් වැරදියට තේරුම් ගන්න පුළුවන්.



මොකද රහත් වුණත් සමහරවිට වාසනා කෙලෙස් හෙවත් සසර පුරුදු නිසා (විශේෂයෙන් භික්ෂුණියක් නම් අර කියපු ස්ත්‍රී ගති ලක්ෂණය නිසා) වැරදි සිද්ධ වෙන්න පුළුවන්. ඒ නිසාම තමයි සියල්ලටම පනවන්නෙ.

දැන් මේ සසර පුරුදු ගත්තම පිළින්දවච්ච මහ රහතන් වහන්සේට තිබිච්ච සසර පුරුද්ද නිසා පාරෙ යන මිනිස්සුන්ටත් වසලය කියල තමයි කතා කළේ. නමුත් ඒක මාන්නයකින්, ද්වේශයකින් කරපු කතාවක් නෙවෙයි. පෙර ගැල් නායකයෙක් වෙලා කරපු කතා නිසා සසර පුරුද්දට ආපු වාසනා ක්ලේශයක්. ඒ වගේ කාන්තා පක්ෂය අරිහත්වයට පත් වුනත්, ඒ ස්ත්‍රී ගති ලක්ෂණ සසර පුරුද්දට මතු වෙලා එන්න පුළුවන්. නමුත් පුරුෂ පක්ෂය වගේ නෙවෙයි, ස්ත්‍රීන්ගෙ ඒ ස්ත්‍රී ගති ලක්ෂණ පොදුවේ හැම ස්ත්‍රියකටම තියෙනවා. රහත් වුනත් සමහර ගති ලක්ෂණ යන්නෙ නෑ. හැබැයි රහත් මෙහෙණින් වහන්සේලාට එන්නෙ අහංකාරකමක් නෙවෙයි. මොකද දස සංයෝජන ධර්ම බිඳිල තියෙන නිසා ඒ වගේ දෙයක් එන්න විදියක් නෑ. එතකොට මේ ස්ත්‍රී පුරුද්ද හෙවත් ගති ලක්ෂණය සියළු ස්ත්‍රීන්ට පොදු නිසා තමයි විශේෂයෙන් අෂ්ට ගරු ධර්ම කියල කොටසක් භික්ෂුණීන් වහන්සේලාට පැනෙව්වෙ.

දැන් මේ කාරණය පැහැදිලි වෙන තැනක් තියෙනවා. මුලින්ම ප්‍රජාපතී ගෝතමී තෙරණිය මේ අෂ්ට ගරු ධර්ම මල් මාලාවක් වගේ හිස් මුදුනින් පිළිගත්තත්, පසු කාලෙක "උපසම්පදාවෙන් වර්ෂ 100 ක් ගත වුවත් භික්ෂුණිය එදින උපසම්පදාව ලැබූ භික්ෂුවකට වැඳුම් පිදුම් ආදී ගරු සැළකිලි කළ යුතුයි" කියන කාරණය ඉවත් කරන්න කියල බුදුන් වහන්සේගෙන් ඉල්ලා සිටි බවත් සඳහන් වෙනවා. එතකොට බුදුන් වහන්සේ ඒ ඉල්ලීම ප්‍රතික්ෂේප කළා. ඒ කියන්නෙ රහත් වෙලත් ඒ ස්ත්‍රී ගති ලක්ෂණ තියෙන නිසා තමයි මුලින් හිස් මුදුනින් පිළි අරගෙන, පස්සෙ මොනවහරි අඩුපාඩුවක් හිතට ඇවිත් ඒ වගේ ඉල්ලීමක් කළේ. එතකොට රහත් මෙහෙණියකගෙත් එහෙම පුංචි හරි ස්ත්‍රී ගති ලක්ෂණයක් මතු වෙලා එන්න පුළුවන්නම්, ඊට මෙහා ඉන්න අයගෙ ඊට වඩා වැරදි අඩුපාඩු තියෙන්න පුළුවන්. කිසිම මග ඵලයකට පත් නොවූ භික්ෂුණීන්ගෙ ඊටත් වැඩිය ඒ ගති ලක්ෂණ තියෙන්න පුළුවන්.

කොහොම හරි මොන ක්‍රමයකින් හරි ඒ බුද්ධ වචනය සනාථ කරමින් බුද්ධ වර්ෂ 500 ක් ඉක්ම ගිය පසු සාසනයේ පළවෙනි භේදය ඇති වුණා. ඒ තමයි මහා විහාර වාසී භික්ෂූන් වහන්සේලාගෙන් කොටසක වෙන් වෙලා අභයගිරියට ගිහින් තනියම පොහොය කරන්න පටන් ගැනීම. හරියටම ඔය කියන බුද්ධ වර්ෂ 500 කින් පස්සෙ තමයි ඒ පළවෙනි කඩ කිළුට ඇති වුණේ. ඒක භික්ෂුණී සාසනය ආරම්භ කිරීම නිසාම සිදුවුනයි කියනව නෙවෙයි, නමුත් මොන ක්‍රමයකට හරි බුද්ධ වචනය සනාථ වෙමින් භික්ෂූන් වහන්සේලා අතර භේදයක් හට ගත්තා.

දැන් කෙනෙකුට තවත් ගැටළුවක් එන්න පුළුවන්, කල්ප ලක්ෂ ගණනින් පාරමිතා පුරපු අසූ මහා ශ්‍රාවිකාවන් පවා ඉඳෙද්දි, භික්ෂුණී සාසනය පිහිටුවීම කියන කාරණය නිසාම බුද්ධ සාසනයේ ආයුස අඩු වෙන්නෙ ඇයි කියල. නමුත් මේ අසූ

මහා ශ්‍රාවිකාවන්ගෙ කාලය අවුරුදු 100 ක් 120 ක් විතර යන කොට ඉවරයි. ඒ නිසා අසූ මහා ශ්‍රාවිකාවො වැඩ ඉන්න කාලෙට බලපාන දෙයක් නෙවෙයි මේ කියන්නෙ. ඊට පස්සෙ අනාගතයෙ මහණ වෙන්න එන භික්ෂුණීන් නිසා තමයි මේ ගැටළුව ඇති වෙන්නෙ. එතකොට ඉස්සර තිබ්බ්ච ප්‍රතිපත්ති මාලාව ක්‍රමයෙන් ලිහිල් වෙලා පෙර වැඩ හිටපු භික්ෂුණීන්ට තිබ්බ්ච උත්සාහය වීර්ය පසු කාලීනව එන අයට අඩු වෙනවා. ඒක සාසනයේ හැටියක්. එහෙම ප්‍රතිපත්ති පිරීම, උත්සාහය වීර්ය අඩු වෙන කාලෙ වෙන කොට ඒ අයට විස භාග අරමුණු තමයි නිතර නිතර එන්නෙ. ඒ කියන්නෙ පැවිදි වුනත් ස්ත්‍රීන්ට පුරුෂයන්, පුරුෂයන්ට ස්ත්‍රීන් සම්බන්ධය, ලෙන්ගතු බව ඇති වෙන්න හේතු වෙනවා. පුරුෂ පක්ෂය විතරක් මහණ වෙලා ඉන්නව නම් ඒ අයට නිතර නිතර ස්ත්‍රීන් දකින්න ලැබෙන්නෙ නෑ. නමුත් දෙගොල්ලොම මහණ වුනාම භික්ෂු භික්ෂුණී දෙපිරිසම නිතරම වගේ මුණ ගැහෙනවා, කතා බහ කරනවා. එතකොට **ස්ත්‍රියකගෙ රූපය, ශබ්දය, ගන්ධය, රසය, ස්පර්ශය තරම් පිරිමියෙකුට මන බඳින දෙයක් තවත් නෑ, ඒ වගේම ස්ත්‍රියකටත් පිරිමියෙකුගෙ රූපය, ශබ්දය, ගන්ධය, රසය, ස්පර්ශය තරම් මන බඳින දෙයක් තවත් නෑ කියල බුදුන් වහන්සේ දේශනා කරනවා.** ඒක තමයි ලෝක ස්වභාවය. ඉතින් මහණ වුනත් ඒ ගති ලක්ෂණය තියෙනවා. (අනාගාමී ඵලයෙන් ඉහළ ඉන්න අයට හැර) ඒ නිසා මේ දෙගොල්ලොම එකට මුණ ගැහෙන කොට මෙන්න මේ විස භාග දෙක එකට එකතු වෙච්ච අවස්ථාවක් උදා වෙන්න පුළුවන්.

නමුත් මුලින් අසූ මහා ශ්‍රාවක ශ්‍රාවිකාවන් වහන්සේලා ඇතුළු රහතන් වහන්සේලා, රහත් මෙහෙණින් වහන්සේලා වැඩ ඉන්න කාලෙ එහෙම ගැටළුවක් නෑ. මොකද ඒ අය විශේෂයෙන්ම ඒ වෙනුවෙන් පාරමිතා පුරාගෙන ඇවිත් නිවනින් සසර කෙළවර කරපු උදවිය. ඒ නිසා තමයි මුල් අවුරුදු 500 ක් ගත වෙන කල් සාසනය නිරුපද්‍රිතව තියෙනව කිව්වෙ. ඉතින් මහා ඥානවන්ත සිවුපිළිසිඹියාපත් මහ රහතන් වහන්සේලා, රහත් මෙහෙණින් වහන්සේලා වැඩ ඉන්න කාලෙ වෙන කොට ඒ කාරණය මුල් කර ගෙන භික්ෂු භික්ෂුණීන් අතර සංවරත්වය ඉතා ඉහළින් තිබුණා. මොකද උන් වහන්සේලාගෙ ශක්තියෙන් බලයෙන් ඒ කාරණය පාලනය වෙනවා. එතකොට අවුරුදු 1000 ක් නිරුපද්‍රිතව පවතින්න තිබ්බ්ච බුද්ධ සාසනය අවුරුදු 500 දක්වා අඩු වෙන්න හේතුව තමයි පසු කාලීනව එන භික්ෂු භික්ෂුණීන්ගෙ හැසිරීම. මොකද කාලයක් යන කොට මගඵලවලට පත් නොවෙච්ච අය තමයි බොහෝ කොටම ඉන්නෙ. පසු කාලීනව සාසනය ව්‍යාප්ත වෙන කොට ලාභ, කීර්ති, ප්‍රසංසා දකල මහණ වෙන අයත් ඉන්නවා. ඉතින් ලාභ, කීර්ති, ප්‍රසංසා මේ දෙගොල්ලන්ම බලාපොරොත්තු වෙනවා. එතකොට තමයි මේ ගැටළුව විශේෂයෙන් මතු වෙන්නෙ.

ඔය අතර අන්‍ය පරිබ්‍රාජක පරපුරකුත් ඉන්නවා. ඒ අය මොකද කරන්නෙ, දැන් අපිට මේව කරල හරි යන්නෙ නෑ, අපිට දැන් මිනිස්සුන්ගෙන් ලාභ කීර්ති ප්‍රසංසා ලැබෙන්නෙ නෑ, ඇණුම් බැනුම් තමයි ලැබෙන්නෙ, භික්ෂු භික්ෂුණීන්ට නම් හොඳට ලාභ කීර්ති ප්‍රසංසා, වැඳුම් පිදුම් ලැබෙනවා, ඒ නිසා අපිත් ගිහින් මහණ වෙමු කියල අර ලාභ ප්‍රයෝජන බලාගෙන මහණ වෙනවා. නමුත් ඒ වුනාට අර පරිබ්‍රාජක වෙලා හිටපු කාලෙ කරපු දූෂ්‍ය වැඩත් ඊළඟට ඇදිල එනවා. මොකද ඒ කාලෙත් පරිබ්‍රාජකයො වෙලා ඉඳෙද්දි එකට එකතු වෙලා කරපු නොහොබිනා වැඩ ඒ අය ළඟ බොහෝ කොටම තියෙනවා. ඉතින් ඒ ස්ත්‍රී පුරුෂ අන්‍ය පරිබ්‍රාජක දෙකොටසම සාසනයට ඇතුල් වෙලා මහණ වුනාම, ඒ අයගෙ තිබ්බ්ච අර පැරණි ගති ලක්ෂණ මතු වෙන්න පටන් ගන්නවා. එතකොට ඒ එකතුවීම වැඩිවීම නිසා දූෂණයත් ක්‍රමයෙන් වැඩි වෙනවා. ඒ දූෂණය පසු කාලෙක වළක්වන්න බැරිව යනවා. ඊට පස්සෙ ඒ දූෂිත බව භික්ෂු භික්ෂුණීන් අතර සාමාන්‍ය දෙයක් බවට පත් වෙනවා. ඒකෙන් සාසනය කඩ කිළුටු වෙනවා.

ඒ වගේම භික්ෂුණ් වහන්සේලා සාමාන්‍යයෙන් වැඩ ඉන්නකොට භික්ෂුණීන්ගෙ සම්බන්ධයක් නැතිව ඉන්ද්‍රිය සංවරත්වය තිබුණත්, අර විදියට භික්ෂුණීන් වහන්සේලාගෙ ප්‍රශ්න විසඳන්න ගියාම යම්කිසි ආකාරයකින් ඒ අය දිහා බැලෙනවා, කටහඬ ඇහෙනවා. එහෙම සම්බන්ධයක් එනවා. ඉතිං කොච්චර හික්මවාගෙන හිටියත් සමහරවිට කෙලෙස් ප්‍රහීන නොකරපු භික්ෂුණ් වහන්සේලාට ඒ හැඟීම් මතුවෙන්න පුළුවන්. නමුත් හැඟීම්වලට ඇවැත් නෑ. ඇවැත් නැති නිසා දෙසන්න දෙයකුත් නෑ. හැබැයි හැඟීම් ඇතිවෙන්න පටන් ගත්තයි කියන්නෙ, කවද හරි ඒකම ඇවැත්වලට වැටෙන්න හේතුකාරකයක් වෙනවා. එතකොට සාසනය කෙරෙහි තියෙන චිත්ත ප්‍රසාදය කඩ කිළුටු වෙන්න හේතු වෙනවා. මොකද සිතිවිලිවලට ඇවැත් පනවල පාලනය කරන්න බෑ. ඒ නිසා තමයි ඒ කඩ කිළුට ඈත් කරල තියන්න අර වගේ නීති මාලාවක් පැනෙව්වෙ. නමුත් හිතට ආපු හැඟීම් ඉවත් කරන්න බැරිව ගියොත්, නිතර නිතර පේන්න ගත්තොත් හිතට ආහාර ලැබෙනවා. එතකොට ඒකට ඇවැත් පනවන්න බැරි වුණත් කඩ කිළුටක් වෙනවා.

ඉතින් භික්ෂු / භික්ෂුණීන් වෙන වෙනම හිටියත් අර වගේ සොයා බැලීම් කරන්න ගිහින් සම්බන්ධ වෙනකොට, සුද්ධ මානසිකත්වය වෙනස් වුණාම සාසනයට තියෙන ශ්‍රද්ධාව, භක්තිය, විනය කෙරෙහි ඇති ප්‍රියමනාපය නැති වෙන්න බලනවා. ඒ කියන්නෙ හික්මෙන්න ප්‍රියමනාපයක් නැතිව යනවා. උදාහරණ විදියට සමහර තැන්වලදි සමහර භික්ෂුණ් වහන්සේලා, භික්ෂුණීන් වහන්සේලාගෙ ආරාමවලට වැඩල බොහෝ වෙලා කතා කර කර හිටපු අවස්ථා තියෙනවා. එහෙම ඕනෑවටත් වඩා කතා කරද්දි ධර්මධර විනයධර අනෙක් භික්ෂුණ් වහන්සේලා ඒක හොඳ නෑ කියල අවවාද කළාම, භික්ෂුණීන් ඒ අවවාද දීපු භික්ෂුණ් වහන්සේලාට විරුද්ධව නැඟී හිටපු, අපවාද කරපු අවස්ථා ගැන විනය පිටකයේ සඳහන් වෙනවා. ''එහෙම කියන්න හොඳ නැනෙ!'' මේ වගේ වක්‍ර අදහස් එනවා. එතකොට ඒකෙන් පැහැදිලිව පේනවා, අර වගේ නීති පනවල තියෙද්දිත් භික්ෂුණ් ඇසුරට භික්ෂුණීන් ප්‍රිය කරල තියෙන බව. ඒ වගේම ආනන්ද හාමුදුරුවන්ට විශේෂයෙන් ඇළුම් කරපු මෙත්තියා කියන මෙහෙණක් ගැන සඳහන් වෙනවා. ඒ මෙහෙණ ආනන්ද හාමුදුරුවො බණ කියන්න වඩිනවට හරි කැමතියි. නමුත් මහා කාශ්‍යප හාමුදුරුවො වඩිනවට අකමැතියි. එහෙම වැඩපු සමහර වෙලාවට උන්වහන්සේට අපවාද කරලත් තියෙනවා. එහෙම කරල අන්තිමට ඒ මෙහෙණ සාසනයෙන් ගිලිහුණා කියලත් සඳහන් වෙනවා.

මේ කාරණා බුදුන් වහන්සේ තුන් කල් නුවණින් දකල තමයි මුලින්ම භික්ෂුණී සාසනය පිහිටුවන්න කරපු ඉල්ලීම ප්‍රතික්ෂේප කළේ. ඒ වගේ දේවල්වලින් සාසනයට වෙන හානිය අවම කර ගන්න තමයි අර වගේ අෂ්ට ගරු ධර්ම කියල කොටසක් පැනෙව්වෙ.

ඉතින් ආනන්ද හාමුදුරුවො මහා ප්‍රජාපතී දේවිය ළඟට ගිහින්, මෙන්න මේ අෂ්ට ගරු ධර්ම පිළිගන්නව නම් පමණක් බුදුන් වහන්සේ පැවිද්ද දෙන්න එකඟ වුනා කියල කියා සිටියා. එතකොට මහා ප්‍රජාපතී දේවිය මල් මාලාවක් සතුටින් ගෙලෙහි දාගන්නව වගේ ඒ අෂ්ට ගරු ධර්ම හිස් මුදුනින් පිළිඅරගෙන, බුද්ධ සාසනයේ පළමු භික්ෂුණීන් වහන්සේ විදියට පැවිද්ද ලැබුවා.

මේ මහා ප්‍රජාපතී තෙරණින් වහන්සේ ඉතාම ඥානවන්තයි. එතුමිය දවසක් බුදුන් වහන්සේ ඉදිරියට ඇවිත් මෙහෙම කියනවා. ''ස්වාමීනි, දැනටමත් ඔබ වහන්සේ දේශනා කරන ධර්මයට එක එක්කෙනා එක එක ජාතියේ අර්ථ කථන දෙනවා. දැන් අපට ගැටළුවක් ආවොත් ඔබ වහන්සේ ජීවමානව වැඩ ඉන්න නිසා ඒව

විසඳගන්න පුළුවන්. නමුත් අනාගතයේ පහළ වෙන මිනිස්සුන්ට එහෙම අහගන්න කෙනෙකුත් නෑ. ඉතින් ඒ ධර්මය ඔබ වහන්සේ දේශනා කරපු ධර්මයමයි කියල ඒ අය තෝර ගන්නෙ කොහොමද?'' ඉතාම කාලෝචිත ප්‍රශ්නයක්. ඒ වගේම අද ඒ ප්‍රශ්නය ඇත්තටම ඇති වෙලා තියෙනවා. කෙනෙක් කියනවා, මේ හාමුදුරුවො කියන බණ නම් හරි හොඳයි ඒත් අර හාමුදුරුවො කියන බණ පිළිගන්න බෑ කියල. තව කෙනෙක් ඒකෙ අනෙක් පැත්ත කියනවා. පැවිදි බිමට ඇතුල් වෙච්ච සමහර ස්වාමීන් වහන්සේලාත් කියනවා, මමයි රහත් මම හැර මේ ධර්මය විග්‍රහ කරන්න කෙනෙක් නෑ කියල. ඉතින් බණ අහන උදවිය හැම තැනම දුවන්න ඕන බුදු බණක් අහන්න. එකම පවුලෙ දෙන්නෙක් තැන් දෙකකට ගියොත්, ගේ ඇතුලෙත් ගාලගෝට්ටියක් එහේ හොඳයි මෙහේ හොඳ නෑ කියල.

ඉතින් මහා ප්‍රජාපතී තෙරණින් වහන්සේට බුදුන් වහන්සේ දුන්න පිළිතුර තමයි, යම් දහමක් ඇසුරු කරන කොට තමන්ට වැටහෙනව නම්, මේ දහම අහපු නිසා මගේ රාගය ක්ෂය වුනා, එහෙම නැත්නම් ද්වේශය ක්ෂය වුනා, මෝහය ක්ෂය වුනා කියල, අන්න ඒක නියම බුද්ධ වචනය කියල ගන්න. මේක තුන් කල් නුවණින් දැකල දුන්න පිළිතුරක්. මෙතනින් වැදගත් දෙයක් අපට දැන ගන්න පුළුවන්. ඒ කියන්නෙ ධර්මය තුළ තියෙන සංදිට්ඨික ගුණය. තමන් තුලින්ම දැන ගන්න කියල කිව්වෙ. අරයා කිව්වා, මෙයා කිව්වා කියන කතාවක් නෙවෙයි. කාගෙන්වත් ගිහින් අහන්න ඕන නෑ. කාන්තාවක් නම් මන වඩන පිරිමි කෙනෙක් දැක්කොත් එහෙම, නැත්නම් පිරිමියෙක් නම් මන වඩන කාන්තාවක් දැක්කොත් එහෙම ඇති වෙන රාගය ගැන කාගෙන්වත් අහන්න ඕන නෑ. තමන්ටම තේරෙනවා, මට මේ තැනැත්තා හෝ තැනැත්තිය කෙරෙහි රාගයක් ඇති වුනා කියල. ඉතින් ඒ වගේ යම් බණක්, ධර්ම කතාවක් අහල රාගය ක්ෂය වුනා කියල කාගෙන්වත් අහන්න ඕනද? තමන්ටම ඒක වැටහෙනවා. හරියට උපමාවක් කියනව නම්, බඩගින්නක් ආපු වෙලාවට බඩ පිරෙන්න බත් පිඟානක් කෑවම, අපි ගිහින් කාගෙන්වත් අහන්නෙ නෑ මගේ බඩගින්න නිවුනද කියල. මොකද ඒක තමන්ටම වැටහෙන දෙයක්. බොරුවට බඩගින්න නිවුන කියල රඟපෑවොත් මොකද වෙන්නෙ? පිට අයට මොන රඟපෑම් කළත් තමන් බඩේ ගින්දරෙන් පිච්චි පිච්චි ඉන්නව කියල ඒ කාරණයත් තමන්ටම වැටහෙනවා.

ඒ වගේ තමයි රාග ගින්නත්, ද්වේශ ගින්නත්, මෝහ ගින්නත්. පිච්චීම, පෙළීම තමන්ටම වැටහෙනවා. එකපාරටම නිවුනෙ නැති වුනත්, ටික ටික නිවෙන කොට තමන්ටම වැටහෙනවා. ''අනේ මේ බණ අහන්න කලින් මට හරියට තරහ යනවා, දැන් තරහ නොයනවා නෙවෙයි, ඒත් හරිම අඩුයි. ඒ කියන්නෙ මම නියම බුද්ධ දේශනාවක් අහල තියෙන්නෙ. මම බොරුවට රඟපානවත් නෙවෙයි, ඇත්තටම මට තරහ යනව අඩුයි. අනේ මගේ මේ පොදිය කියල බඳාගන්න තියෙන උවමනාවත් අඩුයි.'' මෙන්න මේ අඩුවීමට කියනව ක්ෂය වෙනව කියල. ඒ කියන්නෙ නැතිවෙනව නෙවෙයි, ක්‍රමයෙන් ටික ටික අඩුවෙනවා. ඒ අඩුවීම ටික ටික වෙන්නත් පුළුවන්, ඉක්මනට වෙන්නත් පුළුවන්. තම තමන්ගෙ ඉන්ද්‍රිය නානත්වය අනුව තමයි ඒ වේගය තීරණය වෙන්නෙ. කොහොම හරි කාලයත් එක්ක අඩු වෙනවා. ඒ අඩු වුන ටිකෙන් එන සැනසීමක්, නිවීමක් තියෙනවා. අන්න ඒ නිසා තමයි කිව්වෙ රාගක්ඛයෝ නිබ්බානං (රාගය අඩුවීම නිසා, ඒ අඩු වුන කොටස නිසා ඇති වුන සැනසීම) ද්වේශක්ඛයෝ නිබ්බානං (ද්වේශය අඩුවීම නිසා ඇති වුන සැනසීම) මෝහක්ඛයෝ නිබ්බානං (මෝහය අඩුවීම නිසා ඇති වුන සැනසීම) කියල.

ඒ විදියට ගිහින් සියලු රාගය ක්ෂය වුනාම, සියලු ද්වේශය ක්ෂය වුනාම, සියලු මෝහය ක්ෂය වුනාම කළ යුතු සියල්ල කරල හමාරයි, බ්‍රහ්ම චරියාව පූර්ණ කළා කියනවා. ඉතින් ඒ ඒ අඩු වුන ප්‍රමාණය නිසා දැනෙන සැනසීම සිහි කර කර ඊළඟ පියවර තියන්න පුළුවන්. ඒක තනියම කරගන්න පුළුවන් කියන්නෙ තමන් අහල තියෙන ධර්මයේ අඩු පාඩු නෑ. මොන ස්වාමීන් වහන්සේගෙන් බණ ඇහුවත් අහල තියෙන්නෙ නියම බුදු බණ. ඒ ගැන සැක සංකා කිසිවක් නෑ. ටික ටික ධර්මාවබෝධය ලැබෙන කොට, ඒ වගේම ප්‍රඥා ඉන්ද්‍රිය බලවත් කෙනෙකුට, දහම් රසය නිසා මේ අහන දහම් බුදු බණමද කියල දැන ගන්න තවත් ක්‍රම දෙකක් තියෙනවා. ඒ තමයි සූත්‍රයට බහා බැලීම සහ ධර්මයට බහා බැලීම. ඊට අමතරව විනයට සැසඳීම කියන තුන්වැනි ලේසිම ක්‍රමය තමයි මහා ප්‍රජාපතී ගෝතමී තෙරණින් වහන්සේට සැලකර සිටියෙ.

මොකක්ද මේ සූත්‍රයට බහා බැලීම කියන්නෙ? ධර්මයට (හෙවත් චක්‍රයට) බහා බැලීම කියන්නෙ? අද තියෙන මතයක් තමයි, ඒ කිව්ව දහම සූත්‍ර පිටකයේ තියෙනවද කියල බලන්න ඕන කියල. සූත්‍ර පිටකයේ නැත්නම් කෙලින්ම අයින් කරල දානවා. එතකොට ප්‍රශ්නයක් එනවා, සූත්‍ර සේරම පටන් ගන්නෙ ''ඒවං මේ සුතං'' කියල. ඒ කියන්නෙ මා අසා දැනගත් පරිදි කියල. එතකොට ඒව කොහාටද දාල බලන්නෙ? අනෙක් පැත්ත තමයි බුදුන් වහන්සේගෙන් පටන් ගෙන පසු කාලීනව ආර්ය උතුමෙක්ගෙන් ධර්මය අහගත්තට පස්සෙ ශ්‍රාවක ඥානයට ගෝචර දහම, ඒ ශ්‍රාවකයන් වහන්සේගෙ ඉන්ද්‍රිය ප්‍රබලත්වය අනුව උන් වහන්සේ විසින් දේශනා කළාම ඒක සූත්‍ර පිටකයේ තියෙන්න පුළුවන්ද? එහෙම නැති වුනා කියල ඒක කෙලින්ම අයින් කරන්න පුළුවන්ද? ඒ නිසා තමයි බුදුන් වහන්සේ ඉහත ක්‍රම දේශනා කළේ. කවුරු කිව්වත් එක පාරටම පිළිගන්නත් එපා, එක පාරටම අයින් කරන්නත් එපා, සූත්‍රයට දාල බලන්න, එහෙම ගැලපෙනව නම් කෙලින්ම අරගන්න, නැත්නම් කෙලින්ම ඉවත් කරන්න. එතකොට මොකද්ද මේ සූත්‍රය? චක්‍රය?

මේ කාරණය උදාහරණයකින් පැහැදිලි කරගත්තොත්, පාසල් ළමුන් පාවිච්චි කරන අභ්‍යාස පොත්වල පිටුපස ගණිත වගුවක් තියෙනවා. ඒකට කියනව චක්කරය කියල. ඒකෙ ක්‍රම රටාවක් කියල තියෙනවා. දෙවරක් එක දෙකයි, දෙවරක් දෙක හතරයි ... ආදී වශයෙන් දෙකේ ඉඳන් දොළහට යනකල් චක්කරයක් තියෙනවා. එතකොට දෙවරක් චක්කරය ගත්තම පොතේ තියෙන්නෙ දෙවරක් දොළහට යනකල් විතරයි. නමුත් අර චක්කරේ ක්‍රම රටාව තෝරගන්න ඒ ටික හොඳටම ප්‍රමාණවත්. ආ මේකයි මේ ක්‍රම රටාව, මම දැනගත්ත දෙවරක් චක්කරේ තෝරන ක්‍රමය කියල තේරුම් ගන්න ඒ ටික හොඳටම ප්‍රමාණවත්. දැන් මේ චක්කරේ දන්න කෙනාට දෙවරක් පන්දාහ කීයද කියල ඇහුවොත් කියන්න බැරිද? දෙවරක් ලක්ෂය කීයද කියල ඇහුවොත් කියන්න බැරිද? දෙවරක් කෝටිය කීයද කියල ඇහුවොත් කියන්න බැරිද? ලේසියෙන්ම පුළුවන්. හැබැයි ඒක අර පොතේ නෑ කියල, වැරදියි කියල ඉවත දාන්න පුළුවන්ද?

ඒ වගේම මෙතනදි සූත්‍රයයි, චක්‍රයයි කියල දෙකක් තියෙනවා. උදාහරණ විදියට යම්කිසි වෘත්තයක අරය 22/7 න් වැඩි කරල ඒක 2 න් වැඩි කළාම $(2\pi r)$ ඒ වෘත්තයේ පරිධිය හෙවත් වටප්‍රමාණය ලැබෙනවා. ඒක සූත්‍රයක්. ඒකට තමයි ගණිතයේදි සමීකරණය කියල කියන්නෙත්. එතකොට අර කලින් $2 \times 1 = 2$ .. ආදී වශයෙන් ගණන් හදන ක්‍රමවේදය තමයි චක්‍රය කියන්නෙ. මේ සූත්‍රයයි, චක්‍රයයි කියන්නෙ ක්‍රම 2 ක්. ඉතින් ඒ වගේ බුදු දහම තෝරන සූත්‍රය මොකක්ද? චක්‍රය මොකක්ද? ලොවුතුරා බුදුන් වහන්සේ ලොව පහළ වෙලා කරපු මංගල ධර්ම දේශනාවෙදිම මේ සූත්‍රයත්, චක්‍රයත් ලොවට පෙන්වා දුන්නා. ඒ කියන්නෙ,

ඉදං බෝ පන භික්ඛවේ, දුක්ඛං අරියසච්චං. ජාතිපි දුක්ඛා ජරාපි දුක්ඛා ව්‍යාධිපි දුක්ඛෝ මරණම්පි දුක්ඛං අප්පියේහි සම්පයෝගෝ දුක්ඛෝ පියේහි විප්පයෝගෝ දුක්ඛෝ යම්පිච්ඡං න ලභති තම්පි දුක්ඛං සංඛිත්තේන

පඤ්චුපාදානක්ඛන්ධා දුක්ඛා. ඉදං ඛෝ පන භික්ඛවේ, දුක්ඛසමුදයෝ අරියසච්චං. යායං තණ්හා පෝනෝභවිකා නන්දිරාගසහගතා තත්‍ර තත්‍රාභිනන්දිනී, සෙය්‍යථීදං කාම තණ්හා භව තණ්හා විභව තණ්හා. ඉදං ඛෝ පන භික්ඛවේ, දුක්ඛ නිරෝධෝ අරියසච්චං. යෝ තස්සායේව තණ්හාය අසේසවිරාගනිරෝධෝ චාගෝ පටිනිස්සග්ගෝ මුත්ති අනාලයෝ. ඉදං ඛෝ පන භික්ඛවේ, දුක්ඛ නිරෝධ ගාමිනී පටිපදා අරිය සච්චං. අයමේව අරියෝ අට්ඨංගිකෝ මග්ගෝ, සෙය්‍යථීදං සම්මා දිට්ඨි සම්මා සංකප්පෝ සම්මා වාචා සම්මා කම්මන්තෝ සම්මා ආජීවෝ සම්මා වායාමෝ සම්මා සති සම්මා සමාධි.

ලෝක සත්වයා විඳින අනන්ත දුක් කඳත්, ඒ දුක් කඳ විඳින්න හේතුවත්, ඒ දුක් කඳ නිරෝධ කිරීම හෙවත් දුක් කඳට හේතුව නිරෝධ කිරීමත්, ඒ හේතුව නිරෝධ කරන මාර්ගයත් යන ක්‍රම රටාව පෙන්නුවා. මෙන්න මේකයි සූත්‍රය. ඒ අනුව චතුරාර්ය සත්‍යයට බහා බැලීම තමයි සූත්‍රයට බහා බැලීම කියන්නෙ. පද අප්‍රමාණ, ව්‍යංජන අප්‍රමාණ, බෙදීම් අප්‍රමාණ චතුරාර්ය සත්‍යය ඒ ඒ කෙනාගෙ ඉන්ද්‍රිය නානත්වය අනුව, අබෝධ කරගන්න ක්‍රමය අනුව ඊළඟ පරම්පරාවට දේශනා කරනවා. කොච්චර අප්‍රමාණ ක්‍රම තිබුනත් ලැබෙන නිවන් අවබෝධය එකයි. ඒ නිසා තමයි සෝවාන් පුද්ගලයො 100 ක් ගත්තත් ලැබෙන මූලික අවබෝධයේ වෙනසක් නැත්තෙ. ඒ කියන්නෙ ඒ සියයගෙම ඵල සිත් සමානයි. නමුත් ඥාන සිත් විවිධ වෙන්න පුළුවන්. ඒ වගේම අරිහතුන් වහන්සේලා 100 ක් ගත්තත් ලැබෙන මූලික අවබෝධයේ වෙනසක් නෑ. ඒ ඵලය ලබන හැම කෙනාගෙම මූලික අවබෝධය එකයි. ඉතින් ඒ සූත්‍රයට නොගැලපුණොත්, කෙලින්ම බුදු බණ නෙවෙයි කියල අයින් කරන්න පුළුවන්.

අනෙක් ක්‍රමය තමයි ධර්මයට බහා බැලීම. ඒක තමයි චක්‍රය කියල කිව්වෙ. මොකක්ද මේ ධර්මයට බහා බැලීම කියන්නෙ? ලෝකයේ කිසි කලක වෙනස් නොවෙන ධර්ම නියමයක් තියෙනවා. ඒ කියන්නෙ යම් කිසි හටගත්ත දෙයක් තියෙනවද, ඒ හටගත්ත දේ කවදා හෝ කැඩිල බිඳිල විනාස වෙලා යනවා. හටගත්ත දෙයක් නම් ඒක අනිවාර්යයෙන්ම ජාතියක් විය යුතුයි. ඒ ජාතියේ ජරා, මරණ තමයි විනාස වීම කියන්නෙ. ඉතින් ජාතියක් ඇති වෙන ආකාරය සහ එහි අග ජරා, මරණ විස්තර කෙරෙන එකම ධර්මතාවයයි තියෙන්නෙ. ඒ ධර්මතාවයට කියනව පටිච්ච සමුප්පාද චක්‍රය කියල. යම් දහම් කොටසක් පටිච්ච සමුප්පාද චක්‍රයට බහා හිටින්නෙ නැත්නම් කවුරු කිව්වත් කෙලින්ම අයින් කරන්න පුළුවන්. එතනදි සමුදය චක්‍රය සහ නිරෝධ චක්‍රය කියල දෙකක් තියෙනවා. ඒ දෙකටම බහා හිටින්නත් ඕන.

දැන් එතකොට සූත්‍රයයි, චක්‍රයයි කියල දෙකක් තියෙනවා. අපිට යමක් දුක ගෙන දෙනව නම් ඒ දුකට හේතුව මොකක්ද? ඒක නිරෝධ කරන්නෙ කොහොමද? ඒ නිරෝධ කරන ක්‍රමය මොකක්ද? මේ තමයි සූත්‍රය. ඒකට තමයි චතුරාර්ය සත්‍යය කියන්නෙ. උදාහරණ විදියට ජරා මරණ කියන්නෙ මොනවද? ජරා මරණවලට හේතුව මොකක්ද? ජරා මරණ නිරෝධය මොකක්ද? ඒ නිරෝධ කරන ක්‍රමවේදය මොකක්ද? මේ තමයි ජරා මරණ සූත්‍රය. ඒ වගේම ජාතිය කියන්නෙ මොකක්ද? ජාති සමුදය (හට ගැනීම) මොකක්ද? ජාති නිරෝධය මොකක්ද? ජාති නිරෝධ කරන ක්‍රමවේදය මොකක්ද? මේ තමයි ජාති පිළිබඳ ආර්ය විනයේ පෙන්වන සූත්‍රය. මේ විදියට සම්පූර්ණ න්‍යාය ධර්මය බලාගන්න පුළුවන්. එතකොට ඒක ඇත්ත වශයෙන්ම බුදුන් වහන්සේ දේශනා කළාද නැද්ද කියල පරීක්ෂා කරන්න දෙයක් නෑ. මොකද සූත්‍රය කියන්නෙ වැටහෙන දෙයක්. ඒක සම්පූර්ණයෙන් ඥාන ගෝචරයි. ඒ වගේම පටිච්ච සමුප්පාද චක්‍රයක් තියෙනවා. අවිද්‍යා ප්‍රත්‍යයෙන් සංඛාර වේ, සංඛාර ප්‍රත්‍යයෙන් විඤ්ඤාණ වේ ... ආදී වශයෙන් කියන්නෙ ඒ චක්‍රය. ඒ චක්‍රයත් ඥාන ගෝචරයි. ඒ කියන්නෙ මූලික බුද්ධ දේශනාවෙන් ආරම්භ කරල දුන්නට පස්සෙ ශ්‍රාවකයන්ට ඥාන ගෝචරයි.

එතකොට සූත්‍රය කියන්නෙ චතුරාර්ය සත්‍යයට බහා බලන ක්‍රමය. ඒ නිසා තමයි යම් දහමක් චතුරාර්ය සත්‍යය නමැති සූත්‍රයට බහා බලන්න කියන්නෙ. ඒ වගේම පටිච්ච සමුප්පාදය නමැති ධර්මයට බහා බලන්න කියනවා. ඒ තමයි චක්‍රය. චක්‍රයෙන් කරන්නෙ යමක ක්‍රම රටාව පැහැදිලි කිරීම. සූත්‍රයෙන් කරන්නෙ අපිට යමකින් බේරෙන්න තියෙන ක්‍රමය හොයා ගැනීම. ඒ වගේම විනයට සසඳන්න කියල කියනවා. ඒ තමයි රාග විනය, ද්වේශ විනය, මෝහ විනය. ඒක තමයි අවසන් ප්‍රතිඵලය විය යුත්තෙ. මේ ක්‍රම 3 න් තමයි නිවැරදි ක්‍රමය හොයා ගන්නෙ.

දැන් මුලින් සඳහන් කරපු ආකාරයට මහා ප්‍රාතිහාර්ය පෑ මහා ප්‍රජාපතී ගෝතමී රහත් තෙරණිය අවුරුදු 120 ක් ආයු වළඳල එතුමිය සමග තවත් පන්සීයක් රහත් තෙරණියන් එකම දවසේ පිරිනිවන් පෑවා.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු සමග අපදාන පාලිය 1 - ගෝතමීස්ථවිරාවදානය දානය ඇසුරින් සකස් කළේ:*

**ෆික්රි ඉස්මයිල්**
පරිගණක ඉංජිනේරු - ගොතටුව

# නිවනට වදන්

**පෙළෙන දුක්ඛ දුක්ඛයට තාවකාලිකව පිළියම් කරන වැඩ පිළිවෙල සංඛාර දුක්ඛයයි. තාවකාලික ලෙස පෙළීම සමනය වීමයි සුව ස්වභාවයෙන් වැටහෙන්නේ.**

**අවිදුව නිසා මීට සුවය යැයි ලෝ සත රැවටේ. මේ කියන මුලා සුවය හැර යථාර්ථවත් සුවයක් ලෝකය තුළ නැත.**

**එබැවින් බුදු වදන වනුයේ "තපෝ ගුණය හැර, බොජ්ජංග ධර්ම හැර, නිවන හැර ලෝ සතුන්ට තවත් සුවයක් මම නොදකිමි" යන්නයි.**

**සියල්ලෝම නිවන් සුවම ලබත්වා!**

**- වහරක අභයරතනාලංකාර හිමි -**

# ධම්ම පදය තුලින් නිවන් මග

**1 වන කොටස**

ආනන්ද මහ රහතන් වහන්සේ ඇතුළු මහ රහතන් වහන්සේලා විසින් සංඝායනා කිරීමෙන් පසුව, අද වෙන කොට ශ්‍රී මුඛ බුද්ධ දේශනාව ත්‍රිපිටකය නමින් පොත් පෙළක සටහන් කරල තියෙනවා. මේ පොත් පෙළත් කොටස් තුනකට බෙදල තියෙනවා. ඒ තමයි සූත්‍ර පිටකය, අභිධර්ම පිටකය සහ විනය පිටකය. බුදුන් වහන්සේ විසින් ඒ ඒ කාරණා යටතේ පුද්ගලයන් අනුව කරපු දේශනා සූත්‍ර පිටකයෙත්, අති ගාම්භීර වූ ගැඹුරු දේශනා අභිධර්ම පිටකයෙත්, අවසාන වශයෙන් විනය කාරණා විනය පිටකය තුලත් අඩංගු කරල තියෙනවා. ඒ වගේම පින්වතුන් විසින් නිතරම භාවිතා කරන කොටස තමයි සූත්‍ර පිටකය. මේ සූත්‍ර පිටකයත් දීඝ නිකාය (ඉතාම දීර්ඝ සූත්‍ර අඩංගු), මජ්ජිම නිකාය (මධ්‍යම මට්ටමේ සූත්‍ර අඩංගු), සංයුක්ත නිකාය (යම් කිසි දහම් කොටස් කැටිකරල එකතු කරල පෙන්වපු සූත්‍ර), අංගුත්තර නිකාය (උත්තරීතර අංග හෙවත් නිවන ප්‍රධාන කරගත්තු කාරණා පෙන්වන සූත්‍ර), ඛුද්දක නිකාය (කුඩා කොටස්, පුංචි ගාථාවල් එකතු කරල සකස් කළ සූත්‍ර) වශයෙන් කොටස් පහකට බෙදෙනවා.

මෙයිනුත් විශාලම පොත තමයි දීඝ නිකාය කියන්නෙ. ඒ වගේම ඛුද්දක නිකාය තුල ඛුද්දක පාඨ පාළි, ධම්ම පද පාළි, උදාන පාළි (නිවන් අවබෝධ කළාට පස්සෙ යම් කිසි චිත්ත ප්‍රසාදයක් ප්‍රකාශ කරන ගාථා), ඉතිවුත්තක පාළි (මේ කාරණය මෙසේ වේ, මේක මෙහෙමයි වෙන්නෙ ආදී වශයෙන් පෙන්වපු තැන්), සුත්ත (සූත්‍ර) නිපාත පාළි (සාරාංශ කළ දහම් කොටස්), විමාන වත්ථු පාළි (දේව, ප්‍රේත කොටස් ආදීන්ට විමාන පහළ වෙච්ච අවස්ථා), පේත වත්ථු පාළි (ප්‍රේත බවට පත් වෙන්න හේතු වෙච්ච කාරණා, එසේ වූ හැටි), ථේර ථේරි ගාථා පාළි (භික්ෂූන් / භික්ෂුණීන් අරිහත්වයට පත් වුනාම තමන් අතීතයේ නිවන් මග ආරම්භ කරපු සිද්ධි මුල් කර ගෙන ඒ ඒ අවස්ථා, ඵල ලබපු හැටි හෙවත් පුද්ගලික ස්වභාවය දක්වන ගාථා), අපදාන පාළි, බුද්ධවංස පාළි (පෙරුම් පුරන කාලයේ බුදුන් වහන්සේ පිළිබඳ මූලික සිද්ධි), චරියා පිටක පාළි (බුදුන් වහන්සේගෙ බුද්ධ චරියාව, බුද්ධ චරිතය පිළිබඳ කරපු විග්‍රහයන්), ජාතක පාළි (බුදුන් වහන්සේගෙ පෙර අත්බැව් මුල් කරගත්තු සිද්ධි), මහා නිද්දේස පාළි (යම් කිසි විදියකින් විනය ශික්ෂා පද, මහා විස්තර සහිතව විග්‍රහ කරපු අවස්ථා), චූළ නිද්දේස පාළි (කුඩාවට විස්තර කරපු අවස්ථා), පටිසම්භිදා මග්ග පාළි (ප්‍රඥාව මුල් කර ගත්තු නිවන් මග පෙන්වන අවස්ථා), නෙත්ති ප්‍රකරණ පාළි (නිවනින් කෙළවර කිරීමට අවශ්‍ය කරන්නා වූ කාරණා විග්‍රහය), පෙටකෝපදේස පාළි (පූර්ව උපදෙස් හෙවත් යම් කිසි ගමන් මගක් සකස් කර ගන්න මුලින්ම දැන ගත යුතු කරුණු) වශයෙන් කොටස් තියෙනවා. මේවායින් දැන් මේ කතා කරන්න යන්නෙ ධම්ම පද පාළි කියන කොටස ගැන.

මේ ධම්ම පදයත් වර්ග 26 කට බෙදල තියෙනවා. මේ වර්ග 26 තුල, ඒ ඒ වර්ගයට ගැලපෙන ගාථා 423 ක් තියෙනවා. මේ ගාථා කියන කොටස අයිති වෙන්නෙ නවාංග සාස්තෘ සාසනයට.



නවාංග කියන්නෙ අංග නවයකින් යුක්තයි කියන එක. සුත්ත, ගෙය්‍ය (ගායනා ශෛලියෙන් කියන්න පුළුවන් කොටස් උදාහරණ : ඒවං මේ සුතං ...), වෙය්‍යාකරණ (යමක යම් කිසි ස්වභාවයක් මෙන්න මේ ආකාරයි කියල විස්තර කරල දීම), ගාථා (හතර පද කොටස්), උදාන, ඉතිවුත්තක, ජාතක, අබ්භූත ධම්ම (යම්කිසි ආකාරයක ආශ්චර්ය පෙන්වන සෘද්ධි, අභිඥා, දිවැස්, දිවකන් ගැන සඳහන් වෙන කොටස්), වේදල්ල (වේදය හෙවත් විද්‍යාව හෙවත් ත්‍රිවිද්‍යාව අලලා කළ කථා) යන අංග නවයට තමයි නවාංග ශාස්තෘ සාසනය කියන්නෙ. මෙයින් ගාථා කියන කොටසට තමයි ධම්ම පදය අයිති වෙන්නෙ.

බොහෝ විට බුදුන් වහන්සේ යම් සිද්ධියක් මුල් කරගෙන ඒකට හේතු වෙච්ච අතීත සිද්ධිය විස්තර කරල ගාථාවක් කියල නිශ්ශබ්ද වෙනවා. මේ වගේ ගාථා එකතුවකට තමයි ධම්ම පදය කියන්නෙ. උදාහරණයක් විදිහට චක්ඛුපාල තෙරුන් අරහයා උන්වහන්සේගේ ඇස් අන්ධ වෙන්න හේතුව දේශනා කළ ගාථාවකින් තමයි ධම්ම පදය පටන් ගන්නෙ. ඒ ගාථාව බොහෝ පින්වතුන්ට නිතර අහල පුරුදු ගාථාවක්.

**මනෝ පුබ්බංගමා ධම්මා**
**- මනෝ සෙට්ඨා මනෝමයා**
**මනසා චේ පදුට්ඨේන**
**- භාසති වා කරෝති වා**
**තතෝ නං දුක්ඛමන්වේති**
**- චක්කංව වහතෝ පදං**

සරල සිංහල තේරුම මේ විදිහට ගන්න පුළුවන්,

**සිත, සිතිවිලිවලට පෙරටු වේ. සිත, සිතිවිලිවලට ශ්‍රේෂ්ඨ වේ. සිතිවිලි සිතින්ම උපදී. එසේ නම් යමෙක් කිලිටි සිතින් යමක් කරයි නම් හෝ කියයි නම් ඒ හේතුවෙන්, ගොනාගේ පය අනුව යන කරත්ත රෝදය මෙන් දුක ඔහු පසු පස ලුහු බඳී.**

ඉතින් මේ වගේ කෙටි ගාථාවලින් ඉතාම දිගු දහම් කරුණක් වටහා ගන්න, අවබෝධ කරගන්න පුළුවන්. මේ ගාථාව තේරුම් ගන්න, ගාථාවෙ තේරුම වගේම ඊට මුල් වෙච්ච කතාවත් වැදගත් වෙනවා. සමහර තැන්වලදි බුදුන් වහන්සේ ඒ ගාථාවට පෙර, ඒ සිද්ධියට මුල් වෙච්ච තැනැත්තා, ඒ කියන්නෙ ඉහත උදාහරණයට අනුව චක්ඛුපාල තෙරුන් වහන්සේගෙ ඇස් අන්ධ වෙන්න පෙර අත්බැවේ කරපු අකුසලය, ඒක ඵල දුන් ආකාරය ආදී සියල්ල විග්‍රහ කරල තමයි මේ සරල කෙටි ගාථාව දේශනා කරන්නෙ. දැන් මේ ආකාරයට ධම්ම පදයේ තියෙන කොටස් වෙන් වෙන් වශයෙන් අරගෙන බැලුවොත්,

**1. යමක වග්ගය** - පොදුවේ හොඳ සහ නරක යන යුගලය මේ කොටසින් විග්‍රහ කරනවා. උදාහරණයක් විදියට වෛර කරන්නාට සිදුවන විපාක වගේම වෛර නොකරන්නාට සිදුවෙන විපාකත් විග්‍රහ කරල තියෙනවා.

**2. අප්පමාද වග්ගය** - නිවන් කරා යන බෞද්ධයා අප්‍රමාදී විය යුතු

ආකාරයත්, එහි ඇති වටිනාකමත් මේ කොටසේ තියෙන ගාථාවලින් මැනවින් විග්‍රහ වෙනවා.

**3. චිත්ත වග්ගය** - මේ කොටසින් සිතේ ස්වභාවය ගැන මැනවින් විග්‍රහ කරනවා. සිතක් සැලෙන ආකාරය, නිවන් කරා අරමුණු කරන ආකාරය කෙටි ගාථාවලින් විස්තර කෙරෙනවා. ඒ වගේම රහත් උතුමන්ගෙ සිත් ගැන පවා මේ ගාථාවල විස්තර කෙරෙනවා.

**4. පුප්ඵ වග්ගය** - මල්, මල් මාලා, මල් කරුවන් උපමා වශයෙන් යොදා ගෙන විග්‍රහ කරන ගාථා පෙළක් තමයි මේ කොටසට ඇතුලත් කරල තියෙන්නෙ.

**5. බාල වග්ගය** - අනුවණ වැඩක් කරන්න ගිහින් සසර දිගු කරගන්න ආකාරයත්, ඔහු හෝ ඇය කරන කියන අනුවණ දේවල් නිසා විපාක විඳින ආකාරයත් උදාහරණ උපමා සහිතව මේ කොටස තුල විග්‍රහ කරල තියෙනවා.

**6. පණ්ඩිත වග්ගය** - නුවණැත්තන් හැසිරෙන ආකාරයත්, ඒ උතුමන් ඒ තත්වයට පත්වෙන ආකාරයත් මේ කොටසේ ගාථාවල විස්තර කරල තියෙනවා.

**7. අරහන්ත වග්ගය** - අරිහත් උතුමන්ගෙ නිවීමත්, උන්වහන්සේලා නිවන කරා ගිය ගමන සම්පූර්ණත්වයෙන් ලැබෙන ශාන්තියත් මේ කොටසේ ගාථා පෙළෙන් විග්‍රහ වෙනවා.

**8. සහස්ස වග්ගය** - දහස යන අර්ථය ඇතිව යම් දෙයක් සන්සන්දනය කිරීමෙන් දහම් විග්‍රහ කරන ආකාරයක් තමයි මේ කොටසෙ තියෙන්නෙ. උදාහරණ - තේරුමක් නැති වචන දහසක් කතා කරනවාට වඩා එක අර්ථවත් වචනයක් කතා කිරීම වටී.

**9. පාප වග්ගය** - තුන් දොරින් පවු කරන්න ගිහින් කරගත්ත විපාක සම්බන්ධව මේ ගාථා පෙලෙන් විස්තර කරනවා.

**10. දණ්ඩ වග්ගය** - දඬුවම, අර්ථය ඇති උපමාවලින් විග්‍රහ කෙරෙනවා. උදාහරණ - සියලු සත්වයෝ දඬුවමට බයයි, මරණයට බයයි. සියල්ලෝම ජීවිතයට ප්‍රියයි. ඒ නිසා තමා උපමා කරගෙන සත්වයන්ට හිංසා කිරීමෙන් වළකින්න. සිය + අල්ලෝ- සියල්ලෝ -මමත්වයෙන් අල්ලා ගත්තු අය. මමත්වයෙන් අල්ලගත්තු ද්‍රව්‍ය වස්තු - සියල්ල. ඒ නිසා රහතන් වහන්සේලා මේ කියන අවස්ථාවට අයිති වෙන්නෙ නෑ. නමුත් ඒ ඒ අවස්ථාවට අදාලව සමහර තැන්වල සබ්බේ අරියා, සබ්බේ අනරියා, සබ්බේ දේවා ... ආදී වශයෙන් සඳහන් කරන්නෙ, ඒ අවස්ථාවෙ ඊට අයිති වෙන හැම දෙනාම හඳුන්වන්න. උදාහරණ විදියට සබ්බේ අරියා කිව්වම රහතන් වහන්සේලා ඇතුළු ආර්ය භාවයට පත් වෙච්ච හැම දෙනාම අයිතියි.

**11. ජරා වග්ගය** - මහළු වීම, දිරාපත් වීම ආදී කරුණු මේ ගාථා පෙලෙන් විග්‍රහ කෙරෙනවා.

**12. අත්ත වග්ගය** - තමා උපමා කර ගෙන යමක් කරන කියන ආකාරය මේ ගාථා පෙලෙන් විස්තර කරල තියෙනවා. උදාහරණ - තමා හට තමාම පිහිට වන්නේය. තමා හැර අන් කවරෙක් තම හට පිහිටවන්නේ ද?

**13. ලෝක වග්ගය** - මෙලොව පරලොව යනාදී වශයෙන් අපි අල්ල ගෙන ඉන්න ලෝකය පිළිබඳ විග්‍රහ කරන ගාථා පෙළක් මේ කොටසට ඇතුලත් කරල තියෙනවා.

**14. බුද්ධ වග්ගය** - බුද්ධත්වය කියන මාතෘකාව යටතේ මේ කොටසේ ඇති ගාථාවන් පෙළ ගස්වා තියෙනවා. සම්මා සම්බුදුවරයෙක් කියල හඳුවන්නෙ කවුද, ඒ සම්බෝධිය ප්‍රාර්ථනා කරන අය කළ යුත්තේ කුමක්ද ආදී කරුණු විග්‍රහ කරල තියෙනවා.

**15. සුඛ වග්ගය** - රාග, ද්වේශ, මෝහ ගිනි ස්වභාවයත්, නිවනේ සැනසීමත්, සුවයත් විග්‍රහ කරන ගාථා පෙලක් මේ කොටසට ඇතුලත් කරල තියෙනවා. ඒ වගේම පින් දහම් කරන අය විඳින ලෞකික සුවයත් විග්‍රහ කරල තියෙනවා.

**16. පිය වග්ගය** - කෙනෙක් ප්‍රිය කරන දේවල්, අප්‍රිය කරන දේවල්, ඒ වගේම ප්‍රිය කරන පුද්ගලයන්, අප්‍රිය කරන පුද්ගලයන් උපමා කරල පෙළ ගස්වා තියෙන ගාථා මේ කොටසේ අඩංගු වෙනවා.

**17. කෝධ වග්ගය** - ක්‍රෝධය, මානය ආදී සිත සසරට බැඳ දමන කාරණා ගැන මේ කොටසේ තියෙන ගාථාවල විස්තර කරල තියෙනවා.

**18. මල වග්ගය** - යකඩයක මල බැඳීම ඒ යකඩය දිරාපත් වීමට හේතු වේ. එසේම රාගය, ද්වේශය, මෝහය නමැති මලෙන් සත්වයා ජරා මරණයට පත් වෙන සසර ගමනට හේතු වේ. මේ ආකාරයේ උපමා සහිතව තියෙන ගාථා පෙලක් මේ කොටසේ විග්‍රහ කරල තියෙනවා.

**19. ධම්මට්ඨ වග්ගය** - සත් දහම අහල, ඒ දහම දරා ගන්නා ආකාරය, ධර්මස්ථ වන ආකාරය මේ කොටසේ ගාථා පෙළින් විස්තර කරල තියෙනවා.

**20. මග්ග වග්ගය** - නිවන් මාර්ගය හෙවත් ආර්ය අෂ්ඨාංගික මාර්ගය විග්‍රහ කරන ගාථා පෙළක් මේ කොටසට ඇතුලත් කරල තියෙනවා.

**21. ප්‍රකීණ්නක වග්ගය** - වක්‍ර අන්දමින්, ව්‍යංගාර්ථයෙන් නැතිව ප්‍රකෘති තත්ත්වයෙන්ම අර්ථය පෙන්වන ගාථා, එහෙම නැත්නම් පියවි තත්ත්වයෙන්ම, ඇත්ත ඇති හැටියෙන්ම යථාර්ථය මේකයි කියල පෙන්වන ගාථා පෙළක් මේ කොටසේ අඩංගු වෙනවා.

**22. නිරය වග්ගය** - නොයෙක් පාප කර්මවල යෙදී සිටින සත්වයාට ඒ කර්ම හේතුවෙන් නිරය උරුම වෙන හැටි විග්‍රහ කරපු ගාථා පෙළක් මේ කොටසට ඇතුලත් වෙනවා.

**23. නාග වග්ගය** - ඇතෙක් උපමා කරල දේශනා කරපු ගාථා පෙලක් මේ කොටසෙ ඇතුලත් වෙනවා.

**24. තණ්හා වග්ගය** - තණ්හාව නැඟී ආ විට ඒ තුලින් තමාම විනාස වෙන හැටි සහ තණ්හාවේ ඇති භයානකකම මේ ගාථා පෙළින් විග්‍රහ කරල තියෙනවා.

**25. භික්ඛු වග්ගය** - භික්ෂූන් වහන්සේලාගේ ගුණ , භික්ෂූත්වය ආදී කරුණු, ඊට අදාල සිද්ධි ඇසුරින් විග්‍රහ කරල තියෙනවා.

**26. බ්‍රාහ්මණ වග්ගය** - ආර්ය විනයේ බ්‍රාහ්මණයෙක් කියන්නෙ කවරෙක්ද, ගුණ මොනවද කියල මේ කොටසේ ගාථාවලින් විග්‍රහ කරල තියෙනවා.

දැන් පැහැදිලි වෙනවා, ධම්ම පදය කියන්නෙ මොකක්ද කියල. නුවණින් විමසල බැලුවොත් මුළු ත්‍රිපිටකයම සාරාංශ කරල කෙටි ගාථාවලින් විග්‍රහ කරල තියෙන කොටසක් විදියට හඳුන්වන්න පුළුවන්. සූත්‍ර පිටකයේ කොටස්, අභිධර්ම පිටකයේ කොටස් සහ විනය පිටකයේ කොටස් පවා ඇතුලත් වෙලා තියෙන බව තේරුම් ගන්න පුළුවන්. මේ එක එක කොටසේ (වර්ගයේ) තියෙන ගාථා නිවනට යොදා ගන්නා ආකාරය ඊළඟ කලාපයේ සිට බලාපොරොත්තු වන්න.

*වෑරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු සමග ධම්මපද පාළිය ඇසුරින් සකස් කළේ:*

**ෆික්රි ඉස්මයිල්**
පරිගණක ඉංජිනේරු - ගොතටුව

# පෙළීම නිසා එන දුක් ගින්න

බුදු පියාණන් වහන්සේ කියන ශ්‍රේෂ්ඨ විද්‍යාඥයා ලෝකය ප්‍රඥාවෙන් දැනගෙන, දිවැසින් දැකගෙන යම් දහමක් ලෝකයාගේ හිත සුව පිණිස දේශනා කළා. නමුත් ඒ දහම පිළිගන්නවට වඩා, නවීන යන්ත්‍ර සූත්‍ර යොදා ගෙන හොයල බලල දැනගන්න, දැකගන්න දේ පිළිගන්න තමයි අද ලෝකයා වැඩියෙන්ම කැමති. නමුත් මේ ලෝක සම්මත විද්‍යාඥයින් කියන පිරිස, මීට වසර දෙතුන් සියයකට කලින් දැනගෙන සොයාගෙන සත්‍යයි කියපු සමහර දේවල් අද වෙන කොට අසත්‍ය වෙලා තියෙනවා. නමුත් ඒ පිළිබඳ වැඩි දුර සංවාද ඇතිවෙන්නෙ නෑ, අලුත් නිගමන ඇත්ත විදියට පිළිගන්නවා. හැබැයි බුද්ධ දේශනාවෙ වැරදි පෙන්වන්න නම් කාටවත් පුළුවන් වෙලා නෑ. සාරය, යථාර්ථය නොවැටහීම නිසා යම් යම් උදවිය අතර සංවාද ඇති වුණත්, බුද්ධ වචනයක වැරදි පෙන්වන්න පුළුවන් වෙලා නෑ.

සංයුක්ත නිකායේ 5-2 කාණ්ඩයේ 351 වෙනි පිටුවේ එන <u>මනුස්සචුති සූත්‍ර</u> දේශනාවෙ බුදු පියාණන් වහන්සේ මේ විදියට දේශනා කරල තියෙනවා. ''මහණෙනි, ඒ කිමැයි හඟිවූද (හැඟෙනවද), කිමෙක් ඉබොහෝද (ඉතා බොහෝද) ම විසින් යම් මේ පස් බිඳක් නිය සිළෙහි නගන ලද නම් එය හෝ මේ මහ පොළව හෝද'' යි? ''වහන්ස, යම් මේ මහ පොළව වේ නම් මෙයම ඉබෙහෙවි. භාග්‍යවතුන් වහන්සේ විසින් නිය සිළෙහි නගන ලද පස් බිඳ ඉතා මඳය. භාග්‍යවතුන් වහන්සේ විසින් නිය සිළෙහි නගන ලද පස් බිඳ මහ පොළව හා සැසඳීමෙහිදී ගිණුමට ද නොපැමිණේ. සැසඳුමට ද නොපැමිණේ. කලාවෙන් කලාවටද නොපැමිණේ.'' ''මහණෙනි, එසෙයින්ම යම් කෙනෙක් මිනිසුන් කෙරෙන් චුත වූවාහු, මිනිසුන් කෙරෙහි උපදිත් නම්, ඒ සත්වයෝ මඳයහ. වැළි යම් කෙනෙක් මිනිසුන් කෙරෙන් චුත වූවාහු නිරයෙහි උපදිත් නම් මේ සත්වයෝම ඉබොහෝය. ඒ කවර හෙයින් යත් මහණෙනි, සිවු අරිසස් නුදුටු බැවිනි, කවර සිවු අරිසස් ද යත් : දුක්ඛ ආර්ය සත්‍යය .... දුක්ඛ නිරෝධ ගාමිණී පටිපදා ආර්ය සත්‍යයයි. මහණෙනි, එහෙයින් මෙහිලා ''මේ දුකැයි වීයයී කටයුතු''... මේ දුක වැළකීමට පමුණුවන පිළිවෙතැයි වීයයී කටයුතුයි.

මේ විග්‍රහයේ සාරාංශය අපේ වචනවලින් පේලි දෙක තුනකින් ලියන්න පුළුවන් වුනත්, අපි මේ කියවන්නෙ බුද්ධ වචනයම සිංහලෙන් ලියපුව නේද කියල මේ කියපු කාරණයේ බරපතලකම දැනෙන්න තමයි මේ විදියට පොතින්ම උපුටා දැක්වුවෙ. ''මේ දුකැයි වීයයී කටයුතුයි.'' චතුරාර්ය සත්‍යය වටහා ගැනීමට කරන උත්සාහය වීයයී කියන වාක්‍යය කැටි කරල තමයි මේ තියෙන්නෙ. මේ වීයයී කියල පෙන්වන්නෙ සම්මා වායාමයම තමයි. එහෙනම් දුක කියන එක නිකම්ම දැනෙන දෙයක් වෙන්න බෑ. රස්සාවක් නැති දුක, විවාහයක්, ගේ දොරක්, දරුවෙක්, වාහනයක් නැති නිසා ඇති වන දුක නෙවෙයි මේ කියන්නෙ. ඒවා පෙර සසරෙදි ගොඩනගපු සංඛාරවල



විපාක දුක්.

මේ මහ පොළවෙ පස් තරම් ප්‍රමාණයක් සසඳල මිනිසුන් කෙරෙන් චුත වන අය අතරෙ බොහෝ පිරිසක් නිරයෙහි උපදින බව පෙන්වනවා. එතකොට සමහර අයට මෙහෙම හිතෙන්න පුළුවන්, ''ඇත්තටම මිනිහෙක් තිරිසනෙක් වෙන්නෙ කොහොමද? පියවි ඇසට බොහෝ දෙනෙකුට නොපෙනෙන, නමුත් සමහර පිරිස් දකින ප්‍රේත, යක්ෂ, භූත, අමනුස්ස ආදී කොටස් ඇත්තටම ඉන්නවද?'' මේ වගේ ප්‍රශ්න එන්නෙ, බුදු පියාණන් වහන්සේ ගැන, උන් වහන්සේ දෙසූ දහම ගැන, ඒ දහම පිළිපැදගෙන රැක ගෙන උතුම් ඵල ලබා ගෙන ලෝකයාට දේශනා කරන මහා සංඝ රත්නය ගැන විශ්වාසයක් නැති නිසා, සද්ධාව කියන උතුම් ධනය තමන් ළඟ නැති නිසා. මෙලොව පරලොව ගැන ඥානයෙන් දැන පවසන මහණ බමුණන් නැත යනුවෙන් සිතීමම දස වස්තුක මිස දිටුවක්. මිසදිටු අයට නිරය හෝ තිරිසන් යෝනිය මතු උපත වෙන බව බුද්ධ දේශනාවක්.

වත්මන් විදු (විද්‍යා) නිගමන අනුවත්, ශක්තිය තවත් ශක්තියකට හෝ පදාර්ථයකට පරිවර්තනය වෙනව මිසක් විනාස වෙන්නෙ නෑ කියනවා. එහෙනම් ශක්තිය ගැන ටිකක් හොයල බැලුවොත්, මිනිහෙක් තිරිසනෙක් වෙන මූල ධර්මය පැහැදිලි කර ගන්න පුළුවන්. කෙනෙකුට හිතක් පහළ නොවී වචනයක් කියන්න පුළුවන් කමක් නෑ. ලෝක සම්මතයේ කෙනෙක් අවසිහියෙන් කතා කළැයි කිව්වත්, හිතක් පහළ නොවී කතා කරන්න විදියක් නෑ. වචනයක් කිව්වොත් ඒක තව කෙනෙකුට ඇහෙන්නෙ වායුව කම්පනය වෙලා එන ශබ්ද තරංග කනේ පටලයේ ස්පර්ශ වීමෙන් ඇති වන කම්පනය නිසා. කම්පනයක් ඇති කරන්න නම් ශක්තියක් ඕන කරනවා. එහෙනම් සිතිවිලි හිතනව කියන්නෙ ශක්ති නිකුත් කිරීමක්. හිත තමයි එතනදි ශක්ති ප්‍රභවය වුනා කියල පේන්නෙ. නමුත් හිතන්න හිතක් ආවෙ නැත්නම් හිත නිදහසේ තියෙනවා. එහෙනම් හිත කිව්වෙත් සිතිවිලි හිතන හේතුවෙන් ගොඩනැගෙන හේතු ඵලයක්.

දැන් මෙයින් පෙනී යන කාරණයක් තමයි හිතෙන් ශක්තිය නිකුත් කරන්න පුළුවන් බව. ඒ වගේම වචන හැටියටත්, ක්‍රියා හැටියටත් ශක්තිය නිකුත් කරන්න පුළුවන්. පෙර සිතීමෙන්, ක්‍රියාවෙන්, වචනයෙන් හොඳ හෝ නරක ශක්ති නිකුත් කිරීමේ හේතුඵල හැටියට සකස් වුන හිත, ශරීරය උපයෝගී කර ගෙන නැවතත් හොඳ හෝ නරක ශක්ති නිකුත් කිරීම ජීවත් වෙන තුරුම නොකඩවා කරගෙන යනවා. සම්මත මරණයෙන් පස්සෙ කය ගොඩනැගුණ සතර මහා ධාතූන්ටම කය දිරාපත් වෙලා වෙන් වෙලා යනවා. ඒත් ජීවත් වෙද්දි හිත ගොඩ නගපු ශක්තීන් මොන දේකට හරි පරිවර්තනය වෙන්න ඕන. අන්න ඒ ශක්ති තමයි, ඒ ඒ ගොඩ නගපු ශක්තිවලට ගැලපෙන රූප බවට පත්වෙන්නෙ. මනුස්සයෙක් වෙලා හිතුවෙ, කිව්වෙ, කළේ තිරිසන් වැඩ නම්, ඒ තිරිසන් ගතිවලට අනුරූප ශක්ති නැවත සතර මහා ධාතූන් සමග එකතු වෙලා තිරිසන් රූපයක් ගොඩ නගනවා. දෙවියෙක් වගේ ලෝකයාට සෙත සලසන යහපත් දේ හිතුව නම්, කිව්ව නම්, කළා නම් ඒ දේව ගතිවලට අනුරූප ශක්තිවලින් දේව රූපයක් ගොඩ නගනවා. මෙයින් පැහැදිලි වෙනවා මිනිස්

වෙලා ඉපදිලා හිතල, කියල, කරල නිකුත් කරපු ශක්ති හේතුවෙන් යළි යළි නාම-රූප සකස් වෙන බව.

මැරුණට පස්සෙ කය දිරල ගියා, ආයෙ මොනවද උපදින්න ඉතුරු වෙන්නෙ, ජාන පරම්පරාව විතරයි... ආදී වශයෙන් කිව්වට හරි යන්නෙ නෑ. ජාන කිව්වෙ දරුවන් වෙලා උපදින අයට, දෙමව්පියන්ගෙන් ලැබෙනව කියන සෛලවල න්‍යෂ්ටියේ තියෙන DNA අණුවලට. වෛද්‍ය විද්‍යාව අනුව ඒ DNA අණුවල බන්ධන පිහිටල තියෙන අනුපිළිවෙල අනුව දෙමව්පියන්ගෙ සමහර ලක්ෂණ දරුවන්ට ලැබෙනව කියල කියනවා. ඒ ජාන උදව් කරගෙන ඒ අය කයක් ගොඩ නගා ගන්න බවත් කියනවා. ගතියට ගතිය ආකර්ශනය වීම හේතුවෙන් පංචකාමයන්ගේ බැඳී සිටීමට කැමැත්ත අත නොහැර, මියගියත් සසර ණය ඇති ශක්ති කයක් (කිරණ කයක්) මවු කුසට ඔක්බන්ති වෙන නිසා, දරුවො ළඟත් දෙමව්පිය ගති ලක්ෂණ තියෙන්න පුළුවන්. නමුත් හොඳින් විමසා බැලුවොත් රූප ලක්ෂණවල සමානකම් තිබුණට, දෙමව්පියන්ගෙ ගති ලක්ෂණ අහලකවත් නැති දරුවො ඕනෑ තරම් දකින්න පුළුවන්.

''ඉදං දුක්ඛන්ති, යෝගො කරණීයො......'' කිව්ව උත්සාහයෙන්, උනන්දුවෙන්, වීර්‍යයෙන් දැන ගත යුතු දුක ගැන බලමු. පටිසම්භිදා මග්ග ප්‍රකරණයේ 1 කාණ්ඩයේ 330 වෙනි පිටුවේ ''ඉධ භික්ඛු අරඤ්ඤ ගතෝවා ....'' කියන පෙළ විස්තර කරන තැන, ඉධ කියන්නෙ ''බුදුන් වහන්සේගෙ මේ (සම්මා) දෘෂ්ටියෙහි, මේ ක්ෂාන්තියෙහි, මේ රුචියෙහි, මේ ග්‍රහණයෙහි, මේ ධර්මයෙහි, මේ විනයෙහි, මේ ධර්ම විනයෙහි, මේ ප්‍රවචනයෙහි, මේ බ්‍රහ්මචරියෙහි, මේ ශාස්තෘ ශාසනයෙහි' යි එයින් කියනු ලැබේ....'' කියල සඳහන් වෙනවා. ඉදං දුක්ඛන්ති කිව්වම, මේ (සම්මා) දෘෂ්ටියෙහි.... මේ ශාස්තෘ ශාසනයෙහි විස්තර කෙරෙන දුක තමයි අපි දැනගන්න ඕන.

මජ්ජිම නිකායේ 3 වෙනි කාණ්ඩයේ එන <u>සච්ච විභංග සූත්‍රයේ</u> මෙහෙම සඳහන් වෙනවා. ''දුක්ඛය කවරේද? ඇවැත්නි, යම් කයෙහි හට ගත්තා වූ නොමිහිරි අපහසු කාරණයෙක් වේද, කය හා එක්ව ස්පර්ශ වීමෙන් උපන්නා වූ දුක් වූ කර්කෂ වූ වේදනාවක් වේද මේ කයෙහි උපන් දුක ස්වභාවයෙන්ම දුක යැයි කියනු ලැබේ.''

රෝග ගැන කිව්වම බොහෝ දෙනෙකුට හිතට එන්නෙ උණ, හෙම්බිරිස්සාව වගේ බෙහෙත්වලින් සුව කරගන්න පුළුවන් රෝග ගැන විතරයි. ඒවත් දුක තමයි. නමුත් ඒවා දුකයි කියල පෙන්වන්න බුදු කෙනෙක් පහළ වෙන්නම ඕන නෑ. ඕන කෙනෙකුට තේරෙනවා. නමුත් කවදාවත් බෙහෙත්වලින් සුව කරන්න බැරි රෝගයක් හැදුනොත් ඔබ මොකක්ද කරන්න හිතන්නෙ? මොන දෙයක් කරල හරි, අනේ මේක කොහොම හරි හොඳ කර ගන්න ඕන කියල හිතනවා. නැත්නම් මොකද වෙන්නෙ, මැරෙන්න සිද්ධ වෙනවා. ජීවිතේ ගැන මහා භයක් දැනෙනවා. අනේ ඉතින් මොනව කරන්නද කියල මහ ගින්නක්, දැවීමක්, තැවීමක් ඇති වෙනවා. ඒ වගේ වෙලාවට දෙවියන්ගෙන් හරි පිහිටක් ඉල්ලන්න හිතෙන්න පුළුවන්. දැන් තමයි බෝධි පූජා කරන්න හිතට එන වෙලාව, දෙවියන් දකින්න යන්න හිතට එන වෙලාව. මොකද මාරාන්තික රෝගයක් !

තමන් වඩාත්ම ප්‍රිය කරන රූපවාහිනී බැලීම, දූ දරුවන්ගෙ කටයුතු, මුණුබුරු මිණිබිරියො ඉන්නව නම් ඒ අයගෙ කටයුතු, රැකියා කටයුතු, ගේ දොර ඉවුම් පිහුම් කටයුතු ආදී මෙකී නොකී තමන් ආසා කරන, ආසා නොකරන සියලු කටයුතු, ඒ වගේම ''අනේ මේව නොකර කොහොමද....'' කියපු සියලු කටයුතු බාධාවක් කර නොගෙන දේව පූජා, බෝධි පූජා තියන්න, සෙත් කවි කියන්න දැන් වෙලාව සකස් කර ගන්නවා. තමන්ට හෝ තමන්ගෙ කෙනෙකුට හෝ මාරාන්තික රෝගයක් ඇති වුනොත් තමයි, කතාවටත් කියනව වගේ දෙවියො බුදුන් සිහි වෙන්නෙ. එහෙම හරි හිතට එනව නම් ඒකත් කියන්න බැරි තරම් මහා වාසනාවක්. මොකද එතනින් මේ ගමන ආරම්භ කරන්න පුළුවන් වෙන නිසා.

අපිට පිපාසයක් දැනුනොත් අපි මොනවා හෝ සුදුසු පානයකින් පිපාසය සංසිඳුව ගන්නවා. ඒ වුනාට පැයකින් දෙකකින් නැවතත් පිපාසය එනවා. හෙම්බිරිස්සාවට, උණට බෙහෙත් වගේ පිපාසයට පානයක් දීම ප්‍රතිකාර වෙනවා. පිපාසය රෝගයක් හැටියට ගණන් ගන්නෙ නැති නමුත් රෝගයක්. පිපාසයට දිය බිව්වම පිපාසය නිවුන කියනවා. නිවෙන්නෙ ගින්නක් තියෙන නිසා. එහෙනම් පිපාසය කියන්නෙ ගින්නක් කියල ගණන් ගන්නෙ නැති නමුත් ගින්නක්. පිපාසය දැනුන වෙලාවක දිය පොදක් නොලැබුනොත් මොකද වෙන්නෙ, දින ගණනක් වේදනා විඳල කය වේලිලා මැරෙන්න සිද්ධ වෙනවා. එහෙනම් මේ ගණන් නොගන්න පිපාසය කියන්නෙ මාරාන්තික රෝගයක්! මේ පිපාසය කියන රෝගයෙන් අනන්ත අප්‍රමාණ වාරයක් පෙර සංසාරෙ අපි දුක් විඳල මැරෙන්න ඇති. නමුත් දැන් ඒව මතක නෑ.

අපිට ඕනෑ තරම් බඩගිනි දැනිල ඇති. මොනව හරි කෑමට ලැබෙන නිසා, කෑමක් නොලබන්න තරම් අපි දුප්පත් නැති නිසා මේ බඩගින්න බොහොම තාවකාලිකයි. ඒකෙ ගණන් ගන්න තරම් දුකක් වේදනාවක් නෑ. හැබැයි මිනිස් වෙලා ඉපදිලා දානයක් දීල නැති, පිනක් කරල නැති අබුද්ධෝත්පාද කාලවල අනන්ත වාරයක් මිනිස් වගේම තිරිසන් වෙලා බඩගිනි රෝගයෙන් වේදනා විඳල මැරිල ඇති. නමුත් දැන් ඒව මතක නෑ. තිරිසන් ලෝකෙ සතෙකුට මිනිස් වාසයක ආරක්ෂාව නැත්නම්, කුසගිනි නිවන්න ආහාර තිබුණත් නිරතුරුව පෙළෙන ජීවිත බය නිසා ලබා ගන්න විදියක් නෑ. ඒ තමයි පොදු ස්වභාවය. කුරුල්ලෙකුට කෑම ටිකක් දීල බලන්න. පොඩ්ඩක් කාල හිස ඔසවල ආරක්ෂිතව ද ඉන්නෙ කියල හතර වටේ බලනවා. කොයි මොහොතක, මොන ආකාර සතුරෙක් ජීවිතය පැහැර ගනීද කියල බයයි. කවදාවත් කුසගිනි යන්න ආහාර ගන්න බෑ. ජීවිත බයෙන් පෙළෙනවා. කුසගින්නෙන් පෙළෙනවා. තිරිසන් ලෝකෙ සතෙකුට හැමවෙලේම මොනව හරි දාහයක් එනවා. කවද හරි තවත් සතෙකුට කොටු වෙන දවසක් එනවා. සිංහය වගේ සතෙක් මරාගෙන කන්න කවුරුවත් නෑ කියල කිව්වට, ඌ දුර්වල වුණාම අන්තිමට ඌටත් අනිත් සිංහයන්ගෙන් හරි තර්ජනයක් එනවා. සමහර සිංහයෝම එකතු වෙලා ඌ මරනවා. දුර්වල වුණාට පස්සෙ උන්ට නිදහසේ ඉන්න බෑ. මොකද සතෙකුට වුණත් කාලයක් යනකොට ඇස් පේන්නෙ නැතිව යනවා, කන් ඇහෙන්නෙ නැතිව යනවා, දත් වැටෙනවා, නියපොතු වැටෙනවා. ඊට පස්සෙ උගේ හයිහත්තිය ඉවරයි. මනුස්ස ලෝකෙ වගේ වයසට ගියාට පස්සෙ සළකන සිරිතක් තිරිසන් ලෝකෙ සතුන් අතර නෑ. එකෙක්ගෙ තියෙන දුර්වලබව දැන ගත්තොත්, අනිත් සත්තු ඌට පනිනවා, පීඩා කරනවා. උදාහරණ විදියට කොටියෙක් වුණත් හොඳටම දුර්වල වුණාම ඌරො එකතු වෙලා ඌ මරා දමන අවස්ථා තියෙනවා. මේ තමයි තිරිසන් ලෝකෙ හැටි. මිනිස් වෙලා ඉඳෙද්දි කරගත්තු අපරාධවලට වන්දි ගෙවන විදි තමයි ඒ.

යම් විදියකින් බඩගිනි වෙලා කෑමට යමක් සොයා ගන්න විදියක් නැතිව ගියොත් මොකද වෙන්නෙ? දවසින් දවසම ජීවිතය ඇදෙන්නෙ මරණය දිහාවට. එහෙනම් බඩගින්න කියන්නෙත් මාරාන්තික රෝගයක්. උණ, හෙම්බිරිස්සාවට බේත් අරගෙන හොඳ කර ගන්නව වගේ, බඩගිනි වුනාම කෑම අරගෙන කය පවත්ව ගන්නවා. නැත්නම් මේ කය මැරෙනවා.

තද දුගඳක් හමන තැනකින් යන කොට අපි නහය තදින් වහ ගන්නවා. දැන් හුස්ම ගන්න එක ලේසි නෑ. මේ කය පවත්වන්න නිරන්තරයෙන්ම අලුත් ☞

පිරිසිදු වාතය ඇතුල් කර ගන්න ඕන. කය ඇතුලෙ තියෙන අපිරිසිදු වාතය පිට කරන්න ඕන. මොහොතක්වත් විවේක නොගෙන මේ වායු සංසරණය කරන්න දරන වෙහෙස අපි ගණන් ගන්නෙ නෑ. ඒ ගැන හිතන්න යන්නෙ නෑ. ඒ වුනාට මොහොතක්වත් නතර කළොත් මරණය! මේ කයේ හට ගත්තා වූ, නොමිහිරි වූ අපහසු කාරණා කියන්නෙ මෙන්න මේ දුක්වලට. මෙබඳු කයක් නැත්නම් මේ බඩගිනි පිපාසාදී දුක් කිසිවක් නෑ.

ඇසට රූපයක් බලන්න ආසාවක් ඇති වුනොත්, ඒ රූපය දකින තුරු රාගයෙන් දැවෙනවා, තැවෙනවා, පෙළෙනවා. කැමති මිහිරි හඬක් අහන්න, කැමති සුවඳක් ආඝ්‍රාණය කරන්න, කැමති රසයක් විඳින්න, කැමති පහසක් ලබන්න ආසා හිතක් ඇති වුනොත් රාගයෙන් දැවෙනවා, තැවෙනවා, පෙළෙනවා. කය සමග එක්ව ස්පර්ශ වීමෙන් උපදින කටුක වේදනා කියන්නෙ මේවට. මේ ප්‍රිය මනාප ස්පර්ශ වගේ, අප්‍රිය අමනාප ස්පර්ශත් එනවා. නමුත් ඒවා එනවට කැමති නෑ. හැබැයි එන එක වළක්වන්න බෑ. ආවම ද්වේශයෙන් දැවෙනවා, තැවෙනවා, පෙළෙනවා. මෙබඳු පෙළීම් කොච්චර තිබුණත් මරණය ආවම වළක්වන්න බැරි නිසා මරණය සිද්ධ වෙනවා. නමුත් ජීවත් වීමේ බලාපොරොත්තුව අත හරින්නෙ නෑ. මුලින් සඳහන් කළ විදියට සිතිවිලි හිතනව කියන්නෙ ශක්ති නිකුත් කිරීමක්. එහෙනම් මේ අත් නොහැරිය බලාපොරොත්තුව නැවත කයක් ගොඩනගන්න අවශ්‍ය ශක්තිය නිකුත් කරනවා. ජීවත් වෙලා ඉඳෙද්දි හිතල, කියල, කරල ගොඩ ගහගත්තු ශක්ති මගින් ඒ ගොඩ නැගෙන කය ක්‍රියා කරනවා. මේ හේතුඵල ක්‍රියාවලිය තේරුම් නොගෙන යළි යළිත් ඉපදෙමින්, මැරෙමින් අනාත සසර ගමනක දුක් විඳිනවා.

මේ කය ක්‍රියා කරවන්න වාතය, ජලය, ආහාර අත්‍යාවශ්‍යයි. නිකම්ම කය ක්‍රියා කරල වැඩක් නෑ. දුක් විඳල මේ කය ගොඩ නගා ගත්තෙ ආස්වාද විඳින්න. වර්ණ රූප, ශබ්ද රූප, ගන්ධ රූප, රස රූප, පොට්ඨබ්බ රූප (ස්පර්ශ) කියන මේ සියලු රූප හේතුවෙන් ගොඩ නැගෙන මනෝ රූප අපි කැමති විදියට ආස්වාද ලබා දෙනවද? ආස්වාද මාත්‍රයක් දීල, ඒ ආස්වාද මාත්‍රා රැහැනක් එකතු කරල එකක් හැටියට මවාපාල අපිව මුලා කරනවා. රාගයෙන්, ද්වේශයෙන්, මෝහයෙන් අපි පෙළන එක තමයි මේ අරමුණුවලින් කරන්නෙ. බලාපොරොත්තු වෙන හැටියට ආස්වාදය නොලැබෙන කොට ඊර්ෂ්‍යාව, මානය, උඩඟුකම, මසුරුකම, දැඩි ලෝභය වගේ පාප චේතනා ඇති වෙනවා. ඒවායින් සිත කය දෙකම දාහයෙන් දැවෙනවා, තැවෙනවා. මේ තමයි සිත මුල් කරගෙන කයේ හට ගන්නා වූ නොමිහිරි අපහසු කාරණා කීපයක්.

ඒ වගේම කය තුළට ගත්තු හුස්ම පිට කරන එක මොහොතකට නවත්වන්න උත්සාහ කළොත් කොච්චර නම් දාහයක් එනවද? මොහොතක් හුස්ම ඉහළ පහළ යැවීම නතර කරල විවේකයක් ගන්න පුළුවන්ද? නැවතුනොත් මරණය! පිපාසයට ගත්ත වතුර ටික පෙරිල ගියා. දහඩිය, මුත්‍ර, කෙළ, සැරව ආදිය නියමාකාරයෙන් පිට කරගන්න බාදාවක් ඇති වුනොත් ප්‍රතිකාර ගන්න වෙනවා. ඒ හැම එකක්ම රෝග. මේ විදියට කය පෙළෙන දුක ගැන හෙළ බොදු පියුම 7 වන කලාපයේ 11 වෙනි පිටුවේ විස්තර කරල තියෙනවා. කිසිම පිළියමක් ගැන හිතන්නෙ නැතිව, සහමුලින් අමතක කරපු මාරාන්තික රෝග කොච්චර නම් තියෙනවද කියල දැන් වැටහෙනවා. ඇයි අපිට පිපාසය, බඩගින්න ඇති වෙන්නෙ? ජලයෙන්, ආහාරයෙන් පෝෂණය වෙන කයක් තියෙන නිසා. එහෙනම් මරණය දක්වා ඇදගෙන යන රෝග නිධානයක් වගේ කයක් වටිනවද? නැවත නැවත මෙබඳු කයක් හදාගෙන මම උගතෙක්, මම රූමතෙක්, මම දක්ෂයෙක් ආදී වශයෙන් කිය කියා උද්දාම වෙන්න පුළුවන්ද?

කුසගින්න කියන රෝගයට ප්‍රත්‍ය වෙන නිසා ආහාර ගන්නවා. පිපාසය කියන රෝගයට ප්‍රත්‍ය වෙන නිසා පානයන් ගන්නවා. ආහාර ගනිද්දි රසයි කියල අලුත් හිතක්, අලුත් බැඳීමක් ඇති කර ගැනීම නිසා කාලාන්තරයක් තිස්සෙ ටිකෙන් ටික රස විඳීම කියන මායාව තුළ කිඳා බැස්සා. අද වෙන කොට ආහාර අරගෙන වතුර වෙනුවට විවිධාකාර කෘතිම පානයන් බොන්නෙ ඇත්තටම පිපාසයටද? අපේ පැරණි අය ''මුන්ට දැන් මුල අමතක වෙලා ...'' කියන කියමනක් තිබුණා. මුලදි කළ උදව් උපකාර අමතක වෙලා කියන එකයි මතු පිටින් තියෙන තේරුම. නමුත් ඒකෙ ගැඹුරු අරුත තමයි, ආස්වාදයට හිත තියපු හේතුවෙන් ආදීනවය අමතක කරල කියන එක. ආස්වාදය කියන ඇම දාපු මර උගුල තමයි ආදීනවය. ඒ නිසා තමයි කෘතෝපකාරය අමතක වෙන්නෙ. ආහාරවලට ''රස'' කියන ඇම දැම්මෙ නැත්නම් මොකද වෙන්නෙ? පැය දෙක තුනකින් සා පිපාසා ඇතිවෙන එක මහ කරදරයක්, රෝගයක්, දුකක් කියන එක දැනෙනවා. එහෙනම් සසර ගමන දුකක් කියල වැටහෙනවා. දුකින් මිදෙන මගක් හොයනවා. එහෙනම් ආහාර පානවලට රස එකතු කරල තියෙන්නෙ, ජීවිතය පවත්වාගෙන යන්න ආහාර පාන අත්‍යාවශ්‍ය නිසා කියල, ඒ මට්ටමට පමණක් රස ගැන අවධානය තිබුණ නම් ඒ ටික ප්‍රමාණවත්. උදාහරණයක් හැටියට අධි රුධිර පීඩනය තියෙන අයට ලුණු අපත්‍යයි. නමුත් ලුණු නැති ආහාර ඒ අය නොකා ඉන්නවද? හැබැයි ජීවත් වෙන්න ඕන නිසා ලැබෙන සීමිත රසයෙන් සෑහීමට පත් වෙනවා. අනිත් රසාස්වාද ගැනත් මේ විදියටම හිතන්න ඕන.

අපේ පැරණි සමාජය තමන්ට දුකක්, කරදරයක්, වෙහෙසක් ආවම ඒක සංසිඳවා ගත්තෙ දහමට නැඹුරු වෙලා. මේ අදහස අපේ පැරණි ජන කවිවලින් පැහැදිලි වෙනවා.

**අපෙ අම්මා අපි සදෙනෙක් සදාලා**
**අපි සදෙනා සය පොළකට බෙදාලා**
**හකුරු ගෙනෙඤ්ඤයි පුතුනේ කියාලා**
**අම්ම ගියා නැව් කප්පර නැගීලා**

අපි සදෙනෙක් කිව්වෙ ඇස, කන, දිව, නාසය, කය, මන කියන හයට. හකුරු කිව්වෙ පංචකාම ආස්වාදයට. නැව් කප්පරක් කිව්වෙ ශරීරවලට. නැව් යන්නෙ මහ මුහුදෙ. අවිද්‍යා තණ්හා කියන අම්මා, මේ හය දෙනා බොරුවෙන් රවටල ආස්වාද දෙන්නම් කියල සංසාර සාගරේ විවිධ ශරීර ගොඩනගා ගෙන බොහෝ කාලයක් දුක් වින්දා කියන එක තමයි මේ ජන කවියෙ අදහස. ඒ වගේම ''නෙළුමක් තිබේ පිපිලා හැඩ වැඩ ගන්න....'' කියන නෙළුම් කවිය අහගෙන හිටපු භික්ෂූන් වහන්සේලා හැට නමක් අරිහත් ඵලය ලැබූ බවත් දහම් පොත්වල සඳහන් වෙනවා. ඒ පැරණි සමාජයේ අයත් දරුවන් හැදුව වැඩුවා. ගේ දොර හැදුවා. කුඹුරු ගොවිතැන්, වෙළඳාම් ආදී රැකී රක්ෂා කළා. නමුත් ඒ දහමින් බැහැර වෙලා නෙවෙයි කියන කාරණය මේවායින් පැහැදිලි වෙනවා.

වත්මන් සමාජයේ ළමයින්ට විවිධාකාර ගැටළු මතු වෙලා තියෙන්නෙ, ඒවාට වැරදි තීරණ ගන්නෙ, මේ දහමින් බැහැර වීම නිසා. පරසතුරු ආක්‍රමණ නිසා යටපත් වෙලා ගිය ඒ පිවිතුරු සමාජය යළි ගොඩ නගන්න දරු දැරියන්ට දයාවෙන් කරුණාවෙන් කියල දෙන්න ඕන. මේ හැම ගැටළුවක්ම දහම තුළින් නිරාකරණය කර ගන්න පුළුවන්. දැන් ඒ නිවැරදි දහම් මග විවර වෙලා තියෙන්නෙ. අතීත මවු පියවරුන්ගෙ ඒ යහපත් ගුණ සිහි කරල, බුදුන් දහම් සඟුන් කෙරේ විශ්වාසය තියල ත්‍රිවිධ රත්නයේ ආශිර්වාද ලබාගන්න හැටි මීට පෙරත් හෙළි කරල තියෙනවා. අතීත වැරදි, ප්‍රමාද දෝසවලට කමා කර ගෙන ආයති සංවරයේ පිහිටල දහම තුළින් සදා සැනසීම, නිවීම උදා කර ගන්න මේ හැමෝටම අවස්ථාව තියෙනවා.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**ඩබ්. ඒ. තිළිණවතී**
**විශ්‍රාමික බැංකු නිලධාරිණී**
**කඩවත**

**අභයරත්නාලංකාරය - 34**

# ගුප්ත ලොවින් ආ මහ සොහොන් දිෂ්ටිය ....

*(පසුගිය කලාපයෙන් - මාර දූවරු පිළිබඳ වර්තමාන සත්‍ය අත්දැකීමක් ...........)*



**- වහරක අභයරත්නාලංකාර හිමි**

මහ සොහොන් දිෂ්ටිය, මහසෝනා, මහ සොහොන් යකා ආදී වශයෙන් කියවෙන කතාවක් අනාදිමත් කාලයක පටන් ජන සමාජයේ පැවතුනත්, අද වෙන කොට ඒකත් නිකං සාහිත්‍ය කතාවක් විදියට තමයි හුඟක් අය විස්වාස කරන්නෙ. මොකද ඒ වටා ගෙතිච්ච භෞතික සිද්ධියට අදාල කතාව අද නවීන විද්‍යාවත් එක්ක ගලපන්න බැරි වීමත්, එවැනි කෙනෙක් පියවි ඇහැට දක්කයි කියල ඔප්පු කරන්න නොහැකි වීමත් නිසා. නමුත් හුදෙක් සංකල්පවලින් තොරව, සාහිත්‍ය කතාවකට විතරක් සීමා නොවූ මහ සොහොන් දිෂ්ටිය යනුවෙන් ගුප්ත ලෝකයේ කෙනෙක් මේ කාලෙත් ඉන්න බවට වහරක අභයරත්නාලංකාර හිමියන් ඉතා මෑත කාලයක ලබපු තවත් සත්‍ය අත්දැකීමක් තමයි මේ ඉදිරිපත් කරන්නෙ.

මේ සිද්ධිය සිද්ධ වුනේ 2013 වසරේ දිනක. ඒ කාලය මම බොහොම අසනීප අමාරුකම්වලින් පීඩා වින්ද කාලයක්. සමහර අසනීප ශරීරයට ඉවසා දරාගන්න බැරි තරම් වේදනාවක් ගෙන දුන්නා. ඒ කාලෙ ඉඳන් කවුරු හරි කට්ටඩියන් කරපු බන්ධනත් මේකට හේතු වෙලා තිබුණා. ඒ විදියට කරපු මහ සොහොන් බන්ධනයක් තිබිල තියෙනව කියල මගේ සමාධියට දර්ශනය වුණා. ඒ දර්ශනය මම නිකං ඉඳේද්දිත් පේන්න පටන් ගත්තා. ලණුවකින් කළු පාට ගුලියක් හිර කරල බැඳල තියෙනව වගේ තමයි මුලින්ම සමාධි දර්ශනයට දිස් වුණේ. මම ඉදිරියේ පැත්තකින් ඈතට වෙන්න තමයි ඒ දර්ශනය පෙනුනෙ. ඒක හිර කරල බැඳල ඈතක තියෙන විදියට පේනවා. හැබැයි ඒ මොකක්ද කියල නිකං බැලුවට හොයන්න බෑ. කපන්න බැරි වෙන්න බොහොම තදින් හිර කරල තියෙන බන්ධනයක් බව නම් පේනවා. ඔන්න ඔය වගේ අවස්ථාවක දවසක් රාත්‍රියේ තමයි මේ සිද්ධියට මම මුහුණ දුන්නෙ.

ඒ කාලෙ සමහර දවස්වලට කකුල්වල මස් පිඬු පෙරළීම හෙවත් කෙණ්ඩා පෙරළීමේ තත්ත්වයක් සාමාන්‍ය මට්ටමකින් මට තිබුණා. ඒ වගේම ඒක ටිකක් තදට තිබ්ච්ච දවස් තිබුණා. එහෙම සාමාන්‍ය විදියට තිබ්ච්ච තත්ත්වය අඩු වෙලා ගිහින් සමහර දවස්වලට ටික ටික තිබුණා. නමුත් එදා රෑ 12 ට විතර හිතාගන්නත් බැරි කෙණ්ඩ පෙරළීමක් හැදුණා. හරියට නිකං උඩ විසිවෙලා යන්න තරම් කර කියාගන්න දෙයක් නැති අවස්ථාවක්. කෑ ගැහෙන තරමටම හරි අමාරුයි. කකුල අඹරවගෙන යනවා. බොහොම අමාරුවෙන් ඉවස ගෙන ඉන්න හැදුවත් කොහොමටවත් නිදා ගෙන ඉන්න බැරි වුණා. පස්සෙ මම බොහොම අමාරුවෙන් ඇඳෙන් නැගිටල සෑහෙන වෙලාවක් යන කල් උත්සාහයකින් තමයි හිටියෙ. ඒක ඇර ගන්න බොහොම අමාරු තත්ත්වයක් තිබුණෙ. කකුල පොළවට තද වෙන කොට තමයි පොඩ්ඩක් හරි සහනයක් දැනෙන්නෙ. ඒත් නැවතත් අඹරවන්න ගන්නවා. ඔහොම විනාඩි 20 ක් විතර එක දිගටම දාඩිය වැක්කෙරීගෙන හිටියා. ඒත් මං ඒ ගැන කාටවත් කියන්න ගියේ නෑ. බොහොම අමාරුවෙන් ඉවස ගෙන ඉන්න කොට ටික ටික සමනය වුණා. ඊට පස්සෙ හිමින් සීරුවේ ගිහින් නැවත වතාවක් ඇඳේ හාන්සි වෙන්න බැලුවා. හැබැයි නිදාගන්න කකුල උස්සන්න කරන්න බයයි. ඒ කියන්නෙ තනියෙන් කකුල ඉස්සුවොත් එහෙම නැවතත් හැදෙන්න බලනවා. ඒ නිසා කකුල බොහොම නිදහසේ තියෙන්න ඕන. ඔහොම තියාගත්තත් නින්ද යන්න බයයි, නිදා ගත්තොත් නැවත හැදෙයි කියල. ඉතින් නින්ද යන්න හදන කොට නැවතත් ඇහැරිලා ඉන්නවා.

කොහොම හරි ඔහොම ඉඳල පාන්දර 5 ට විතර මම දන්නෙම නැතිව නින්ද ගිහින් නැවතත් 6 ට ඇහැරුණා. හරියටම ඇහැරිච්ච වෙලාවෙ, මට නිකං පාවෙලා ඇඟ හරි සැහැල්ලු වෙලා වගේ වෙනසක් දැනෙන්න ගත්තා. එතකොට වටපිටාවෙ මනෝ දර්ශනයත් හොඳට පැහැදිලියි. ඒත් එක්කම ඈතින් කෙනෙක් එනව පේනවා. අර කළු පාටට තිබ්ච්ච ගුලිය දැන් බලන කොට හොඳට පැහැදිලි පුද්ගලයෙක්. තනිකරම සුදු ඇඳ ගත්තු උස පුද්ගලයෙක්. ඒ පුද්ගලයගෙ ඔළුව තමයි ඈතට අර විදියට මැදින් හිර කරල බැඳල පෙනුනෙ. ස්වරූපයෙන් තනිකරම මනුස්සයෙක්ගෙ ඇඟ. ඔළුව මැදින් දිගු ලොකු රැහැනකින් බෙල්ලට බැඳල හිර කරල බැඳල තිබුණා. සාමාන්‍ය මනුස්සයෙක්ගෙ ඔළුව වගේ හතර ගුණයකටත් වඩා ඔළුව උසයි.

දැන් මේ පුද්ගලය ජීවමානව මං ඉදිරියට හෙමින් හෙමින් එන්න පටන් ගත්තා. ඒ දර්ශනය දැන් සමාධියට විතරක් නෙවෙයි, මස් ලේ ඇස් දෙකටත් පේනවා. ඔහු නිකං කෙනෙක් නෙවෙයි. දැන් මේ පුද්ගලය මම ඉන්න ඇඳේ පය පැත්තෙ ඉඳල ඇවිත්, ඒ අයින දිගේ මං ඉන්න දිහාවට එන්න පටන් ගත්තා. ඒක පැහැදිලිවම දෘෂ්‍යමානයි, ජීවමානයි. නිකං දර්ශනයක් කියන්න බෑ. මොකද මස් ලේ ඇහැටම පේනවා. එහෙම ඇවිත් අන්තිමට මං ළඟටම ආවා. මට කරන්න කියන්න කිසි දෙයක් නැති නිසා නිකං සද්ද නැතුව හිටියා. මේ පුද්ගලයගෙ අතේ අඟල් 8 ක් විතර දිග උල් පිහියක් තිබුණා. කිරණමය පිහියක් වුනත් ඒක මස් ලේ ඇහැටත් පේනවා. ඒ පිහියෙ ලේ තැවරිලා වේලිලා තිබුණෙ. ඒ කියන්නෙ කාට හරි ඇනපු සිද්ධියකට සම්බන්ධයි. ඒ පිහියත් අරගෙන තමයි දැන් මේ පුද්ගලය ඉන්නෙ. මම උඩ බලාගෙන ඒ පුද්ගලයගෙ මූණ බලන කොට සිවිලිම මට්ටමටම ඔහුගෙ ඔළුව තියෙනවා. ඒ තරම් උසයි. ඇස් දෙකත් කළු පාටට දිස්නෙ ගහන කළු බෝල වගෙයි. ඒ ඇස් දෙකත් එක එක අතට ගුලි 2 ක්

වගේ කරකවන්න පුළුවන්. ඒ විදියට කර කව කවා තමයි ඔහු ආවෙ. බොහොම ජීවමාන තත්ත්වයක්. අතින් ඇල්ලුව නම් සමහර විට අහු වෙන්නත් පුළුවන්. නමුත් ඒ වෙලාවෙ තිබ්බ අවස්ථාවෙ හැටියට අතින් අල්ලන්න හිතෙන්නෙ නෑ. වෙන කරන්න දේකුත් නැති නිසා මං සද්ද නැතිව නිහඬවම හිටියා. හැබැයි ළඟට ආවට පස්සෙ මම හිතුවෙ මේ පිහිය ගෙනාවෙ ඒකාන්තයෙන්ම අනින්න තමයි කියල. නමුත් ඇන්නෙ නෑ. එහෙම ඇවිත් මගේ පපුව දිහා බලාගෙන හිටියා. දැන් ඔහු මං දිහා බලාගෙන ඉන්නවා. මමත් මේ පුද්ගලයගෙ මූණ දිහා බැලුවා. ''මැරිලද කියල බැලුවෙ!'' මේ පුද්ගලය ඒ විදියට මගේ මස් ලේ කන්වලට ඇහෙන්නම කතා කළා. ඒ කියන්නෙ ඔහුගෙ දර්ශනය මස් ලේ ඇහැටත් පෙනුණා, ඒ වගේම කට හඬ මස් ලේ කනටත් ඇහුණා. හැබැයි ඔහු අර විදියට කියල නැවතිලා හිටියෙ නෑ, යන්න ගියා.

දැන් මේ විදියට මේ දර්ශනය පේනකොටත් එක්තරා ක්‍රමයක් තියෙනවා. අපේ මේ මස් ලේ කයයි, මනෝමය කයයි දෙක එකට තියෙන කොට ඉන්ද්‍රියට ඉන්ද්‍රිය බද්ධයි. ඒ කියන්නෙ මස් ලේ ඇහැට පේන වෙලාවෙදි, මනෝමය ඇහැයි මස් ලේ ඇහැයි දෙකම එකට සම්බන්ධයි. නමුත් මේ මස් ලේ ඇහැට පේන්නෙ මනෝමය ඇහැ ආධාර කරගෙන. මස් ලේ ඇහැ නිකං ද්වාරයක් විතරයි. හැබැයි ශරීරයේ කිරණ ශක්තිය බලවත් වුනාම මනෝමය ඇහැට පේන දේවල් මස් ලේ ඇහැටත් පේන විදිහට දැනෙනවා. කනටත් ඒ වගේමයි. මනෝමය කනට තමයි ඇහෙන්නෙ. නමුත් මේ මස් ලේ කයේ කනත් එක්ක බද්ධ වෙලා ශරීරයේ තියෙන කිරණ ශක්තිය බලවත් වුනාම මනෝමය කනට ඇහෙන දේවල් මස් ලේ කනටත් ඒ වගේම ඇහෙන විදිහට දැනෙනවා. ඒකෙ වෙනසක් හොයන්න බෑ. පියවි තත්ත්වයෙන්මයි ඇහෙන්නෙත්. ශරීරයේ තියෙන කිරණ ශක්තිය බලවත් වෙන්න පුළුවන් හේතු 2 ක් තියෙනවා. එකක් තමයි සමාධිය බලවත් වීම. එහෙම නැත්නම් ප්‍රබල අමනුස්සයෙක් ශරීරයට ඇතුල් වීම.

දැන් ඉතින් අර පුද්ගලය ඇවිත් යන කොට බිත්තියේ එල්ලල තිබ්බ ඔරලෝසුවෙන් මම වෙලාවත් බැලුවා. හරියටම පාන්දර 6 යි. ඒ පුද්ගලය යන්න ගියාට පස්සෙ මම ටිකක් වෙලා ඇඳේ ඉඳල නැගිට්ටා. එතකොට මුකුත් විශේෂ දෙයක් තිබුනෙත් නෑ. නමුත් එදාම දවල් 11 ට විතර බුද්ධ පූජාව තියල දානෙ පුණ්‍යානුමෝදනාව කරන කොට අර පුද්ගලය නැවතත් ආවා. ඒ කියන්නෙ මහ දවල්. ඒ වෙලාවෙදි, යම් කිසි අමනුස්ස ආදී කොට්ඨාස බන්ධනවලට රැඳිල හිරවෙලා ඉන්නව නම් ඒ අයත් නිදහස් වෙලා මේ පින් අනුමෝදනාවෙන් සුඛිත මුදිත වෙන්න කියල මම පුණ්‍යානුමෝදනා-වෙදිත් සඳහන් කළා. අර සිද්ධියත් අල්ලල තමයි ඒ පුණ්‍යානුමෝදනාව කළේ. එතකොට තමයි මේ පුද්ගලය නැවතත් ආවෙ. හැබැයි ළඟට ආවෙ නෑ, ටිකක් ඈතින් ඉඳගෙන මට පේන්න හිටියා. මං හිතන්නෙ ඒ දර්ශනය පුණ්‍යානුමෝද-නාවට සම්බන්ධ වෙලා හිටපු අනිත් අයට පේන්න නැතුව ඇති. හැබැයි මේ වෙලාවෙ පුද්ගලයගෙ අතේ අර උල් පිහිය තිබුණෙ නෑ. එහෙම ඈතින් ඉඳගෙන අත් දෙක එකතු කරල වැඳල පුණ්‍යානුමෝදන් වෙලා යන්න ගියා. ඊට පස්සෙ නැවතත් ආවෙ නෑ.

දැන් මේ විදියට ආවෙ මහ සොහොන් දිෂ්ටිය කියල හිතාගන්න පුළුවන් වුනේ ඒ ආපු පුද්ගලයගෙ ස්වභාවයෙන්. මොකද මහ සොහොන් දිෂ්ටිය කියල පොත් පත්වල පෙන්වල තියෙන්නෙ වලස් ඔළුවක් උපමා කරල. ඒ කියන්නෙ රිටිගල ජයසේන කියන පුද්ගලය මහසෝන වුනා කියල තමයි කතාව තියෙන්නෙ. ඒ පුද්ගලය හොඳ උස මහත කෙනෙක්ලු. එතකොට ගෝඨයිම්බර කියන්නෙ මිටි කෙනෙක්ලු. ඉතින් මේ දෙන්න අතර යුද්ධයක් තිබුන කියල කතාවක් තියෙනවා. ඒ යුද්ධෙදි ගෝඨයිම්බර උඩ පැනල පයේ සුළැඟිල්ලෙන් ගැහුවම ජයසේනගෙ බෙල්ල කැඩිල විසි වුණාලු. කඩුවකින් ගහපු පාරට එහෙම වුණා කියලත් සමහර පොත් පත්වල සඳහන් වෙනවා. ඊට පස්සෙ ජයසේනගෙ යාළුවෙක් පැත්තක ඉඳල වලස් ඔළුවක් ගෙනල්ල බෙල්ලෙ අනිත් පැත්තට තිව්වලු. ඊට පස්සෙ ඒ පුද්ගලය මහසෝන වුණාලු. ඔය විදියට තමයි ජනප්‍රවාදයෙ එන කතාවෙ තියෙන්නෙ. නමුත් ඉතින් ඔය කියන කතාව භෞතික වශයෙන් ප්‍රායෝගිකව සිද්ධ වෙන්න පුළුවන් දෙයක් කියල අද විශ්වාස කරන්නෙ නෑ. මොකද කෙනෙක්ගෙ ඔළුව බෙල්ල ළඟින් කැඩිල විසි වුනාට පස්සෙ ඒ වෙනුවට වලස් ඔළුවක් ඒ පුද්ගලයට හයි කරන්න පුළුවන් ක්‍රමයක් නෑ. වලස් ඔළුවක් නිකං ගෙනල්ල තිව්වට මස් ලේ කයට මූට්ටු කරන්න ක්‍රමයක් නෑ. පවතින වෛද්‍ය විද්‍යාවටත් ඒ කතාව ගලපන්න බෑ.

ඒ නිසා ඇත්ත වශයෙන්ම ඔතනදි සිද්ධ වෙලා තියෙන්න ඕන මේ වගේ දෙයක්. ජයසේන කියන ස්වභාවික මනුස්සයට පහරක් ගැහුවම බෙල්ල කැඩෙන්න ඇති. මොකද ඒ කාලෙ තිබ්බ සටන් ක්‍රමවලදි එහෙම දේවල් සිද්ධ වෙන්න පුළුවන්. ඉතින් බෙල්ල කැඩිල විසි වුනාට පස්සෙ මනෝමය කය පැත්තකට දුවනවා. එතකොට ඒ මනෝමය කායික පුද්ගලයටත් බෙල්ල කැඩිච්ච විදියටම වැටහෙන්න පුළුවන්. ඒ වගේම ඒ මැරිච්ච පුද්ගලය ජීවත් වෙලා ඉඳෙද්දි අනිත් අයට බෙල්ල කැඩෙන්න ගහපු අවස්ථා තියේ නම් ඒකෙ කර්ම විපාකයක් විදියට ඒ පුද්ගලයටත් බෙල්ල නැති වෙන විදියෙ මනෝ කයක් එන්න පුළුවන්. හරියට අර කවන්දයො වගේ. ඒ වගේම කකුළුව ගත්තොත් ඌට වෙනම ඔළුවක් / බෙල්ලක් නෑ. කඳේම තමයි ඇස් දෙකම තියෙන්නෙ. ඉතින් ඌට බෙල්ල හරවල බලන්න බෑ. ඒක ඌට හරි වදයක්. ඒ වගේ කවන්දයින්ටත් බෙල්ල හරවල දෙපැත්ත බලන්න බෑ. ඇඟ හරවල තමයි බලන්න වෙන්නෙ. ඒ වගේ සමහර විට මේ පුද්ගලයටත් ඔය වගේ දෙයක් සිද්ධ වුණා වෙන්නත් පුළුවන්.

ඉතින් කොහොම හරි ඒ වෙලාවෙදි ඒ ගුප්ත ලෝකෙ ජයසේනගෙ පෙර අත්බැවක හිතවතෙක් / ඥාතියෙක් ඉන්න පුළුවන්. ඒ වෙලාවෙදි ඒ හිතවතා / ඥාතියා අර කැඩිල විසි වෙච්ච මස් ලේ ඔළුවෙ මනෝමය ඔළුව ඒ මනෝමය කයට මූට්ටු කළා වෙන්නත් පුළුවන්. එතකොට විසි වෙච්ච මස් ලේ ඔළුව මේ ලෝකෙ වෙනම තියෙනවා. මොකද මේ වගේ අවස්ථාවකදි ඒ පුද්ගලයට තමන්ගෙ ඔළුව කැඩිල විසි වුනා කියල දැනුන නම්, ඒ වෙලාවෙදි පුද්ගලයගෙ මනෝමය කයෙත් ඔළුව නැති විදියට තමයි දැනෙන්නෙ. එතකොට ඒ මනෝමය කයෙත් ඔළුව නෑ. ඒ වගේම පුද්ගලයා මැරෙනකොට දාගෙන හිටියෙ වලස් ඔළුවක් නම්, අර කැඩිල විසි වෙච්ච කිරණමය මනෝමය ඔළුවෙත් වලස් ඔළුවක් තියෙනවා. ඒ ලාංඡනය තියෙනවා. ඉතින් ඒක ගෙනත් මනෝමය කයට හයි කළාම දැන් අර ජීවත් වෙලා ඉඳෙද්දි දාගෙන හිටපු වලස් ඔළුව වගේ තමයි පේන්නෙ. ඒ කිරණමය වලස් ඔළුව තමයි දැන් ගන්ධබ්බයට තියෙන්නෙ. මොකද ගන්ධබ්බ ලෝකෙ ඒ වගේ දේවල් කෙරෙනවා. ඒ වගේ යම් කිසි විදියෙ ගුප්ත දේවල් දැනටත් සිද්ධ වෙනවා. එහෙම නැත්නම් සමහර විට මනෝමය වශයෙන් වලස් ඔළුවක් මවල ගෙනත් තියන්නත් පුළුවන්. මොකද පෙර ඥාති හිතවතෙක් වෙච්ච කෙනෙක් ඔය චාතුර් මහා රාජිකයට සම්බන්ධ ගන්ධබ්බ දේවතාවෙක් වශයෙන් එහෙම බලාපොරොත්තුවකින් හිටිය නම් ඒ වගේ වෙලාවට වලස් ඔළුවක් මවල ගෙනත් තියන්නත් පුළුවන්.

ඒ වගේම මේ විදියට යමක් මවල ආදේශකයක් විදියට දෙන අවස්ථා ගැන විනය පිටකයේ විග්‍රහ වෙනවා. ඒ කාලෙ භික්ෂූන් වහන්සේලාට පාංශුකූලය දෙන කොට වේයො කාපුවා, මීයො කාපුවා, ගැබ් මල පිහිදාපුවා ආදී වශයෙන් විවිධ වස්ත්‍ර දෙනවා. ඒ වගේම දෙවියන් විසින් දෙන වස්ත්‍රත් තියෙනවා. ඒකත් පාංශුකූලයටම අයිතියි. එතනදි තමන්ට ඥාති වෙන සමහර දෙවි දේවතාවන් ඒ භික්ෂූන් වහන්සේලාට පේන්න ඉස්සරහට වස්ත්‍ර ගෙනත් දානවා. එහෙම දැම්මට පස්සෙ උන්වහන්සේලා ඒවා අහුලගෙන යනවා. කවුරු දුන්නද කියල දන්නෙ නෑ. නමුත් ඒ දෙවියන් විසින් දුන්නු වස්ත්‍ර. එතකොට ඒ වගේ භෞතික වශයෙන් ශරීරයට ගන්න පුළුවන් දේවල් මවල දෙන්න පුළුවන් ශක්තියක් තියෙන දෙවි දේවතාවො ඉන්න බව ඔප්පු වෙනවා. එතකොට අදෘෂ්‍යමාන වස්ත්‍ර විතරක් නෙවෙයි, භෞතික විදියටත් එහෙම දේවල් මවල දාන්න පුළුවන් බව පැහැදිලියි. ඒ නිසා ගන්ධබ්බ ලෝකෙ කෙනෙකුට අර වගේ වලස් ඔළුවක් මවල දෙන්න බැරිකමක් නෑ.

දැන් එතකොට අර රූහැනකින් ගැට ගහපු කළු පාට ගුලියක් අර විදියට මට දර්ශනය වුනේ ඔළුවට ගැට ගහපු ඔය රූහැන නිසා. ඒ ලෝකෙ තියෙන රූහැනකින් තමයි ඒ වලස් ඔළුව මනෝමය කයට ගැට ගහල තිබුණෙ. කොහොම හරි ඔහොම ගැට ගහන කොට ඔළුව අනික් පැත්තට හිටින්න තමයි තියල තිබුණෙ. දැන් ඉස්සරහ බලන කොට වලහ වගේ කළු පාටට ගුලියක් මිසක් ඔළුව මුකුත් පේන්නෙ නෑ. ඔළුව හරවල බලන කොට තමයි පේන්නෙ. ඒ වගේම ඒ ඔළුවෙ දෙපැත්තට ඇස් තියෙන තවත් උපක්‍රමයක් තියෙනවා. ඒ විදියට කෙනෙකුට දෙපැත්තට ඇස් තියන්නත් ඒ කාලෙ යම් කිසි උපක්‍රම තිබුණා. ඒ කියන්නෙ මිනිස්සු යන්නෙ එන්නෙ මිනිස් වෙසින් නෙවෙයි. වලහෙක්ගෙ වගේ වෙස් මවපු වෙස් මුහුණු ඔළුවට දාල තමයි යන්නෙ. එතකොට වලහගෙ ඇස් දෙක ඔළුවෙ පිටිපස්සට වෙන්න තමයි වෙස් මූණු දාන්නෙ. ස්වභාවික මනුස්සයගෙ ඇස් දෙකට හිල් දෙකක් ඉස්සරහින් හදනවා. මේක පැරණි සටන් ක්‍රමයක්. ඉතින් ඒ විදියට ඇතුලෙ කුහරයක් තියෙන වලස් ඔළුවක් හදල ඒක මනුස්සයගෙ බෙල්ලට තියල පටියකින් ගැට ගහනවා. ඊළඟට ඇඟ දිගේ පහලට යන කල්ම තනිකරම වලස් හම පොරවනවා. මොකද මේ වලස් හම බොහොම හයියයි. සමහර විට අම්ලයක් වගේ මොනව හරි විසකින් ගැහුවත් ඒකෙන් බේරෙන්න පුළුවන්. ඒ කාලෙත් ඒ වගේ විස රසායනවලින් ගහන යුධ උපක්‍රම තිබුණා. ඒ වගේ යුධ උපක්‍රමයක් තමයි මේ වලස් මුහුණ දැමීම. නමුත් අද වෙන කොට ඒ වගේ කාරණා සැඟවිලා. එහෙම දේවල් තිබුණ බවට අද ඉන්න බොහෝ අය දන්නෙත් නෑ. නමුත් ඔය වලස් ඔළුව පිටිපස්සට තියෙන විදියට ඇස් දෙකකුත් හදල දැම්මම කැලේ සතෙක් සටනට ආවත් ඌ පිටිපස්සෙන් පනින්නෙ නෑ බයයි. මොකද පිටිපස්ස බලාගෙන ඉන්නව වගේ තමයි පේන්නෙ. ඉතින් බේරිල්ලක් තියෙන



ක්‍රමයක් තමයි මේ කරන්නෙ. ඒ වගේ සමහර විට මේ විදියට වලස් ඔළුවක් දාගෙන ඉන්න කොට ගහපු පහරකට බෙල්ල කැඩිල ගියා නම් මනෝමය කය (චිත්තජ රූපය) හැදෙන්නෙත් ඒ වලස් ඔළුව දාගෙන හිටපු විදියටමයි. කොයි ක්‍රමයෙන් හරි මේ මහ සෝනගෙ මනෝමය කය හැදිල තියෙන්නෙ ඒ විදියට. ඒකෙන් තමයි මහසෝන කියල ගුප්ත ලෝකෙ පුද්ගලයෙක් හැදුනෙ. නමුත් ඒ කතාව යථාර්ථයෙන් දන්නෙ නැතිව අද ඒ සිද්ධිය භෞතික මස් ලේ කයට කරපු දෙයක් විදියට තමයි හිතාගෙන ඉන්නෙ. නමුත් ඒක හාස්‍යජනක කතාවක්.

ඊළඟට මේ මහ සොහොන් කිච්චමත් විවිධාකාර කොටස් ඉන්නවා. බල්ලෙක්ගෙ වෙස් අරගෙන, කළු බළල් වෙස් අරගෙන ඒ විදියට විවිධාකාරයෙන් ඉන්නවා. මේ කියන්නෙ චාතුර් මහාරාජිකයට අයිති අසුරයො වගේ යක්ස කොටසක්. ඒ අය දේව මණ්ඩලය යටතේ තමයි පාලනය වෙන්නෙ. උදාහරණ විදියට බිම්බිසාර රජතුමත් ජනවසභ කියන යක්සයෙක් වෙලා තමයි ඉපදුනයි කියන්නෙ. ඒ කියන්නෙ වෛශ්‍රවණ කියන දෙවියන්ට සේවය කරන කෙනෙක්. හැබැයි සතර අපාගත යක්ස නෙවෙයි මේ කියන්නෙ. මොකද බිම්බිසාර රජතුමා සෝවාන් වෙලා හිටියෙ. යසස් තියෙන නිසා තමයි යක්ස කියන්නෙ. ඒක චාතුර් මහා රාජිකයට අයිති කාම සුගතියේම කොටසක්. හරියට මනුස්ස ස්වභාවයේම මට්ටමක්, මිනිස් තලය හා සමානයි. ඒ චාතුර් මහා රාජිකයටම අයිති ගන්ධබ්බ ලෝකෙ කොටසක් තමයි මේ කියන්නෙ. ගන්ධබ්බ කියල කිච්චට ගන්ධබ්බයො අතරත් සනීභවන කයක් හදන්න පුළුවන් අය ඉන්නවා. ඒ අයට ඕන නම් මිනිස්සුන්ට පේන්න ඉන්නත් පුළුවන්, අතුරුදන් වෙන්නත් පුළුවන්. එහෙම සනීභවනය කරගෙන ආපු වෙලාවක තමයි සමහර අයට ඒ වගේ දර්ශන මස් ලේ ඇහැට පේන්න පටන් ගන්නෙ. සමහර අය ඒ විදියට ඇවිත් පෙනී ඉඳල ඇඟපත අතගාල යන අවස්ථා තියෙනවා. ඒ තමයි ඒ යක්ස කොට්ටාසයේ හැටි. ඒ කොටසට අයිති විවිධ අය ඉන්නවා.

එතකොට දැන් මේ මහ සොහොන් කොටසේ ප්‍රධානියෙක් තමයි රිටිගල ජයසේන කියන්නෙ. ඒ කියන්නෙ එතන හිටපු ප්‍රධානියෙක් චුත වෙන කොට කලින් කල ඒවට ප්‍රධානියො හැදෙනවා. හරියට මනුස්ස ලෝකෙ රටක රාජ්‍ය නායකයෙක් තනතුරෙන් ඉවත් වුනාම එතනට තව කෙනෙක් පත් වෙනව වගේ. එතකොට ඒ ප්‍රධානීන් අතරින් මේ කාලෙ ඉන්න ප්‍රධානියා තමයි ඔය රිටිගල ජයසේන හෙවත් දැන් ඉන්න මහසෝන කියන්නෙ. දැන් අර මා ඉදිරියේ දර්ශනය වෙච්ච කෙනාටත් ඔය වගේ වලස් ඔළුවක් තමයි තිබුණෙ. මහසෝන විදියටම තමයි ඒ පුද්ගලයත් ආවෙ. මොකද මම මහ සෝනගෙ ලාංඡනය ගැන අහල තියෙනවා, දැකල තියෙනවා. ඒ විස්තර දැන ගෙන හිටපු නිසා තමයි මේ ආවෙත් මහසෝන කියල දැන ගත්තෙ. ඒ මහසෝනට කැප කරල තියෙන මහසොහොන් බන්ධන තියෙනවා. එතනදි මහසෝන ඇදල බඳින ක්‍රම තියෙනවා. ඒව කට්ටඩියො කරන වැඩ. එහෙම මොනව හරි අපේ ☞

සම්බන්ධයක් අරගෙන බැන්දොත් ඒ පුද්ගලයට අපේ ශරීරයට තියෙන සම්බන්ධයෙන් අහක් වෙන්න බෑ. එතකොට අපේ ශරීරයට බැඳිල ඉන්නෙ. බැඳුනට පස්සෙ එක්තරා ආකර්ශනයක් තියෙනවා. බඳිනව කියන්නෙ වශී කරනව වගේ දෙයක්. එහෙම වශී කරල තමයි බාර දෙන්නෙ.

උදාහරණ විදියට අපිට යමෙක් හිමි කරල දුන්නොත් අපි ඒ පුද්ගලය අපේ කරගන්නවා. ඊට පස්සෙ ඒ පුද්ගලයගෙ දුක සැප බලනවා, මොනව හරි අවධානයකින් තමයි ඉන්නෙ. අන්න ඒ විදියට යම් කිසි කෙනෙකුට වින කරපන් කියල පගාවක්, දොළ පිදේනියක් දීල බාර දෙන අවස්ථාත් තියෙනවා. එතකොට ඒ කෙනා ඒ වැඩේ බාර ගත්තොත් අර පුද්ගලය පිටිපස්සෙන්මයි කොච්චරවත් ඇහැ ගහගෙන ඉන්නෙ. කට්ටඩියො විවිධ දොළපිදේනි ආදිය දීල තමන්ගෙ බලාපොරොත්තුව ඒ විදියට තවකෙකු ලවා ඉෂ්ට කර ගන්නවා. ඒව අරගෙන ඒ පුද්ගලය ඒ වැඩේ කරල දෙනවා. මෙහෙම ක්‍රමයක් තමයි මෙතනදි සිද්ධ වුනෙත්. ඒ කියන්නෙ ඒ කාලෙ ඉඳන් විවිධ කට්ටඩිකම් කරන අය බන්ධනය කරපු දිෂ්ටි මට එවන ක්‍රමයක් තිබුණා. ඒ වගේ ඒව කලින් කලට එවනවා. මේ ආපු මහසොහොන් දිෂ්ටිය එහෙම එවපු එකක් වෙන්නත් පුළුවන්. මහා සෝකයක් නමැති හෙණයක් ඇති කරන්නා කියන එක තමයි මහ සොහොන් කියන්නෙ.

ඉතින් ඒ විදියට සොහොන් කාලි, රීරි කාලි, ගිනි කාලි ආදී වශයෙන් තවත් විවිධ කොටස් ඉන්නවා. ඒ ඒ අයට ඒ ඒ විදියෙ වැඩ කොටස් වෙනම බාර දීල තියෙනවා. සමහර වෙලාවට කාලි සහ මහසෝන කියන දෙන්නම එකතු කරල බන්ධන කරන අවස්ථා තියෙනවා. කාලි කියන්නෙ මහ සෝනගෙම ස්ත්‍රී කොට්ඨාසය. ඒ නිසා තමයි ඒ පැත්ත පාලනය කරන කෙනාට මහා භද්‍රකාලි කියල කියන්නෙ. කාලි කියන කොටසෙත් අර වගේම හුඟක් යක්සනියො ඉන්නවා. ඒ අයත් ලේ පිපාසයෙන් ඉන්නෙ. ආහාරයට ගන්නෙත් ලේ. සමහර වෙලාවට බොහොම දරුණු විදියට පුද්ගලයො මරල ලේ ගන්න අවස්ථා තියෙනවා. හැබැයි සියල්ලටම එහෙම කරන්න බෑ. ඒ කියන්නෙ ධර්මානුකූලව ඉන්න අය දැක්කොත් අවශ්‍යතාවය තිබුණ පලියට මරා ගන්න බෑ. එතකොට ඒ වගේ අය මැරෙනකල් බලාගෙන ඉන්නවා. මොකද ඒ වගේ අයගෙ හිමිකම ගන්න නම් මැරෙන කල් ඉන්න වෙනවා. ඒ නිසා තමයි මම බොහොම අසාධ්‍ය තත්ත්වයක ඉන්න අවස්ථාවක් බලාගෙන ඉඳල ඒ අමාරුවෙන් මම මැරෙයි කියල හිතාගෙන ළඟට ආවෙ. මොකද කෙනෙකුගෙ අසාධ්‍ය අවස්ථා, මරණාසන්න අවස්ථා ඒ අයට දකින්න පුළුවන්.

දැන් අර මුලින් කියපු අවස්ථාවෙදි මගෙ හදවතේ කෝෂ හතරෙන් කෝෂ තුනක ලේ දුර්වල වෙලා තියෙනව පෙනුණා. එක පැත්තකයි ලේ නහර වැඩ කළේ. හදවතේ අනිත් තුන් පැත්තම දුර්වල කරල තියෙන බව පෙනුණා. ඒකට අර වගේ බන්ධනත් බලපාල තිබුණා. ඒ කාරණය මට මනෝමය විදියට පේනවා. දැන් මේ මහසෝන ඇවිත් මගේ පපුව දිහා බැලුවෙත් ඒ කාරණය දැන ගෙන තමයි. ඊට පස්සෙ පහු වෙන කොට තමයි හතිය මහන්සිය වැඩි වෙලා, අන්තිමට හුස්ම ගන්නත් අමාරු වෙන මට්ටමටම පෙනහළුවල වතුර පිරිල වකුගඩු ආබාධය දක්වාම ගියේ. ඊට පස්සෙ සැත්කමක් කරන්න බලන කොට තමයි ඒ කාරණය වෛද්‍යවරුන්ටත් අහු වුණේ. එතකොට හදවත 80% ක්ම අවහිර වෙලා. ඒක බොහොම අන්තිම අවස්ථාවක්. මැරෙන්න ඔන්න මෙන්න මට්ටමක්. ඉතින් නවීන විද්‍යාවෙ උපක්‍රමයකින් සැත්කමක් කරල තමයි නැවතත් යථා තත්ත්වයට පත් වුණේ. ඒ අවස්ථාවෙදි මගේ කර්ම වේගයත් බලවත් වෙලා තිබ්බ්ච නිසා සැහෙන දුකක් විඳින්න සිද්ධ වුණා.

දැන් ඔය අවස්ථාව වෙන කොට මගේ අත් දෙකේම ජීවන රේඛාව මහපටැඟිල්ල ළඟ ඉඳන් අතේ මැණික් කටුව දක්වා එන කොට, හරියට මැදින් පැහැදිලිවම කැඩිල තිබුණා. මේ ජීවන රේඛාවෙන් කියන්නෙ අපේ ආයුස ගැන. ඒක පරමායුස අවුරුදු 120 කට මනින්න පුළුවන්. ඒ හස්ත රේඛාව කඩතොලු නැතිව හොඳට පැහැදිලිව තියේ නම් ඒ පුද්ගලයට මාරක බාධක, අකල් මරණවලට කර්ම වේගයෙන් හට ගත්තු හේතු විද්‍යමාන වෙන්නෙ නෑ. නමුත් ඒ රේඛාවෙ යම්කිසි කඩතොළුවීම්, දඟර වැටීම් ආදිය තිබුණොත් ඊට අදාල වයස් සීමාවලදි ඒ අයට මොනව හරි දුක් කරදර, මාරක බාධක එනවා. ඉතින් මගේ අත් දෙකෙත් මුලින් එහෙම මුකුත් කඩතොළු නැතිව පැහැදිලිව හොඳට තිබ්බ්ච ජීවන රේඛාව තමයි ඔය කියන කාල සීමාවට එන කොට එක තැනකදි කැඩිල තිබුණෙ. අත් දෙකේම හරියටම එකම තැනින් ජීවන රේඛාව කැඩිල වෙන් වෙලා තිබුණා. හරියට ඒ අවස්ථාවට අදාල වයස මැනල බැලුවොත් මගෙ ඒ කාලෙ වයස් සීමාවට තමයි දළ වශයෙන් ඒක වැටෙන්නෙ. ඊට පස්සෙ සැත්කම කරල මාසයක් ගිහින් බලන කොට අත් දෙකේම ජීවන රේඛා 2 කලින් විදියටම හාවෙලා කඩතොළු නැතිව පිහිටල තිබුණා. දැන් නම් එහෙම කැඩිච්ච ලකුණක්වත් හොයා ගන්න නෑ. (මේ රේඛා සම්බන්ධයෙන් විශේෂ ධර්මානුකූල විග්‍රහයක් ඉදිරියේදී බලාපොරොත්තු වන්න.)

ඉතින් මේ ජීවන රේඛාව කියන එකත් පුද්ගලයෙක්ගෙ කාලෙන් කාලෙට වෙනස් වෙනවා. අර වගේ මාරකයක් එනව නම් ඒ ක්‍රමයටත් බලාගන්න පුළුවන්. එතනදි පිරිමි කෙනෙක්ගෙ නම් කර්ම ශක්තියෙන් සිද්ධ වෙන දේ වම් අතිනුත්, ප්‍රවෘත්ති විපාක වශයෙන් එන දේවල් දකුණු අතිනුත් පෙන්නුම් කරනවා. කර්ම ශක්තියෙන් සිද්ධ වෙන දේවල් කියන්නෙ පෙර සසරෙ ගොඩනගපු කර්ම ශක්තිය. ප්‍රවෘත්ති විපාක ලැබෙනව කියන්නෙ මෙලොව ජීවත් වීමේ ක්‍රියාවලියෙදි අලුතින් ගොඩනැගෙන දේවල්. උදාහරණ විදිහට යම්කිසි ගබඩාවක තියෙන බඩු භාණ්ඩ කර්ම ශක්තියෙන් එන කොටස නම් ඒ භාණ්ඩ පරිහරණය කිරීම ප්‍රවෘත්ති විපාක හා සමානයි. කාන්තාවන්ගෙ නම් කර්ම ශක්තියෙන් සිද්ධ වෙන දේ දකුණු අතිනුත්, ප්‍රවෘත්ති විපාක වශයෙන් එන දේවල් වම් අතිනුත් පෙන්නුම් කරනවා. ඒ රේඛා කඩතොළුවීම අත් දෙකේම එක වගේ තියේ නම් ඒ ක්‍රම දෙකෙන්ම කරදර බාධක එන්න පුළුවන්. ඒ වුනත් කර්ම ශක්තියට ප්‍රතිකර්ම කිරීමෙන් සහ භෞතික කයට ප්‍රතිකාර කිරීමෙන් ඒ කර්ම වේගය වළක්වා ගන්න පුළුවන්. දස කුසල්වල යෙදිල ඒ කරන පින් දහම් අනන්ත සංසාරයේ තමන් අතින් අවැඩ අසාධාරණයන්ට ලක් වූ හැම දෙනා කෙරෙහිම විහිදවල අනුමෝදන් කිරීම තමයි ප්‍රතිකර්මය වෙන්නෙ. ප්‍රතිකාර කියන්නෙ වෛද්‍ය උපදෙස් ආදී බාහිරින් කෙරෙන බේත් හේත්.

දැන් අර මහසෝනත් මට තිබ්බ්ච අසාධ්‍ය තත්ත්වය දන්න නිසා වෙන්න ඇති මම ළඟට ඇවිත් මැරිලද කියල බැලුවෙ. මැරුණට පස්සෙ ලේ ගන්න තමයි එහෙම බලාගෙන ඉන්නෙ. ඉතින් බැරි වෙලාවත් මහසෝන අර අතේ තියෙන කිරණමය පිහියෙන් කාගෙ හරි හදවතට ඇන්න නම් ඒ පුද්ගලය හෘදයාබාධයකින් මියයන්න පුළුවන්. එතකොට වෛද්‍යවරු පරීක්ෂා කරල බලල වෛද්‍ය වාර්තාව දෙන්නෙ හදිසි හෘදයාබාධයක් කියල. ඔය වගේ සමහර අමනුස්ස බලවේග පණ අදින කෙනෙක් දැක්කොත් කල් තියාම බලාගෙන ඉන්නවා. එහෙම වෙලාවක අර වගේ පිහියෙන් ඇන්න නම් දන්නෙම නෑ මනුස්සය මැරෙනවා. බලන කොට ☞

හදවතේ නහරයක් පුපුරල හරි මොනව හරි දෙයක් වුනා කියල වෛද්‍ය වාර්තාවෙන් කියනවා. හැබැයි ඇත්තටම වෙච්ච සිද්ධිය දන්නෙ නෑ.

නමුත් ඒ කාරණය පැහැදිලිවම පේනවා අර පිහියෙ වේලිච්ච ලේ තිබීමෙන්. මොකද ඒක කිරණමය පිහියක් වුනාට ඒකෙන් ඇන්නොත් මනෝමය කයේ හදවතට වදිනවා. එතකොට ඒ අවස්ථාවෙදි මේ භෞතික මස් ලේ ශරීරයෙත් ඒකට ගැලපෙන මොනව හරි ආබාධයක් තිබුන නම් ඒ දෙකම එකට බලපානවා. නමුත් මේ භෞතික කයෙන් අර මනෝමය කයට වෙච්ච අනතුර හොයන්න බෑ. හැබැයි ගැස්මක් එක්ක ඇති වෙන අවහිරතාවය පුද්ගලයගෙ මරණයටත් බලපානවා. මොකද ඔය පපුවෙ අමාරුකම් තියෙන අයට හදිසි කම්පන ඔරොත්තු දෙන්නෙ නෑ. එහෙම කම්පනයක් ආවොත් හදවත ක්ෂණිකව අවහිර වෙනවා. ඉතින් ඒ වගේ කම්පනයක් අර වගේ ගුප්ත බලවේගයකින් එන්නත් පුළුවන්. ඒ වගේ දෙයක් නිකම්ම එනවත් නෙවෙයි, සසරෙ කරපු කර්ම වේගත් එක්ක තමයි එන්නෙ. ඉතින් අර මහසෝනත් ඔය වගේ දේකට තමයි ආවෙ. නමුත් ඉතින් මම ළඟත් ධර්මානුකූල පැත්තක් තිබිච්ච නිසා, එහෙම මුකුත් කරන්න පුළුවන් වුනේ නෑ. ඒ නිසා තමයි මැරෙනකල් බලාගෙන ඉඳල යන්න ගියේ.

දැන් යම් කිසි විදියකින් මැරෙනකල් බලාගෙන ඉඳල මැරුනොත් එහෙම ලේ ගන්න හැටිත් මට දැනෙනවා. මැරුනට පස්සෙ ඒ කිරණමය පිහියෙන් පුද්ගලයගෙ පපුවට අනිනවා. නැවත පිහිය ඇදල ගන්න කොට ඒකෙ ලේ බින්දු 5 - 6 ක් ගෑ වෙනවා. අන්න ඒක ලෙව කාල පුද්ගලය යන්න යනවා. මහසෝන ගන්නෙ එච්චරයි. ඒක තමයි ඒ අයගෙ ආහාරය. වෙන මුකුත් ගන්නෙ නෑ. එතකොට මේ මහසෝන පෞද්ගලික තරහකට එනව නෙවෙයි. අර කට්ටඩියො බාර දීපු මොකක් හරි වැඩක් ඉෂ්ට කරන්න තමයි එන්නෙ. එහෙම ඇවිත් තමයි බන්ධන කරපු අයව බිලිගන්නෙ. හැම වෙලේම මරණයක් බලාගෙන තමයි තැනකට යන්නෙ. මේ වගේ බන්ධන කපන්න හරි අමාරුයි. එහෙම කරපු බන්ධනයක් තමයි මගේ යටි බඩේ මූලාධාර චක්‍රත් එක්ක සම්බන්ධ වෙලා තිබුණෙ. දැනට අවුරුදු 10 කට විතර එහා මම මහණ වෙන්නත් කලින් තමයි ඒ බන්ධනය කරල තිබුනෙ. ඒ කාලෙ ඉඳන්ම තමයි යටි බඩ හිර වෙන්න පටන් ගත්තෙ. මූලාධාර චක්‍රවල ඉඳන් තුනටිය සීමාවට යන කල්ම ඒ අමාරුව බලපෑවා. පස්සෙ කාලෙක ඒක ක්‍රමයෙන් වැඩි වුණා. සමාධියට සම වැදිල ඉන්න කොට ඇඟ ඇඹරෙන්න පටන් ගත්තෙත් ඒ බන්ධනය නිසා. ඒක හිර වෙලා තිබිල හිර අරින කොට හරි අමාරුයි ඉන්න. සමාධිය නැගෙන කොට තනිකරම හිර වෙනවා.

ඉතින් මේ මනුස්සයො, මේ වගේ ගුප්ත බලවේග නිසා විඳින අනන්ත දුක් කරදර අද ඉන්න හුඟක් උදවිය දන්නෙ නෑ. ඒ වගේ දේවල් පේන්නෙ නැති නිසා, බලාගන්න ක්‍රමයක් නැති නිසා හුඟක් අය විශ්වාස කරන්නෙත් නෑ. මොනව හරි භෞතික සිද්ධියකින්ම වුනයි කියල අදහස් ගන්නවා. නමුත් මේ වගේ ගුප්ත ලෝකයේ සිද්ධි කවදහරි පේන්න පටන් ගත්තොත්, අනේ මේ ලෝකෙ අපි කොච්චර බලවේගවලට හිර වෙලා කොටුවෙලා ද ඉන්නෙ කියල වැටහෙනවා. අලි මදිවට හරක් කිව්ව වගේ මනුස්සයො, මනුස්සයින්ටම කරන හිරිහැර කරදර මදිවට, ගුප්ත ලෝකෙ නොයෙක් අමනුස්සයොත් එකතු කරගෙන විවිධාකාර බන්ධන කරල මිනිස්සු හිර කරනවා. ඒ බන්ධන කොච්චර ප්‍රබලද කියනව නම් සමහර බන්ධන, පුද්ගලය මියගිහිල්ල ඊළඟ අත්බැවටත් යනවා. ඉතින් මනුස්සයෙකුගෙ භෞතික කයට ස්වභාවිකව ලෙඩ රෝගයක් හැදුනම සමහර විට ඒක බේතක් පාවිච්චි කරල සනීප කරගන්න පුළුවන් වුනත්, මේ වගේ බන්ධන කරල හිර කිරීම් නිසා එන රෝගාබාධවලට ඒ බේත් හරි යන්නෙ නෑ. ඒ බන්ධන මහ ප්‍රබල ශක්තියක් යොදල කැපුවෙ නැත්නම් මුළු ජීවිත කාලය විතරක් නෙවෙයි, සමහර විට අත්බැව් ගණනාවක් යනකල්ම විඳවන්න වෙනවා. මේ වගේ තමන්ට වාසි ගන්න අනිකට අණවින බන්ධන කළත් කවද හරි ඒ කරපු අයටත් ඒව විඳවන්න ගියාම ලේසියෙන් ගොඩ එන්න බෑ. ඉතින් මේ සසරෙ තියෙන භයානකත්වය තවත් නොදකින පැත්තකින් පැහැදිලි කරල දෙන්න තමයි මේ වගේ කරුණු කාරණා හෙළිදරව් කළේ. ඒ නිසා නැණ නුවණ තියෙන හැම කෙනෙක්ම මේ භයානක සසරින් එතෙර වෙන්න අද අදම අධිෂ්ඨාන කර ගන්න.

## වැඩි දුර පැහැදිලි කිරීමයි.

පසු ගිය කලාපයේ අභයරතනාලංකාරය තුළින් ඉදිරිපත් කළ ''මාර දූවරු සම්බන්ධයෙන් මෑත කාලීන සත්‍ය අත්දැකීමක්'' නම් විග්‍රහය සම්බන්ධව කෙරෙන තවත් අමතර පැහැදිලි කිරීමක් තමයි මේ. මේ මාර දූවරු ඒ වගේ කාම රැඟුම් රඟන කොට ප්‍රධාන වශයෙන්ම අරමුණු කරන්නෙ ආර්ය මාර්ගයේ යන අය. ඒ වගේ අවස්ථාවලදි අනාගාමී, අරිහත් ඵලවලට පත් වෙච්ච කෙනෙකුට නම් කාම රාග නැති නිසා කිසි ගැටළුවක් නෑ. ඒ වගේ දෙයක් ඔරොත්තු දෙනවා. නමුත් සෝවාන්, සකෘදගාමී මට්ටම්වල ඉන්න අයට ඒ වගේ දෙයක් වුනොත් ඉදිරි ගමන් මගට ප්‍රමාදයක් එන්න පුළුවන්. ඒ අය සතර අපාගත කෙළෙස් ප්‍රහීන කරල තියෙන නිසා, ගති නියත නිසා කොහොමටවත් සතර අපාගත වෙන්නෙ නෑ. නමුත් ඒ අයට කාම අදහස් ඇවිත් නිවන් මග තරමක් ප්‍රමාද වෙන්න පුළුවන්. හැබැයි ඒ ප්‍රමාදය දිගටම තියෙන්නෙ නෑ, තාවකාලිකයි. ඒ වගේම ඒ රැඟුම් බඹ ලොවට යන්න ලෞකික බණ භාවනා කරන අයටත් දර්ශනය වෙන්න සලස්වන්න පුළුවන්. මොකද මාර දෙව්වරු, කෙනෙක් බඹ ලොව යනවට කැමති නෑ. දෙව් ලොවට එනවට තමයි ඒ අය කැමති. ඒ නිසා ඒ අදහස කඩන්න අර වගේ කාම රැඟුම් රඟන්න පුළුවන්. හැබැයි ඒ වගේ අය සතර අපාගත වෙන ගතිය ප්‍රහීන කරල නැති නිසා සමහර විට දැහැන්වලින් පිරිහිලා, ඒ කාමයන්ගෙන් මුසපත් වෙලා සතර අපාගත වෙන්නත් පුළුවන්. යෝගීන් වගේ අයට එහෙම දේවල් වෙන්න පුළුවන්.

ඒ වගේම මේ වසවර්ති මාරයා ඇතුළු පරනිම්මිත වසවර්තියේ ඉන්න දෙවියන් අතරට ගිහින් කෙනෙක් උපදින්නෙ, මේ වගේ කාම රැඟුම් බලල ඒවායේ නිරත වෙලා නෙවෙයි. මුලින්ම පින් දහම් කරල තමයි ඒ තත්ත්වයට පත් වෙන්නෙ. ඊට පස්සෙ දෙව් ලොව තියෙන ඒ සම්පත්තිය දැකල පෙර තිබිච්ච කෙළෙස් අනුශය නැගිල ඇවිත් කාමයන්ගෙන් මුසපත් වෙනවා. ඊට පස්සෙ ඒකෙන් පාපයක් කර ගන්නවා. ඊළඟට දෙව් ලොව ආයුස කෙළවර වෙච්ච දවසට ඒ හේතුවෙන් දේව අත්බැවින් චුත වෙලා සතර අපාගත වෙන්නත් පුළුවන්. ඒ වගේම ඒ රැඟුම් දැකපු බලපු අයත් ඒවායින් මත්වුනොත් ඒ හේතුවෙන් පරනිම්මිත වසවර්තියේ ඉපදෙනව නෙවෙයි, ඊට වඩා කරපු පින් දහම් තිබිල බලවත් වෙලා උපාදාන වුනොත් ඒ නිසා ඒ කාම සුගති දෙව් ලොව උපදින්න පුළුවන්. නමුත් ඒ කාම රැඟුම්වලින් මුසපත් වෙලා පහත් තත්ත්වයට වැටුනොත් සතර අපාගත වෙන්න පුළුවන්.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

සටහන

නීතිඥ චන්දන සිරිවර්ධන

# ලෝ සත නොදකින මරණයේ මහා බියකරු බව ...

''මරණය! ලෝකයේ අමිහිරිම වචනය, සත්වයා මරණයට තරම් බිය වන තවත් දෙයක් නෑ.'' කතාව ඇත්ත. මිනිස්සු මෙහෙම නිකං කතාවට කියනවා. නමුත් ඒ කියන විදියෙ අමිහිරි බවක්, බියකරු බවක් ඇත්ත වශයෙන්ම තේරුම් අරගෙනද මේ කියන්නෙ කියන එක ගැටළුවක්. පිටින් නිකං කතාවට කිව්වට මිනිස්සු හැසිරෙන විදියෙන් නම් එහෙම දෙයක් පේන්න නෑ. අනිත් මිනිස්සු මැරෙන බවත් දන්නවා. ඒ බව දකිනවා. තමනුත් කවද හරි මැරෙන බව දන්නවා. නමුත් මැරුණත් නොමැරුණ ගානට තමයි හුගක් අයගෙ කතාව. ''අයියෝ ඔය ගැන ඔච්චර හිතන්න යන්න එපා. කොහොමත් මැරෙනවනෙ. ඕව ගැන ඕනවට වඩා හිතන්න යන්න හොඳ නෑ. මෙන්න මේ ඉන්න ටිකට කාල බීල විනෝද වෙලා හොඳින් සතුටින් ජීවත් වෙන එකනෙ තියෙන්නෙ. මැරෙන්න බය වෙන්න එපා'' මේ ආදී වශයෙන් කතා අපිට නිතර අහන්න ලැබෙනවා.

**''ලිප ගිනි මොළවන තෙක් දිය සැලියේ - සැපයක් යැයි කකුළුව දිය කෙළියේ''** මේ වගේ උත්තරයක් තමයි ඕකට දෙන්න තියෙන්නෙ. මොකද මේ මැරෙන මොහොතෙ කෙනෙකුගෙ හිතට ඇති වන මහා පීඩනය, දාහය පිටින් බලන් ඉන්න අයට පේන්නෙ නැති නිසාත්, තමන්ට එහෙම අත්දැකීමක් ගැන මතක නැති නිසාත්, ඒ වගේම තත්පර ගණනක් වගේ කෙටි කාලයක් තුළ මළා එච්චරයි කියල අදහස් ගැනීමත් නිසා මැරෙන්න අකමැති වුණත්, මරණය මේ තරම් සරල කාරණයක් විදියට හිතන්න බොහොමයක් උදවිය පුරුදු වෙලා ඉන්නවා. මරණයේ භෞතික ක්‍රියාදාමය සරල බව ඇත්ත. මොකද හෘදය වස්තුව නැවතුණා මළා, හුස්ම හිරවුණා මළා, සිහි නැතිවුණා මළා.... ඔය ආදී වශයෙන් මරණයේ භෞතික ක්‍රියාවලිය බොහොම සුළු විදියට තමයි පේන්නෙ. ඒ වගේම බොහොම සුළු මොහොතයි ඒකට ගත වෙන්නෙ. නමුත් ඒ භෞතික ක්‍රියාවලිය සරළ වුනත් ඒ තුළ තියෙන මානසික ක්‍රියාවලිය නම් කොහෙත්ම සරළ නෑ. **අතිශයින්ම සංකීර්ණ වූ, බියකරු වූ, අසරණ වූ, අනාත වූ ඒ මනෝමය ක්‍රියාවලිය මිනිස්සු දකින්නෙ නෑ, නවීන විද්‍යාවට අහුවෙන්නෙත් නෑ.** ඇත්ත වශයෙන්ම ඒ කාරණය ඒ විදියට දැක්ක නම් අද මිනිස්සු මේ විදියට පස් පවු කරන්න පෙලඹෙන්නෙත් නෑ. චතුරාර්ය සත්‍යය අවබෝධ නොවුණත්, බයට හරි පස් පවින් වළකිනවා.

ඉතින් මේ ඉඳිකටු තුඩට පවා මිනී මරාගන්න, හොර මැර වංචා කරන මිනිස්සු මේ මරණය කියන එක ඒ තරම්ම සරළ කාරණයක් විදියට හිතන්න පුරුදුවීම නිසා මිනිස් ජීවිතයක තියෙන වටිනාකම දන්නෙ නෑ, මරණයේ තියෙන භයානකකම දන්නෙ නෑ. මළාට පස්සෙ ඔක්කොම ඉවරයි කියල තමයි හිතාගෙන ඉන්නෙ. එහෙම නොහිතන අයට වුනත් මරණින් මතු උප්පත්තියක් ගැන ඒ තරම් විශ්වාසයක්, තැකීමක් නෑ. කොහොම හරි



දැන් මේ ඉන්න ටිකට කාල බීල සන්තෝසයෙන් ජීවිතය ගැට ගහ ගන්න විතරයි බලන්නෙ. මේ ජීවිතයෙන් පස්සෙ අවුරුදු සිය දහස් ගණනක්, සමහරවිට කල්ප කාලාන්තරයක් විඳින්න සිද්ධ වෙන දුක් කන්දරාව දකින්නෙ නෑ.

ඉතින් මේ කාලෙ වෙද්දි දිවැස්, සමාධි වඩපු උදවිය බොහොම අඩු නිසා මේ කාරණය තමන්ටම දැක බලාගන්න විදියක් නෑ. නමුත් ඉතින් නැණ නුවණක් තියේ නම්, ඒ වගේ දිවැස් සමාධි වඩපු අය හේතුඵල ඇතිව, දහමට අනුකූලව, අත්දැකීම් සහිතව ඒ කාරණා විස්තර කරන කොට වටහා ගන්න පුළුවන්. එහෙම වටහා ගන්න පුළුවන් උදවිය හිටියත්, සියල්ල නවීන විද්‍යාවෙන් භෞතිකව තීරණය කරන්න යන ලෝකයක් තුළ අද බොහෝ දෙනෙක් ඕව මොන බොරු කතාද, විකාර කතා, කොහෙද ඕව ඔප්පු කරන්නෙ ආදී වශයෙන් නොයෙක් භෞතික මතවල එල්බ ගෙන ඉන්නවා. කොහොම හරි ඉතින් නැණ නුවණක් තියෙන අයට මේ මරණයේ තියෙන භයානකත්වය තේරුම් අරගෙන, සසර භය ඇති කර ගෙන මේ තත්ත්වයෙන් මිදෙන්න උපනිශ්‍රය වෙන කාරණා ටිකක් තමයි මේ ලිපි පෙළින් හෙළිදරව් කරන්නෙ. විශේෂයෙන් මේ ලිපියේ එන සමහර කරුණු කාරණා සම්බන්ධයෙන් වහරක අභයරතනාලංකාර හිමියන් සමාධියෙන් දැක ගත්, සසර භයානකත්වය විදහා පාන, ඇඟ කිලිපොළා යන බොහොමයක් අත්දැකීම් අතරින් කිහිපයක් ඉදිරියේදි අභයරතනාලංකාරය තුළින් ඉදිරිපත් කරන්න බලාපොරොත්තු වෙනවා. ඒ වගේම මේ ලිපි පෙළටත් පොතේ පතේ තියෙන කාරණාවලට අමතරව උන් වහන්සේ සමාධියෙන්, නැණ නුවණින් ලබා ගත් බොහොමයක් කරුණු කාරණා අඩංගු කරල තියෙනවා. ඒ සියලු කාරණා සසර භයානකත්වය තේරුම් ගන්න බොහෝ කොට ප්‍රයෝජනවත් වේවි.

මරණය කිව්වම විවිධාකාරයෙන් සිද්ධ වෙන මරණ තියෙනවා. සමහර මරණවලදි පුද්ගලයට කායික වේදනාවක් දැනෙනවා. සමහර මරණවලදි කායික වේදනාවක් දැනෙන්නෙ නෑ. නමුත් මේ අවස්ථා දෙකේදිම තමන් කරපු කියපු දේට අනුව, ලෝකය අල්ලා ගත් ප්‍රමාණය අනුව ඒ ඒ අයගෙ මට්ටම්වලින් මානසික වේදනාව එනවා. විශේෂයෙන් කායික වේදනාවක් දැනෙන මරණවලට බොහෝ කොටම හේතු වෙන්නෙ මාරාන්තික ලෙඩ රෝග, අනතුරු. ඒ වගේ මාරාන්තික අවස්ථාවකදි ඒ තත්ත්වය වළක්ව ගන්න උපක්‍රමයක් නැති වෙන්න පුළුවන්. එතකොට පුද්ගලයට මාරාන්තික වේදනාවක් දැනෙනවා. ඒ වේදනාවත් එක්කම මහා විසාල දුකක් දාහයක් ඉස්සෙල්ලම එනවා. එහෙම ඇවිත් ඊට පස්සෙ මාරාන්තික වේදනාව නැති වෙන කොට ඒ දුක නැති වෙනවා. එතනින් පස්සෙ ඒ පුද්ගලය දන්නෙ නෑ තමන්ට වේදනාවක් එනව කියල. නමුත් ඒ වෙලාවෙදි මෙහෙම දෙයක් සිද්ධ වෙනවා. සමහර මරණවලදි පුද්ගලය මැරිල කෙලින්ම චුත වෙලා මොකක් හරි භවයක උපදින (පටිසන්ධි වෙන) අවස්ථාවක් එනව නම්, එහෙම වෙලාවට ඒ පුද්ගලයගෙ අවසන් මොහොතෙදි කර්ම, කර්ම නිමිති, ගති නිමිති කියන මේ තුනෙන් මොකක් හරි එකක් මතු වෙලා එනවා.

කර්මයක් ඇදිල එනව කියන්නෙ ඒ පුද්ගලය ඉස්සෙල්ල කරපු (පෙර අත්බැවක හෝ මේ අත්බැවේ) මොනව හරි කාය කර්මයක් හෝ වචී කර්මයක් එවෙලෙ කරනව වගේ මනසට ඇදිල එනවා. ඒ ගති ලක්‍ෂණය එවෙලෙම නිර්මාණය වෙලා පුද්ගලය කරපු කියපු දෙයක් විදියටමයි ඇදිල එන්නෙ. ඇවිත් ඒ වෙලාවෙදි මරණාසන්න චිත්ත වීථියට සම්බන්ධ වුනොත් කර්මයක් තමයි අරමුණු වෙන්නෙ. කර්ම නිමිත්තක් කියන්නෙ කර්මයට හේතු වෙච්ච යම් කිසි දෙයක්. උදාහරණයක් විදියට තමන්ට කවුරු හරි ගහන්න එනව නම් එතකොට පුද්ගලය මෙහෙම හිතනවා. ''මං ළඟ පිස්තෝලයක් තියෙනවනෙ. ආපු දෙන්කො !'' අන්න එතකොට ඒ පුද්ගලයට නිමිත්ත විදියට පිස්තෝලයක් මතු වෙලා එනවා. එහෙම නැත්නම් පොලු කෑල්ලක් මතු වෙලා ආවොත් පොල්ලෙන් ගහනවයි කියන අදහස එනවා. එතකොට ඒ පොල්ල තමයි නිමිත්ත වෙන්නෙ. ඒ නිමිත්ත මරණ මොහොතෙදි ඇදිල ආවොත් ඒක මුල් වෙනවා. ඊළඟට පුද්ගලය ළඟ තිබ්බ්ච යම් කිසි ගතියක් ඇදිල ආවොත් ඒ ගතිය මනසට නිර්මාණය කරල දෙනවා. ඒ පුද්ගලයටම ආපු ගතියක් නිසා ගති නිමිත්තක් හැදෙනවා. ඒ කියන්නෙ ගති උපදින තැනක් හෝ උප්පත්තියට හේතු වෙන බාහිර කාරණයක් හෝ නිර්මාණය වෙනවා. උදාහරණ විදියට ගතිය බයක් නම් යකෙක් එයිද දන්නෙ නෑ කියල බයක් ඇති වුනොත්, ඒ පුද්ගලයට ඒ ගතියෙන්ම නිමිත්ත විදියට යකෙක් මැවිල එනවා. ඒ කියන්නෙ පුද්ගලයගෙ ඒ බය ගතියෙන් ගති නිමිත්තක් නිර්මාණය වෙනවා. ඒ වගේම යම් කිසි ස්ත්‍රියක් ගැන හිතිල කාමුක ගතියක් ආවොත් නිමිත්ත විදියට ස්ත්‍රියක් මැවිල එනවා. උපදින ගතිය යම් තැනක උපද්දවන්න හේතු වෙනවද, ඊට අවශ්‍ය කරන ගති නිමිත්තක් ඇදිල එනවා. එතකොට ගතිය යම් තැනක උපද්දවන්න හේතු වෙනව නම් ගතියට ගතිය ඒ හා සම්බන්ධ වෙනවා. මෙන්න මේ කාරණා තුනෙන් මොකක් හරි එකක් මරණාසන්න මොහොතෙදි සම්බන්ධ වෙනවා.

දැන් මේ වගේ අවස්ථාවකදි ඒ පුද්ගලය මොනව හරි කියපු කරපු දේවල්වල ස්වභාවය මතු වෙලා ඇවිත් හීනයක් වගේ හැබැහින් පේන්න ගන්නවා. නමුත් ඒවා හීන නෙවෙයි. මොකද හීන පේන්නෙ නින්ද ගියාම. නමුත් මේ අවස්ථාවෙදි ඇහැරිලා වගේ පියවි තත්ත්වයෙන්ම පේනවා. ඒ වෙලාවෙදි ඒ පුද්ගලය කරල, කියල තියෙන හොඳ හෝ නරක දේවල් අනුව තමයි ඒක මතු වෙන්නෙ. ප්‍රාණඝාත, සත්ව හිංසා, හොර මැර වංචා, දූෂණ ආදිය කරල තිබුණ නම් ඒ වගේ දෙයක් තමයි හිතට ඇදිල එන්නෙ. ඒ වෙලාවෙදි තමන්ගෙ හිතට තමන් කරපු කියපු දේ ගැන සැකයක් බයක් ඇති වෙනවා. ''මම කෙනෙක් මැරුවා, ඒ මැරුවෙ යම් කිසි විදියකින් ඒ පුද්ගලයගෙන් මට අසාධාරණයක් වෙයි කියල.'' දැන් ඒ පුද්ගලයට මේ විදියට හිතෙන්න, දැනෙන්න පටන් ගන්නවා. ඊළඟට ඒක ස්වභාවයෙන්ම එන එකක් වගේ, මගෙන් අනෙක් අයට කරදර වෙලා දැන් අනුන් මං මරන්න එනව කියල එහෙම හැඟීමක් එනවා. එතනදි පුද්ගලය හොඳටම බය වෙන්න පටන් ගන්නවා. කවුරුහරි තමන් මරන්න එන හැටියට දර්ශනය වෙනවා. පෙළක් අය ඒ වගේ වෙලාවට මං මරන්න එනවෝ, මාව බේරගනියෝ කියල මරණාසන්න අවස්ථාව ළං වුනාම කෑ ගහනවා. තවත් සමහර අය යකේක් ... බයායි... කියල කෑ ගහනවා. මොකද අමනුස්ස ලෝකවල ඉන්න යක්කු පෙරේතයො වගේ අයත් මේ වගේ අවස්ථාවකදි පුද්ගලයට ළං වෙනවා. එහෙම නැත්නම් මනෝමය වශයෙන් ඒ රූප මැවිල එන්නත් පුළුවන්. ඒ තමයි කර්ම වේගයට අනුකූලව තමන් කරල කියල තිබ්බ්ච දේ ආපසු එන හැටි.

සමහරු අනුන්ගෙ දෙයක් හොරකම් කරල තිබුණොත් ජීවත් වෙලා ඉඳෙද්දිම බියෙන් සැකෙන් පසු වෙනවා. ''අහු වුනොත් එහෙම උඹ මට ගහන්න මාව මරන්න පුළුවන්. පොලිසියට අල්ලල දෙන්න පුළුවන්. දැන් මේ වැඩේ කවුරු හරි දැක්කොත්, අයිතිකාරය දැක්කොත් උන් මට මොනව කරයිද? මට බේරෙන්න බැරි වුනොත් අල්ල ගෙන තඩි බායි. දැන්මම රැකගෙන ඉන්න ඕන.'' මේ විදියට හොරකම් කරන්නෙත් බයෙන් තමයි. දැන් ඒ වගේ පුද්ගලයෙක් මරණාසන්න අවස්ථාවට ළං වුනාමත් ඒ ස්වභාවයම මතු වෙලා ඒ පුද්ගලයට කවුරු හරි ගහන්න මරන්න එනව වගේ පේනවා. ඒ අදහසම එනවා. අපි යම් කිසි විදියකට ජීවත් වෙලා ඉඳෙද්දි මොකක් හරි කෙරුවොත් ඒකට ප්‍රතිචාර එනව වගේම තමයි. ඉතින් ඒ වගේ හොරකම් කරපු අයට මරණාසන්න මොහොතෙදි පේන්නෙ හැම වෙලේම අයිතිකාරයො තමන්ට ගහන්න බනින්න එනව, තමන්ව කොටු කරයි කියල. ''පුළුවන් වෙලාවක නම් මම හැංගිලා ඉන්නවා, දුවනවා, ඒත් දැන් ඒක කරන්න බැනෙ. මේ වෙලාවෙ අහු වුනොත් මම මොනව කරන්නද?'' මේ වගේ අදහස් තමයි දැන් එන්නෙ.

ඒ වගේම කෙනෙක් දූෂණයට ලක් කළාමත් ඒ අපරාධය කරපු කෙනාට මරණාසන්න මොහොතෙදි දැනෙන්නෙ ඒ විදියටමයි. ''දැන් ඒ අය මගේ ලිංගත් පොඩි කරල මට ගහල පතුරු ගහල දාවි. මට කරන්න තියෙන සියලුම වධ බන්ධන දේවි. හැබැයි මං හැම වෙලේම මගේ බලය පෙන්වගෙන ඉන්න බලනවා.'' මෙහෙම තමයි ඉස්සෙල්ලම හිතට එන්නෙ. නමුත් දැන් බැරි වෙච්ච වෙලාවෙදි ඒ අය දැක්කොත් පේනව තමන්ට දැන් බෑ කියල. අර එදා කරපු වැඩේදි තමන්ට හතුරු වෙලා හිටපු අය දැන් මනෝ දර්ශන විදියට එකට පේන්න ගන්නවා. ''උන් එක්ක මට පොර අල්ලන්න බෑ. මං උන්ට කොටු වෙනවා, මං කරපු අපරාදෙට මාව මරයි, පෙති ගහයි.'' දැන් මෙහෙම හිතෙන හිතෙන විදියට ඒ රූප මැවිල එනවා. හැබැයි භෞතිකව කවුරුවත් එනව නෙවෙයි. නමුත් පුද්ගලයට ඒ මනෝ රූප පේනවා. මනෝ රූප වුනාට පුද්ගලයට ඒව පේන්නෙ මනෝ රූප කියල නෙවෙයි. ඒකාන්තයෙන්ම හැබෑවටම උන් තමන් දකල පළිගන්න එනව කියල. දැන් ඉතින් මනුස්සයට කර කියා ගන්න දෙයක් නෑ. කෑ ගහන්න හැදුවට කෑ ගහන්නත් බෑ. කටින් සද්දෙ පිටවෙන්නෙ නෑ. විසාල පීඩනයකට පත් වෙනවා. ඉතින් ඒ වගේ අය මැරෙන කොට ඇඟ ගැහෙනවා, වෙව්ලනවා, හූල්ලනවා, කට බලියනවා, දිව දික් වෙනවා, සමහර විට මළ මුත්‍ර පිට වෙනවා, කටින් ලේ යනවා. ඒ අර හයට. ඒ තරම් භයානකයි. ඒ වෙලාවෙදි ශරීරයේ තියෙන සංඥාව විතරයි පේන්නෙ. ගැහෙන හැටි, වෙව්ලන හැටි, හූල්ලන හැටි, දිව දික් වෙන හැටි, බලියන හැටි ... ඕව තමයි පිටින් බලන්න පුළුවන් වෙන්නෙ. ඊට වඩා දෙයක් පිටින් පේන්නෙ නෑ. ඒව සංඥා විදියට දැනෙනවා.

දැන් මේ වගේ අදහස් පුද්ගලයට එන කොට අන්තිමට නිකං ඔත්පල වෙලා ඉන්නව වගේ තමයි දැනෙන්නෙ. ඒ පුද්ගලය චණ්ඩිකං කරපු අවස්ථා, අනුන්ගෙන් මංකොල්ල කාපුව, බලහත්කාරකං කරපුව, දූෂණ වංචා කරපුව, සල්ලි නොදී මඟ හැරපු අවස්ථා තිබුණොත් මුලින්ම පුද්ගලය හැසිරෙන්නෙ චණ්ඩියෙක් විදියට. ''ආවොත් මං ඕකට ගහනවා. මං යටත් වෙන්නෙ නෑ. දෙන්නෙත් නෑ.'' දැන් මෙහෙම කිය කියා තමයි ඉන්නෙ. අන්තිමට මරණාසන්න අවස්ථාවෙදි පුද්ගලයට දැනෙනවා, දැන් තමන් හොඳටම ඔත්පල වෙලා ඉන්නෙ කියල. ඉතින් අර තමන්ගෙන් අසාධාරණයට ලක් වෙච්ච අය ආවොත් එහෙම මොකද කරන්නෙ. ඒකාන්තයෙන්ම උන් මට ගහනවා. මාව මරනවා.... මෙන්න මේ විදියෙ හැඟීමක් එනවා. ඒ හැඟීමෙන් පුද්ගලය සෑහෙන්න බය වෙනවා. සමහර විට ඔය බය වීම, එකතැන් වෙලා විඳවන අවස්ථාවක නම් සමහර විට මැරෙන්න මාස ගණනාවක්, දින ගණනාවක් තියා එනවා. ඒ කියන්නෙ ඔය කර්ම, කර්ම නිමිති, ගති නිමිතිවල සේයා මාත්‍ර විදියට තමයි ඉස්සෙල්ලම එන්නෙ. එහෙම ඇවිත් නිකං හීනයක් වගේ නිතර නිතර පේන්න පටන් ගන්නවා. ඊට පස්සෙ ☞

පහු වෙන කොට හැබැහින් වගේ පේන්න ගන්නවා. එහෙම ඇවිත් බලවත් වෙලා මරණාසන්න මොහොතෙ චුත වෙන්න කිට්ටුව ඔය තුනෙන් මොකක් හරි එකක් හැබැවින්ම විද්‍යමාන වෙන අවස්ථාවක් එනවා. එහෙම ඇවිත් **මාරාන්තික වෙන්න වෙන්න ශරීරයේ තියෙන ශක්තියත් ක්‍රමයෙන් අඩු වෙන්න පටන් ගන්නවා. ඒත් එක්කම මානසික ශක්තියත් පිරිහෙනවා. මනෝ සිතිවිලි නිර්මාණය කරන ශක්තියත් පිරිහෙනවා. ඊට පස්සෙ පුද්ගලයගෙ පාලනයෙන් තොරව විපාක ශක්තිය තමයි හිතේ ඇඳෙන්න පටන් ගන්නෙ.** ඒ කියන්නෙ පෙර කරපුවට එන ප්‍රතිචාර. හොඳ නම් හොඳ ඒවා, නරක නම් නරක ඒවා. ඔය දෙකම ඇඳෙනවා. නමුත් උපාදාන කරගෙන තියෙන්නෙ නරක දේවල් නම් ඒව තමයි ඇඳෙන්නෙ. එහෙම විපාක දර්ශන එන වාරයක් පාසා පුද්ගලය ඒවායින් කොච්චර බේරිලා ඉන්න හැදුවත්, හිත චණ්ඩිකමින් පෙර කරපු දේවල් කරන්න හැදුවත් දැන් ඒව බෑ.

''දැන් මට බැරි වෙච්ච වෙලාව. මේ වෙලාවෙ ආවොත් මං මොකද කරන්නෙ. ඒකාන්තයෙන්ම උන් මට ගහනවා. අර එනව නේන්නම්! මට ගහන්න තමයි එන්නෙ.'' මෙන්න මේ විදියට පුද්ගලයට ඒ දර්ශන නිර්මාණය වෙලා පේන්න පටන් ගන්නවා. දැන් මහ පුදුම විදියට බයේ දඟලනවා. නමුත් කියන්න බෑ අන්තිමයි. අවසාන වෙන කොට කටහඬත් නැති වෙනවා. **ඉතින් කෑ ගැහුවට පිට අයට ඇහෙන්නෙ නෑ. ඇස් දෙක පෙනුනට ඇස් අරින්න, හොල්ලන්න බෑ. සමහර විට අතපය තිබුණට හොල්ල ගන්නත් බෑ.**

දැන් මේ වගේ වෙලාවට පුදුම අනාථ තත්ත්වයකට තමයි පත් වෙන්නෙ. දැන් ඉතින් කාට කියන්නද? කියන්න ඕන වුනාට කියා ගන්න බෑ. කට හඬ එන්නෙත් නෑ. ඒ වෙලාවට හුස්ම විතරක් හොල්ල හොල්ල අදිනව දැනෙනවා. හූල්ලන ගතියක් දැනෙනවා. සමහර අයට බයටම මළ මුත්‍ර පිටවෙනවා. නමුත් කර කියාගන්න දෙයක් නෑ. ඒ වෙලාවට බැරි වෙලාවත් කෙනෙක් ළඟට ඇවිත් අත දුන්නොත් එහෙම අත දරදඬු වගේ අල්ලනවා. අවසිහියෙන් තමයි අල්ලන්නෙ. දාල යන්න එපා, බේර ගන්න කියල නොකිය කියනවා. මොකද පුද්ගලයගෙ හිත තියෙන්නෙ දැන් කවුරු හරි ඇවිත් මං අල්ලගෙන යයි, මාව බේර ගන්න කියන අදහසේ. හරියට පුංචි ළමයෙක් කවුරු හරි ගෙනියන්න හදන කොට, මාව බේර ගන්න කියල අම්මගෙ හරි, ළඟ ඉන්න කාගෙ හරි ඇඟේ එල්ලෙනව වගේ. ඒ වගේ ගතියක් තමයි මෙතනදිත් එන්නෙ. නමුත් කියන්න කටින් වචන පිට වෙන්නෙ නෑ. ඔය වෙලාවට තමන්ගෙම කර්ම ශක්තියෙන් හට ගත්තු රූප මැවිල, මෙහාට වර කියල අදින ස්වභාවයක් තමන්ටම දැනෙනවා.

එහෙම නැත්නම් විශේෂයෙන් අට මහා නරකය, ඔසුපත් නරකය වගේ අපායක උප්පත්තිය ලබන්න ඉන්නව නම් යම දූතයො කියල කොටසක් එනවා. (මේ ගැන විශේෂ විග්‍රහයක් 16 වන කලාපයේ ''අපට නොපෙනෙන ලෝකය දහම් ඇසින්'' ලිපිය යටතේ දැනටමත් ඉදිරිපත් කරල තියෙනවා.) ඒ අය ඇවිත් මරණාසන්න පුද්ගලයගෙ මනෝමය කය ඇදගෙන යන්න හදනවා. ඒ වෙලාවට තමන්ගෙ ශරීරයෙන් කවුරු හරි අල්ලගෙන ගෙනියන්න වගේ දැනෙනවා. ඒ වෙලාවට, මාව ගෙනියන්න හදනවෝ, ගෙනියන්න දෙන්න එපෝ කියල කෑ ගහන අයත් ඉන්නවා. නමුත් කටහඬ නැති වෙච්ච අවස්ථාවක එහෙම කෑ ගහන්නවත් බෑ. කෑ ගැහුවට ඇහෙන්නෙත් නෑ. නමුත් කවුරු හරි ඇදගෙන යන බව දැනෙනවා. ඒ වුනත් කර කියා ගන්න දෙයක් නෑ. ඒ වෙලාවට පුද්ගලය තවම මස් ලේ කයින් මැරිලත් නෑ. ඔය වෙලාවට පුද්ගලය මහා බයකින්, පීඩනයකින් තමයි ඉන්නෙ. **සමහර අයට පීඩනය වැඩි කමට නහර පුපුරන්න බලනවා. තවත් සමහර අයගෙ හෘදය හිර වෙනවා. පෙනහළු හිර වෙනවා. ඒ ඇති වෙන කම්පනය නිසා හුඟක් අය බයටම මැරෙනවා.** ඒ වගේ අය බොහෝ වෙලාවට යන්නෙ අට මහ නරකය, ඔසුපත් නරකය වගේ පහත් අපායකට. එහෙම නැත්නම් ප්‍රේත ලෝකයට වගේ දුගතියකට යනවා.

එහෙම සිද්ධියක් ලංකාවෙ එක්තරා ප්‍රදේශයකින් මීට අවුරුදු ගණනාවකට පෙර වාර්තා වුණා. ඒ පුද්ගලය හේන් ගොවිතැන් කර ගෙන ඉන්න කොට තමන්ගෙ වගාවට එන සතුන්ට උගුලක් ඇටෙව්වා. නමුත් ඒ උගුලට අහු වෙලා කළු බළලෙක් තමයි අන්තිමට දුක් විඳල මැරුණෙ. ඉතින් මනුස්සය මරණාසන්න මොහොතෙ ඇඳේ ඉඳගෙන ගෙදර අයට කිව්වලු, මගේ බස්තමයි කෝට් එකයි ගේන්න අර බළල් නඩුවට මාව එක්ක ගෙන යන්න ඇවිත් ඉන්නව කියල. එහෙම කියල මනුස්සය එක පාරටම මළා. අර යම දූතයො තමයි ඒ වෙලාවෙදි ඇවිත් තියෙන්නෙ.

ඉතින් මේ වගේ මරණාසන්න අවස්ථාවල ඒ පුද්ගලයට පේන්නෙ තමන්ගෙන් අසාධාරණයට ලක් වෙච්ච අය තමන් අල්ල ගෙන කපනව කොටනව ගහනව වගේ. ඒ වගේ අය හුඟක් වෙලාවට යන්නෙ දුගතියට. මෙන්න මේ අවස්ථාවට ගැලපෙන ගතියට එන කොට ඒ අයට යම දූතයන්ගෙ සම්බන්ධය පේනවා. ඒක අපි දකින්නෙ නැති පැත්තක්. ජීවන පොත හෙවත් පිං පවු සටහන් පොත කියන එක තමයි එතනදි පෙරලිලා එන්නෙ. ඒ වගේ කෙනෙක් මැරෙන මොහොතෙදි ඒ පොත යම රජ්ජුරුවො ළඟට ස්වයංක්‍රීයව සම්බන්ධ වෙනවා. විශේෂයෙන් ඒ වගේ අවස්ථාවකදි අපාගත වෙන්නෙ සත්තු නෙවෙයි, වැඩිහරියක්ම මනුස්සයො වෙලා පවු කරගත්තු අය. **ඒ පිං පවු පොතේ කෙනෙක් මැරෙන්න තියෙන අවස්ථාව ගැන සටහන් වෙලා තියෙනවා. ඒ නිසා ඒ අය කල් තියාම යම දූතයො එවනවා.** අන්න ඒ අවස්ථාවෙ ස්වභාවය මරණාසන්න පුද්ගලයට පේනවා. දැන් යම දූතයො ඇවිත් යම ලෝකෙ නඩු අහන තැනට ඒ අයව මනෝ කයෙන් එක්කගෙන යන්නෙ ඒ පුද්ගලය කරපු කියපුව මතක් කර දිදී. ''තොට මතකද මෙහෙම කරපුව, තොට අද කරන දේ දැන ගනිත්.'' මේ විදියට අමතක වෙච්ච දේවල් මතක් කරල දෙනවා. දඬුවම් දෙන හැටිත් කියනවා. දැන් එහෙම කියන්න කියන්න ඒ පුද්ගලය බය වෙලා හූල්ලනවා. නමුත් එතකොට පුද්ගලයගෙ මනෝ කාය යම දූතයන් අතට පත් වෙලා ඉවරයි. ඒ මනෝ කාය තමයි මේ විදියට ඇද ගෙන යන්නෙ. ඒ අය මිනිස්සු වගේ හතර පස් ගුණයක් හයි හත්තිය තියෙන අය නිසා පුද්ගලයට බේරෙන්න බෑ. හරියට අර ඌරො, හරක් බලහත්කාරයෙන් මරන්න ගෙනියන කොට ඒ සත්තු කිසි ගානක් නැතිව ඇද ගෙන යනව වගේ තමයි මෙතනදි ඇද ගෙන යන්නෙත්. පිහියක් දැක්කම, ලේ දැක්කම ඒ සත්තු ඒ පැත්ත පළාතෙවත් යන්නෙ නැතිව ආපස්සටම අදින්න උත්සාහ කරනව වගේ මේ මරණාසන්න පුද්ගලයත් ආපස්සට අදින්න බලනවා. නමුත් ඒව හරි යන්නෙ නෑ. ඒ යම දූතයො පුද්ගලය උස්ස ගෙන එහාට තල්ලු කරනවා, මෙහාට තල්ලු කරනවා. යන්න බැරි නම් එහෙම ඇද ගෙන තමයි යන්නෙ. මනෝමය කය මේ විදියට ගෙනිච්චට මස් ලේ කය මෙහේ තවම මැරිල නෑ. ඒක පණ අදිනවා.

මීට පෙරත් විස්තර කළා වගේ රිදී වර්ණ මනෝමය රැහැනකින් මේ මස් ලේ කය සහ මනෝමය කය සම්බන්ධ වෙලා තියෙන නිසා ඕන තරම් දුරක් ඒ විදියට ඇද ගෙන යන්න පුළුවන්. මැරෙන කොට මේ මස් ලේ කයින් ඒ රැහැන කැඩෙන්න විතරයි තියෙන්නෙ. එතකොට තමයි මැරෙනව කියන්නෙ, මෙහෙන් චුත වෙනව කියන්නෙ. සමහර විට පුද්ගලය මෙහේ පණ අදින කොට යම ලොව මනෝ කයින් ඉන්නවා. යම රජ්ජුරුවො නඩුව අහන කොටත් මෙහෙට සම්බන්ධයි. සමහර විට මරාන්තික රෝගයක් හැදිල දැඩි සත්කාර ඒකකයෙ ඉන්න පුළුවන්. ඒත් මනෝමය කය යම ලෝකෙ. ඒ තමයි යම වෙලාව හෙවත් දෙපොළක ඉන්න වෙලාව. යම යම කියල තමයි එක්ක ගෙන යන්නෙත්.

යමය ඇවිත් ගෙනියනව කියල තමයි කියන්නෙත්. ඒ තමයි දූතයො. ආ යමං උඹට පාඩම් උගන්වන්නම්... ඔහොම කියන කොට තවත් බය වෙනවා. හරියට මිනී මරපු, හොරකම් කරපු කෙනෙක් පොලිසියට එක්කං යනව වගේ. හැබැයි අරන් යන්නෙ මෙහේ පණ අදිද්දී මනෝ කයෙන්. සමහර අයට එහේ ගිහින් නඩු අහල විනිශ්චය දෙන කොට තමයි මස් ලේ කයත් එක්ක මෙහෙන් රැන කැඩෙන්නෙ. එතකොටම මෙහේ මරණයත් සිද්ධ වෙනවා. ඊට පස්සෙ ඉතින් දහ දුක් සියල්ල ලැබෙනවා. මේ තමයි මරණාසන්න මොහොතෙදි චුත වෙලා අපායට යන එක ක්‍රමයක්.

සාමාන්‍ය මට්ටමේ දුෂ්චරිතවල යෙදිල හිටපු හුඟක් අය ප්‍රේත ලෝකයට තමයි බොහෝ කොටම යන්නෙ. ඒ කියන්නෙ මත් පැන් ටිකක් එහෙම බීල, දුම් වැටියක් ඇදල, කාටවත් කරදරයක් නැනෙ අපි බිව්වට ... ආදී වශයෙන් ඔහොම කියන අය ඉන්නවා. ඒ වගේ අයගෙ පෙර ඥාති මිත්‍ර වෙලා ඔය විදියට බිබී ඉඳල මැරිච්ච අය අදත් ගන්ධබ්බ ලෝකවල ප්‍රේතයින් වශයෙන් ඉන්නවා. දැන් ඉන්න ඒ වගේ අය මෙහෙන් චුත වෙන කොට ඒ ප්‍රේතයින් ළඟට ඇවිත් එකතු වෙනවා. ඒ ලෝකෙදි ඒ අයට පේනවා මේ මගේ එවුන්නෙ කියල. ඉතින් යන්න දෙන්නෙ නෑ. බොන මිනිහෙක් හිටියොත් එහෙම ඒ පුද්ගලයට සුද්ද වෙන්න අර ප්‍රේතයො ඉඩ දෙන්නෙ නෑ. උන් හැම වෙලේම විවිධ අදහස් දෙනවා. වරෙන් වරෙන් අපි ඉන්න පැත්තට කියල ඇදගෙන යනවා. මොකද උනුත් මහ පාළුවකින් තමයි ඉන්නෙ. දැන් ඉතින් උන්ට අර කලින් පුරුද්දට තනියෙන් බොන්න පුළුවන්කමක් නෑ. ඒ නිසා ජීවත් වෙලා ඉන්න බේබදු පුද්ගලයන්ගෙ ඇඟට පැනල තමයි ඒ පුද්ගලයො බොන දෙයින් මත් පැන් උරා ගන්නෙ. ඉතින් පෙර යාළුවන්ගෙන්, හිතවතුන්ගෙන්, බොන්න අරන් දීපු අයගෙන් ගත්තු ණයක් තියෙනවා. නමුත් දැන් ඒ වගේ ගන්න විදියක් නෑ. උන් එතනදි මහ අසහනයකට පත් වෙලා ඉන්නෙ. ''අනේ බොන්න ටිකක් නැනෙ.'' ඔහොම හූල්ල හූල්ල තමයි ඉන්නෙ.

මේ වගේ අය මනුස්ස වෙලා ඉඳෙද්දි සමහර විට දෙමාපියන්ට අඹු දරුවන්ට කන්න බොන්න දෙන්නෙ නෑ. නිකං කකා බිබී නටනවා. ඔහේ නිකං ඉන්නං වාලෙ ඉන්නවා. ඉනේ තියෙන පටිය හරි, රෙද්ද හරි විකුණල බොන්නමයි බලන්නෙ. මේ වගේ අයට සමහර වෙලාවට මරණාසන්න මොහොතෙදි ඒ විපාකය ක්‍රියාත්මක වෙනවා. දැන් බලන කොට මනුස්සයට මෙහෙම පේනවා. ''මගේ ඇඳුම් නැනෙ. මං ඒව විකුණල බිව්වනෙ. දැන් මට අඳින්න එකක් නැනෙ. මම අම්ම තාත්තට, ළමයින්ට කන්න අඳින්න අරන් දුන්නෙ නැනෙ.'' මෙහෙම අදහස් එනවා. දැන් ඒ විදියටම ප්‍රේත වෙලා ඉපදිලා මනෝමය වශයෙන් ඇඳුම් නැතිව යනවා. ඊට පස්සෙ උන්ට බොන්න නැතිව ඉන්නත් බෑ. එහෙම නිකං ඉන්න කොට ඉස්සර බොන්න අරන් දීපු අය එහෙම ඉන්නව නම් ඒ වගේ අය තමයි යාළුවො. දැන් නැවතත් හොයා ගෙන යන්නෙ ඒ ජාතියෙ එවුන්මයි. ගතියට ගතිය එකතු වෙන හැටි. එහෙම යන වෙලාවට කොහේදි හරි සම්බන්ධ වුනොත් කොහොම හරි ඇඟට රිංග ගන්නවා. රිංග ගෙන ඒ මනුස්සයො බොන්න මෙහෙය වනවා. ඒ අය බොන කොට මේ ප්‍රේතයො ඒ අයගෙ ශරීර ඇතුලෙ ඉඳගෙන කිරණ වශයෙන් ඇදල අරගෙන ඒවායින්ම බොනවා. දැන් ඒකෙන් ඒ පුද්ගලය තවත් බේබද්දෙක්ම වෙනවා. ඊට පස්සෙ පුද්ගලය බේබදුකමින් කවදාවත් බේර ගන්න බැරි තත්ත්වයට පත් වෙනවා. මොකද අමනුස්සය ශරීරය ඇතුලෙ ඉඳන් බොන්න මෙහෙයවනවා. මනුස්සය මළත් ඊට පස්සෙ අර අමනුස්සයින්ට ගොදුරු වෙනවා. ඊට පස්සෙ උන් සියල්ලම අනාථයො බවට පත් වෙනවා. ඒ වගේ අය හුඟක් දුරට පිසාච කියන කොටස්වලට තමයි වැටෙන්නෙ. මොකද පිපාසයෙන්-මයි හැම වෙලාවෙම ඉන්නෙ. හිත හැම වෙලේම පිපාසයෙන් චලනය වෙනවා. හැම වෙලේම නිකං පිහල දැම්ම වගේ ඉන්නෙ. කතාවටත් කියන්නෙ මිනිහ පිහලම දැම්ම කියල. ඒ කියන්නෙ ඒ මිනිහ ළඟ මුකුත් නෑ කියන එක. එතකොට මනුස්සයට අඳින්න ඇඳුමක්වත් නෑ, කන්න බොන්නත් නෑ, ඉන්න හිටින්න තැනකුත් නෑ, යන්න දිහාවකුත් නෑ, කර කියා ගන්න කිසිවක් නෑ, අනාථම වෙලා.

ඔය තත්ත්වයට වැටුනම එකම උරුමය තියෙන්නෙ, මේ ලෝකෙ ඉන්න කොට බොන එවුන්ට බොන්න අරන් දීපුව, එකතු වෙලා බීපුව. ඒ නිසා ඒ අය තමයි දැන් යාළුවො වෙන්නෙ. ඉතින් ගිය ගමන් අහු වෙච්ච තැනකදි අල්ල ගන්නවා. එහෙම අල්ල ගෙන ශරීරයට බැඳෙනවා. මොකද ගතියට ගතිය නිසා එහෙම බැඳෙන්න පුළුවන්. ඊට පස්සෙ ඒ මනුස්සයත් අමාරුවෙ වැටෙනවා. අන්තිමට මළාට පස්සෙ උන් දෙන්නම අමාරුවෙ වැටෙනවා. මහා අනාථයට පත් වෙනවා. ඔහොම කාලයක් යන කොට උන්ට බොන්න අරන් දීපු උදවියත් ඔක්කොම මැරිල ඉවරයි. දැන් ඉතින් මේ ලෝකෙ යාළුවො නැති නිසා බොන්න විදියක් නෑ, සම්බන්ධ වෙන්න ශරීරයක් නෑ. ඒ මැරිච්ච එවුන් ඒ විදියටම තවත් අවුරුදු දහස් ගණන්, කෝටි ගණන් ඉන්න අවස්ථා තියෙනවා. ඒ කියන්නෙ ඒ පිසාච අත්බැව්වල. එහෙම පිසාචයොත් ලක්ෂ කෝටි ගණනින් ඉන්නවා. ඒකෙ උපන්නට පස්සෙ අර දහ දුක් විඳගෙන ඉන්නවා. මැරෙන්නෙත් නෑ. කර්ම ශක්තියෙන් ලබාගත්තු චිත්තජ සූක්ෂම කයක් තියෙනවා. ඒකෙන් පිසාචයො වශයෙන් ඒ ලෝකෙ ජීවත් වෙනවා. ඊට පස්සෙ බොන්න අරන් දුන්නු අයත් දැන් පිසාචයො වෙලා. ඒ අය එදා උදව් කළාට දැන් එල්ලෙන්න කෙනෙක් නෑ. මොකද කාලයක් යන කොට මේ ලෝකෙ හිටපු ඥාති හිතවතුනුත් මැරිල. එල්ලෙන්න ශරීරයක් නැති නිසා උන් අනාථ වෙලා දුක් විඳගෙන ඉන්නවා. කන්න බොන්නත් නෑ.

ඔය වගේ ඉන්න ප්‍රේත, භූත ආදී පිරිස් කොච්චරද කියල විනය පිටකයේ එන කතාවකින් කියවෙනවා. එක්තරා භික්ෂූන් වහන්සේ නමක් පිණ්ඩපාතෙ වඩින කොට ප්‍රේත ළමයි දෙන්නෙක් පෙනී ඉඳල ඇහුවලු, අපේ අම්ම දැක්කෙ නැද්ද කියල. උන් වහන්සේ, කවුද මම දන්නෙ නෑ කියල කිව්වම, අපි මේ ලෝකෙ නෙවෙයි වෙන ලෝකෙක, අපේ අම්ම රැස්වීමකට ගියා, දැක්කොත් එන්න කියන්න කිව්වලු. ඉතින් උන් වහන්සේට දැනුනලු මේ ප්‍රේත කොට්ඨාසයක් තමයි කියල. මං කොහොමද අම්මව අඳුන ගන්නෙ කියල ඇහුවම, මෙන්න මේ මුල අතට ගත්තම අම්ම පෙනෙයි කියල යම් කිසි ගුප්ත මුලක් දුන්නලු. ඒක ගත්ත ගමන්ම හැම තැනම ප්‍රේතයො පේන්න පටන් ගත්තලු. අඩියක් තිව්වත් කකුලෙ වැදිල විසි වෙලා වැටෙනවලු. දැන් ඉතින් උන් වහන්සේට පිණ්ඩපාතෙ වඩින්නත් බැරිව බොහොම හිමින් හිමින් වඩිනවලු. මොකද ප්‍රේතයො පයේ වැදිල විසි වෙයි කියල. ඉතින් මේ කාරණය අර ප්‍රේතිය (අම්ම) දැකල හනිකට ඒ මුල ඇදල ගත්තලු. ඊට පස්සෙ ප්‍රේතයො නොපෙනී ගියාලු. ඉතින් කලිනුත් දැක්කෙ නැතිවට කෝටි ප්‍රකෝටි ගණන් ඇගේ වදින්න ඇති. අර විදියට දැක්කම තමයි මෙච්චර ප්‍රමාණයක් ඉන්නව කියල වැටහුණේ. ඒ තරම්ම අනාථ වෙච්ච ප්‍රේතයින්ගෙන් භූතයින්ගෙන් මේ ලෝකය පිරිල තියෙන්නෙ. හැම අස්සක් මුල්ලක් නැරම ඉන්නවා. උන් දහ දුක් විඳිනවා. ඒ තත්ත්වයට වැටෙන මුල තමයි මනුස්ස වෙලා ඉඳෙද්දි පටන් ගත්තෙ. ඒ වගේ අයට මරණාසන්න මොහොතෙ අදහස් එන්නෙ ඔය විදියට.

දැන් කෙනෙකුට ප්‍රශ්නයක් එන්න පුළුවන්, ඔය වගේ පස් පවු කරපු කෙනෙක් මාරාන්තිකව විඳවල මැරෙන්නෙ නැතිව හදිසි අනතුරකින් ක්ෂණිකව මැරුණොත් ඔය වගේ දෙයක් සිද්ධ වෙන්න පුළුවන්ද කියල. ඒ වගේ හදිසි අනතුරකදි වුනත් මේ සියලු සිද්ධිවලට ගත වෙන්නෙ සුළු මොහොතයි. උදාහරණයක් විදියට

දින ගණනාවක සිද්ධි තියෙන ලොකු හීනයක් දකින්න යන්නෙ තත්ත්පර 8 ක් වගේ සුළු කාලයක් කියල හඳුන ගෙන තියෙනවා. හීන දකපු හැමෝටමත් මේ අත්දැකීම ඇති. දින, සති ගණනක සිද්ධි එක හීනයකින් දකිනවා. හැබැයි ඒ හීනෙ දකින්න ගියේ තත්ත්පර ගණනයි. ඒ වගේ කෙනෙක් ක්ෂණයකින් මැරුණත්, ඒ මැරෙන මොහොතෙදි තමන් කරපු කියපු දේවල්වලින් උපාදානය කරගත්තු ඒවා බොහොමයක් මනෝමය දර්ශන විදියට දකින්න පුළුවන්. ඒ සුළු මොහොතෙ අර ඔක්කොම විඳවනවා. උදාහරණ විදියට අකුණු සැරයක්, මිසයිලයක් වැදිල මළත්, මස් ලේ කය අහක් වුනත් ඇසිපිය ගහන මොහොතක මනෝමය කය ඒකට අහු වෙනවා. ඊළඟට ඒ මනෝමය කය විඳවනවා. සමහර අයගෙ මස් ලේ කයට හැදිච්ච අමාරුකම් මනෝමය කයටත් යනවා. ඒ වගේම සමහරු, අපි දන් වහ බිව්වම මෙතනින් මැරුණා, ඔක්කොම වේදනා ටික ඉවරයි කියල වේදනාව නිසා වහ බොනවා. නමුත් අන්තිමට බලන කොට මනෝමය කයින් ඒ වේදනාව එහෙම්මම විඳවනවා.

ඒ වගේම පෙළක් අය මැරුණට පස්සෙ ඒ මැරිච්ච තැන එහෙම්ම මැරිච්ච ගමන් මනෝ කායෙන් ඉන්නවා. ජීවත් වෙලා ඉන්න මිනිස්සු මිනිය අහකට ගන්නවා. නමුත් පුද්ගලය මනෝ කයින් අර හිටපු විදියටම ඔත්පල වෙලා එතනම ඉන්නවා. ඊළඟට අර දුක තවත් බොහෝ කාලයක් ඊට වඩා විඳිනවා. ඊට පස්සෙ ඉතින් කියන්න කෙනෙක් නෑ, කිව්වට ඇහෙන්නෙත් නෑ. සූක්ෂම මනෝ කයකින් ඒ ස්ථානයෙම වැතිරිලා ඉඳගෙන ලෙඩා වගේ අනන්ත දුක් විඳිනවා. සමහර බේබදු මිනිස්සු දැවිල්ලෙන් පිච්චි පිච්චි ඒ ගන්ධබ්බ කයින්ම විඳවනවා. නමුත් පුද්ගලයගෙ හිතේ තවම පණ අදිනව, මැරිල නෑ කියල. හැබැයි මස් ලේ කය මැරිල අවසන් කටයුතු කරල, හත් දවසෙ දානෙත් දීල ඔක්කොම කරල ඉවරයි. ඒ තමයි කර්ම වේගවල හැටි.

සමහර විට තමන් කෙනෙකුට ගහල පිහියෙන් ඇනල තිබුණොත් ඒ මනෝමය කයටත් පෙනි පෙනී පිහියෙන් අනින්න, මරන්න එන අවස්ථා තියෙනවා. ඒ වගේ වෙලාවට යක්ෂයො අමනුස්සයො වගේ අයත් ඇවිත් ඒ මනෝ කායික පුද්ගලයටත් පිහිවලින් අනින අවස්ථා තියෙනවා. හරියට මේ පණ පිටින් ඉන්න මනුස්සයෙකුට පිහියෙන් ඇන්නම වේදනාව දැනෙන්නෙ කොහොමද, ඒ විදියටම මනෝමය කයටත් දැනෙනවා. මනසට ඒ සංඥාව ඒ වගේම දැනෙනවා. නමුත් කයට විඳිනව වගේම තමයි දැනෙන්නෙ. හැබැයි කට ඇරල කියා ගන්න බෑ. උදාහරණ විදියට සමහරු මෝහනය කරන කොට පෙර අත් බැව්වල තිබ්ච්ච බඩේ අමාරුවක් වගේ දෙයක් මතක් කළාම, බඩ අල්ල ගෙන කෑ ගහනවා. හරියට එවෙලෙ රිදෙනව වගේ තමයි කෑ ගහන්නෙ. දැනුත් ශරීරය ඇතුලෙ පිච්චෙනව වගේ දැනෙනවා. ඉතින් බය වෙනවා. ඇස් දෙක උඩ යනවා. කර කියා ගන්න දෙයක් නෑ. මේ වගේ තමයි ඒ මියගිය පුද්ගලයටත් දැනෙන්නෙ. ඒ වගේ වතාවල් කොච්චර නම් දැනෙනවද කියන්න බෑ. තමන් පෙර කරපු විදියටම දුක් විඳිනවා.

ඒ වගේම තවත් සමහර අය දැනුමක් නැතිවම නිකං හිනා වෙලා මැරෙනවා. ඉතින් බලන් ඉන්න අය හිතන්නෙ හිනාවෙලා මැරිච්ච නිසා දිව්‍ය ලෝකෙ ගියා කියල. එයාගෙ මූණ හොඳට හිනා වෙලා තිබුනනෙ කියල ඔහොමත් කියනවා. නමුත් අන්තිමට බලන කොට පෙරේතයෙක් වෙලා ඉපදිලා. මොකද අර ඉස්සර එක එක්කෙනාගෙ අඩු පාඩුකම් කියල විහිලු කොලොප්පම් කරපුව මතක් වෙලා තමයි හිනා වෙලා තියෙන්නෙ. ඒ වෙලාවෙදි මානසිකත්වය බැලුවම අර කොලොප්පම් කරපු මානසිකත්වයෙන් ඉන්නව මිසක් මුකුත් නිච්චි නෑ. මෙලෝ දෙයක් හිතා ගන්න බෑ. නිකං පිස්සුවෙන් දොඩවනව වගේ එහෙම කොලොප්පම් කෑලි තමයි ඒ වගේ අයට අන්තිම මොහොතෙ එන්නෙ. දැන් ඉතින් ඒ ලෝකෙට ගියාට පස්සෙත්, එහේ ඉන්න අනික් ප්‍රේතයො උෟට කොලොප්පම් කරනවා. ඒ තමයි විපාකයේ හැටි.

ඉතින් මේව ගැන නොදන්න මිනිස්සු මොකද කියන්නෙ, කාට හරි ගහල බැනල කාගෙ හරි හිත රිදවල, ගණන් ගන්න එපා ඕක පොඩි දෙයක්, විහිළුවක් කියනවා. නමුත් ඒ තමන්ගෙ වාසියට තමයි එහෙම කියන්නෙ. හැබැයි බැරි වෙලාවත් ඒ පුද්ගලයටත් එහෙම දෙයක් වුනොත්, එතකොට අර පොඩි එකේ තරම බලාගන්න පුළුවන්. එතකොට තමයි පොඩි දේ ලොකුවට පේන්නෙ. ඉතින් තමන් අනුන්ට බනින කොට, ගහන කොට අඩුපාඩු අල්ල ගෙන කොලොප්පම් කරන කොට හිතන්නෙ ඒක සුළුයි කියල. නමුත් තමන්ට ගැහුවොත් බැන්නොත්, විහිළු කොලොප්පම් කළොත් මරා ගන්න යනවා. තමන් දන්නව අනුන්ට ගහන බනින එක, සමච්චල් කරන එක වැරදියි කියල. නමුත් වාසිය නිසා ඒක වසන් කරනවා. පුද්ගලය ජීවත් වෙලා ඉදෙද්දි ඒක කැරකිලා තමන්ට ආපසු එන බව දැනන් නොහිටියට, මරණාසන්න අවස්ථාවෙදි ඒක තමන්ගෙ පාලනයෙන් තොරවම මතු වෙලා එනවා.

ඕව සුළු දේවල්, මුකුත් වෙන්නෙ නෑ ... ආදී වශයෙන් කියන අය අදත් ඉන්නවා. නමුත් තමන් ඒ තත්ත්වයට පත් වුණාම පණ බයයි. උදාහරණ විදියට අපි යම් කිසි පිරිසක් අතර ඉන්න කොට, එහෙම නැත්නම් ගෙදර ඉන්න කොට කිසි බයක් නෑ. නමුත් කොහේ හරි නොදන්න පැත්තකට ගිහින් අතරමං වුනාම හිතට බයක් දැනෙනවා. සමහරු, පිරිස් අතර ඉදෙද්දි යකුන්ට බයද කියල ඇහුවම, මොන යක්කුද? ඕව බොරු කතා, හොල්මං කියල දෙයක් නෑ, මැරිල ඉපදෙන කෙනෙක් නෑ ... ආදී වශයෙන් ඔහොම කියනවා. එහෙනම් උඹ රෑ 12 ට සොහොනක් ළඟට ගිහින් වරෙන් කියල අභියෝග කළොත් දැන් ඔහු කල්පනා කරනවා. හිතට බයක් දැනෙනවා. ඇත්ත වශයෙන්ම තමන් අර වගේ කතාවක් කිව්වෙ ඇත්තටමද කියලත් හිතෙනවා. මොකද පුද්ගලයගෙ හිත දන්නවා අර වගේ කතා කිව්වෙ නිකං පිට ඔපයට කියල. මෙහෙම දෙයක් ඇත්තටම තියෙන්න පුළුවන්නෙ කියල යටි හිත දන්නවා. අමනුස්සයෙක් ඉන්න පුළුවන්, මොනව හරි කරදරයක් වෙන්න පුළුවන් කියල හිතේ බය තියෙනවා. දැන් ගෙදර තනියෙන් ඉන්න බය නෑ. හැබැයි සොහොනක තනියෙන් ඉන්න බයයි. ඉතින් ඔය වගේ කතා කියන උදවිය අතරින් මං බය නෑ ඕවට කියල කිව්වට, අර වගේ තැනක ඉන්න කිව්වොත් ඔය කියන අයගෙන් 1% ක් වත් ඉන්නෙ නෑ. ඇත්ත වශයෙන්ම බයක් එනවා. මොකද අනිත් අයට මොනව කිව්වත් තමන්ගෙ හිත දන්නවා මෙහෙම දෙයක් නැති වෙන්නෙ නෑ කියල. ඇත්ත වශයෙන්ම එහෙම දෙයක් තියෙන නිසාම තමයි සුදුසුම වෙලාවෙදි ඒක මතු වෙලා එන්නෙ.

මෙන්න මේ වගේ මැරෙන්න ඉස්සෙල්ල මිනිස්සු මොනව කිව්වත් කෙරුවත්, මරණාසන්න මොහොතෙදි ගත හිත දෙකම තමන්ගෙ පාලනයෙන් තොර වෙලා, ඒ හිතට තමන් කරපු කියපු දේවල්වල නිමිති හේතුඵල විදියට ඇදිල ඇවිත් ඒවාට මුහුණ දෙන්න සිද්ධ වෙනවා. නමුත් එතකොට වෙන්න ඕන හරිය වෙලා ඉවරයි. ඉතින් දිනකට විවිධ හේතු නිසා ලෝකෙ මැරෙන මිනිස්සු සංඛ්‍යාව 151,000 ක් විතර වෙනව කියල සමාජ විද්‍යාඥයො ගණන් බලල තියෙනවා. එයින් 99.9%කටත් වඩා ඔය වගේ අවස්ථාවලට මුහුණ දෙනවා. මොකද සත්‍යය යථාර්ථය නොදන අවිද්‍යාවෙන් තණ්හාවෙන් කරපු කියපු ක්‍රියා නිසා. මැරෙන බහුතරය සතර අපාගත වෙනව කියල බුදුන් වහන්සේ දේශනා කළෙත් ඔය කාරණය දිවැසින්, ඥානයෙන් දැක්ක නිසා. (මේ පිළිබඳව 20 වන කලාපයේ ''මැරෙන බහුතරය සතර අපායට යන හැටි'' ලිපියෙන් විස්තරාත්මකව කරුණු ඉදිරිපත් කරල තියෙනවා.)

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# කටී වායුව නිසා හට ගන්නා කොන්දෙ අමාරුව නිට්ටාවට සුව කරන ඖසුවක්....

වහරක අභයරතනාලංකාර හිමියන්ගෙ සමාධියට ඉතාමත් මෑත කාලයක හසු වූ තවත් ප්‍රබල ප්‍රත්‍යක්ෂ ඖෂධයක් තමයි මේ හඳුන්වා දෙන්න යන්නෙ. මේ ඖෂධය සමාධියට හසුවීම සම්බන්ධයෙන් උන්වහන්සේ දක්වූයේ මෙහෙම අදහසක්. ''මේ බේතත් මම සමාධියට සම වැදිල ඉන්න වෙලාවක ආපු දෙයක්. ඒ කියන්නෙ මීට ඉස්සෙල්ලත් සමාධි ගත වෙලා ඉන්න වෙලාවක දියවැඩියාවටයි, වකුගඩු ආබාධයටයි ප්‍රබල බේත් වර්ග 2 ක් මතු වුණා. ඉතින් තවත් ඒ වගේ තියෙන අමාරු රෝග මොනවද කියල මට නිකං ඒ වෙලාවෙ හිතුණා. ඒ කියන්නෙ යම්කිසි කෙනෙකුට අර කලින් ආපු බේත් වගේ, තවත් හොඳ කරන්න බැරි මොනව හරි රෝගයකට බේත් තියෙනවද කියල හැඟීමක් ආවා. ඒත් එක්කම සමාධියක් නැගුණා. එතනදි බේත් සමාධිය කියල එකක් වෙනම එනවා. ඒ කියන්නෙ හැම රෝගයකටම නෙවෙයි, යොමු කරන රෝගයට අනුව ඒ වෙලාවට හිතල තිව්වම සමාධි ගත වෙලා ඉන්න වෙලාවක ක්ෂණයකින් බේත එනවා. ඉතින් ඒ වගේ වෙලාවක, මේ තුනටියේ කටී වාතය කියල අද හඳුන්වන බොහෝ අය දුක් විඳින, හොඳ කරගන්න බැරි රෝගයක් තියෙනව කියල දැනෙන්න පටන් ගත්තා. අන්න ඒ රෝගයට මෙහෙම බේතක් තියෙනව කියල අදහසක් එක්ක සම්පූර්ණ විස්තරයක් ආවා.''

දැන් මේ බේතට ප්‍රධාන වශයෙන්ම ගන්නෙ වල් දෙල් ගහේ දෙල් කොට්ටය කියල හඳුන්වන පිරිමි මල. මේ දෙල් වර්ග ගත්තමත් වල් දෙල්, කොස් දෙල්, රට දෙල් ආදී වශයෙන් විවිධ ප්‍රභේද තියෙනවා. නමුත් මෙතනදි මේ බේතට ගන්නෙ වල් දෙල් ගහේ කොට්ටය. ඒ කියන්නෙ ලෑලි ඉරන්න ගන්න කැලේ හැදෙන විසාල කොළ තියෙන, ඒ වගේම හොඳ කොවුලක් තියෙන මහ විසාල ගහක්. කැලේ හැදෙන නිසා තමයි ඒකට වල් දෙල් කියන්නෙ. මේකට බැදි දෙල් කියලත් කියනවා. එතකොට මේ වල් දෙල් ගහේ පිරිමි මල කියන්නෙ ගෙඩිය නෙවෙයි. ගෙඩියත් එක්කම එන අනිත් මල. ගැහැණු මලින් ගෙඩිය හැදුනට පස්සෙ ඒ පිරිමි මල අහකට වැටෙනවා. අන්න ඒ විදියෙ මලක් හෙවත් වල් දෙල් කොට්ටයක් අරගෙන, ඒකෙ නැට්ට කොටස අහක් කරල කොට්ටය වගේ තියෙන කොටස ගන්නවා.

ඊට පස්සෙ ඒක මැදින් දිග අතට බාගෙට පලල, ඒක ඇතුළට කරඳමුංගු (එනසාල්) ඇට කුඩු, පුරවල තේ හැඳි 1 ක් දානවා. ඊළඟට ඒ දෙල් කොට්ටෙ වටේට තුන් හතර පොළකින් කෙහෙල් පට්ටවලින් ඔතනවා. එහෙම කරන්නෙ අර එනසාල් කුඩු ටික අහකට යෑම වළක්වන්න. ඊට පස්සෙ ඒක දර ලිපක උණු අළු පල්ලෙ දාල



විනාඩි 12 ක් විතර එක දිගට තැම්බෙන්න දෙන්න ඕන. ඊළඟට ඒක අරගෙන අර කෙහෙල් පට්ට ටික ලිහල ඉවත් කරල, කොට්ටෙ වටේ ගෑවිලා තියෙන අළු ටික පිහින්නෙ නැතිව ඒකත් එක්ක දෙල් කොට්ටය පිටින්ම මී ඇට තෙල්වලින් අඹර ගන්නවා. මී ඇට තෙල් බෙහෙත් බඩු කඩයකින් මිලදී ගන්න පුළුවන්. සාමාන්‍යයෙන් ලාටුව වගේ අඹර ගන්න පුළුවන් ප්‍රමාණයට මී ඇට තෙල් තිබුණම ප්‍රමාණවත්. එහෙම හොඳට අඹරල ලාටුව වගේ හැදුනම ඒක අරගෙන අඟල් 5- 6 ක් විතර දිග පළල තියෙන සුදු රෙදි කෑල්ලක තලපෙ වගේ ආලේප කර ගන්නවා. ඒක තුනටිය කැක්කුම තියෙන ප්‍රදේශයේ ප්ලාස්ටරයක් වගේ උදේට අලවනවා. ඒ විදියට පැය 5 ක් විතර තිබුනම ප්‍රමාණවත්. උදේ 7 ට ඇලෙව්ව නම් දවල් 12 ට විතර ගලවනවා. එහෙම උදේට කරන්න අපහසු නම් නිදාගන්න පෙර බේත් ප්ලාස්ටරය අලව ගෙන උදේට නැගිටල ඒක ඉවත් කළත් කමක් නෑ. මොකද පැය 5 ට වැඩියෙන් තිබුණයි කියල ගැටළුවක් නෑ. හැබැයි මොන වෙලාවෙ කළත් ඒක ගලවල අයින් කරල පැය 1/2 ක් යන්න පෙර ඒකාන්තයෙන්ම උණු වතුරෙන් නාන්න ඕන. නමුත් ඔළුව නොතෙමුනාට කමක් නෑ. ඇඟ විතරක් තෙමුනත් ඇති. ඒ තරම් තද රස්නයක් අවශ්‍යත් නෑ, දරන්න පුළුවන් උණු වතුරෙන් නෑවම ප්‍රමාණවත්. නාන කොට විනාඩි 15 ක් 20 ක් වත් හොඳට ඇඟ තෙමෙන්න නාන්න ඕන. මොකද උණු වතුර නෑවෙ නැත්නම් ඒ විස ඇඟේ වෙනත් තැනක එකතු වෙන්න බලනවා.

යම් කිසි විදියකින් උණු වතුර නාන්න බැරි හේතුවක් තියේ නම්, පිට කොන්දෙ උරහිස් දිහාවෙ ඉඳන් කලව ප්‍රදේශයට යනකල් සහ යටි බඩේ සිට පහළට කකුල්වල දණ හිස ළඟට යනකල්ම තවන්න ඕන. පපුව ප්‍රදේශය තවන්න අවශ්‍ය නෑ. ඒ කියන්නෙ උණු වතුර නාන්න බැරි නම් තමයි එහෙම කරන්නෙ. මොකද මේ රෝගයත් එක්ක එන විසක් තියෙනවා. උණු වතුරින් නෑවම හෝ තැව්වම ඒ විස ශරීරයෙන් ඉවත් වෙනවා. නමුත් එහෙම නොකළොත් ඒ විස ගිහින් ශරීරයේ වෙනත් කොහේ හරි රැඳෙනවා. උණු වතුරින් රත්වීම නිසා තමයි ඒ විස සුද්ධ වෙලා යන්නෙ. ඒක ඒ වෙලාවෙ කළේ නැත්නම් පස්සෙ ගල් වෙනවා. ඒ නිසා ඒ බේත් ප්ලාස්ටරය ගලවල පැය 1/2 ක් යන්න පෙර උණු වතුරින් නාන්නම ඕන. එහෙම නැත්නම් තවන්න ඕන.

දැන් මේ ප්‍රතිකාරය පිට පිට දවස් 3 ක් කරන්න ඕන. ඊට පස්සෙ සම්පූර්ණයෙන්ම සුවය එනවා. දවස් 3 කට වැඩිය කළා කියලත් ගැටළුවක් නෑ. නමුත් එහෙම කරන්න තරම් දෙයක් ඉතිරි වෙන්නෙ නෑ. හරියට කළොත් දින 3 න් පස්සෙ සුවය එනවා. එක දෙල් කොට්ටයක් එක් කෙනෙකුට එක වතාවකට සෑහෙනවා. ඒ නිසා දවස් 3 ට දෙල් කොට්ට 3 ක් ඕන වෙනවා. ඉතින් මේක බොහොම පහසු සාර්ථකම බේතක්.

ආයුර්වේදයේ මේ රෝගය හඳුන්වන්නෙ කටී වාතය කියල. ඒක තුනටියේ තියෙන වායුවක් කියල තමයි පෙන්වන්නෙ. ඒක හැදුනට පස්සෙ හරි අමාරුයි, සෑහෙන කාලයක් වද විඳින්න වෙනවා. මේ කාලෙ වෙද්දි බහුලව තියෙන රෝගයක්. මේ රෝගය හැදුනට ☞

පස්සෙ තුනටියේ තියෙන අස්ථි තහඩුවක් දාල ඇණ අල්ලල සම්බන්ධ කිරීම තමයි දැනට රෝහල්වල කරන්නෙ. මොකද තුනටියේ තියෙන අස්ථි ගෙවිල කියල තමයි වෛද්‍ය විද්‍යාවෙන් කියන්නෙ. ඒක ලක්ෂ ගාණක් වියදම් කරල කරන්න ඕන සැත්කමක්. ඉතින් සාමාන්‍ය මනුස්සයෙකුට දරා ගන්න බෑ. ඒ වගේම එහෙම සැත්කමකින් තහඩුවක් දැම්මත් සෑහෙන අමාරුවකින් තමයි ගොඩ එන්නෙ. ඒ කියන්නෙ මාස ගණනක් එකතැන් වෙලා ඉන්න වෙනවා. හරියට ඉඳ ගන්න බෑ. ඒ වගේම සමහර විට ඒ සැත්කම කරපු තැන් පැසවන අවස්ථාත් තියෙනවා.

හැබැයි මෙතනදි මේ අස්ථි ගෙවෙනවයි කියල නවීන වෛද්‍ය විද්‍යාවෙන් කිව්වත් ඇත්තටම අස්ථි ගෙවීමක් නෙවෙයි වෙන්නෙ. කාටිලේජ කියල මේ අස්ථි අතර සනකමට පිහිටන මෘදු සිවියක් තියෙනවා. ඒක වැඩෙන අස්ථිවල මූලික අවස්ථාවක්. ස්පොන්ජ් වගේ තියෙන ඒ මෘදු කොටස නිසා තමයි මේ අස්ථි පිම්බිලා තියෙන්නෙ. නැත්නම් ශරීරයේ තියෙන අස්ථි එච්චර ලොකු නෑ. ඒ මෘදු සිවිය පෝෂණය කරන යම්කිසි කොටසක් තියෙනවා. අන්න ඒ කොටස වේලිලා ඇකිලිලා යෑම නිසා තමයි මේ වගේ රෝගී තත්ත්වයක් එන්නෙ. එතකොට ඒක වේලෙන්න හේතුව ඒවාට පෝෂණය ගෙන එන සිවි අතර තියෙන සිදුරු (හිඩැස්) යම්කිසි විසක් නිසා වැහිල යාම. මේක තවමත් නවීන විද්‍යාවට හරියට හොයා ගන්න බැරි වෙච්ච රෝගයක්. ඉතින් ඒ විස සිවි අතරට වැදුනම දැන් කරන ප්‍රතිකාරවලින් ඒක අයින් කරන්න බෑ. ඒ විදියට අස්ථි ඇතුලට කා වැදිච්ච විස නිසා තමයි මේ තත්ත්වය එන්නෙ. මොකද මේ අස්ථිවල ලේ නහර නැති නිසා කා වැදිච්ච විසක් නැවත අදින්න බෑ. ඒ නිසා ඒක අදින්න නම් කාන්දමක් වගේ යම්කිසි කිරණ ශක්තියක් තියෙන බෙහෙත් ඖෂධයක් ඕන වෙනවා.

බෙහෙත් කිව්වමත් භෞතික කයට දෙන බෙහෙත් වගේම, ඒ සමහර බෙහෙත්වලින් එන කිරණ වර්ග ගිහින් මනෝමය කයට සම්බන්ධ වෙන අවස්ථාත් තියෙනවා. විශේෂයෙන් මේ දෙන සිංහල බෙහෙත්වල මේ ක්‍රම දෙකම තියෙනවා. එතකොට කිරණ වර්ග පිළිබඳව බෙහෙත් ඖෂධ සමාධියක් තියෙන කෙනෙකුට, ඒ කිරණ වර්ගවලින් අදාල රෝගයට සුදුසු කිරණ වර්ගය තියෙන බෙහෙතක් සමාධියෙන් හොයා ගන්න පුළුවන්. ඒ බෙහෙත භෞතික කයට දුන්නත් ඒකෙ තියෙන අර විශේෂිත කිරණ ඇට ඔස්සේ ගිහින් ඇට මිදුළුවලටම කා වැදිල මනෝමය කයටත් සම්බන්ධ වෙනවා.

දැන් මේ කාරණයට උදාහරණයක් ධර්මයෙන් පෙන්වන්න පුළුවන්. බුදුන් වහන්සේ ජීවමානව වැඩ ඉන්න කාලෙ හිටපු වංගීස කියන බ්‍රාහ්මණයා, මියගිය අයගෙ හිස් කබල් පරීක්ෂා කරල බලල ඒ අයට අවසන් මොහොතෙ ඇති වෙච්ච කම්පන වේගය බලල, ඒකෙන් එන යම් පන්නරයක් මුල් කර ගෙන හිස් කබලට තට්ටු කරල එන හඬෙන්, ඒ අය ඊළඟ අත්බැවේ ඉපදිච්ච තැන කියනවා. ඒ විදියට යම් කිසි පුද්ගලයෙක් අපායෙ ඉපදිලාද, මනුස්ස වෙලා ඉපදිලාද, දේව අත්බැවක ඉපදිලාද ආදී වශයෙන් එල්ල කරල කියන්න පුළුවන් හැකියාවක් ඔහුට තිබුණා. එතකොට බුදුන් වහන්සේත් ඒ ක්‍රමය හරි කියල අනුමත කළා. අන්තිමට පිරිනිවන් පාපු රහතන් වහන්සේ නමකගෙ හිස් කබලක් දුන්නම ඒකට අර විදියට තට්ටු කරල කියන්න බැරි වුණා. මොකද ඉපදිච්ච තැනක් නැති නිසා.

එතකොට මේ සිද්ධියෙන් කියන්නෙත් හැම කෙනෙක්ගෙම මානසිකත්වයත් එක්ක ශරීරයේ තියෙන අස්ථිවලටත් ඒ කාරණය බලපාන බව. ඒ



නිසා තමයි ඒ අස්ථිවල මොනව හරි වෙනස් වීමක් සිද්ධ වෙන්නෙ. ඒ වෙනස්වීම නිසා, තට්ටු කරන කොට එන කම්පනයෙන් ඒ පුද්ගලයගෙ මරණාසන්න මොහොතෙ තිබිච්ච මානසිකත්වය හොයන්න පුළුවන්. ඒක අති සියුම් ක්‍රමයක්. ඔන්න ඔය වගේ කිරණමය ශක්තියක් තමයි මේ විසවලිනුත්, බෙහෙත්වලිනුත් ඇට මිදුළුවලටත්, මනෝමය කයට යනකල්ම කා වදින්නෙ. ඒ වගේම මේ කාරණය ඔප්පු වෙන තවත් කතාවක් ධර්මයේ තියෙනවා.

දරුවෙක් දෙමාපියන්ගෙ අවසරයකින් තොරව මහණ කළාම ඒ දෙමාපියන්ට ඇති වෙන්නා වූ දාහය හම පසාරු කර ගෙන, ලේ පසාරු කර ගෙන, මස් පසාරු කර ගෙන, නහර පසාරු කර ගෙන, ඇට පසාරු කර ගෙන, ඇට මිදුළුවලට කාවදිනවා කියල සුද්ධෝදන රජතුමා බුදුන් වහන්සේට දුක් ගැනවිල්ලක් ඉදිරිපත් කළා. ඒ නිසා ස්වාමීනි, දෙමාපියන්ගෙ අවසරයක් නැතිව දරුවන් මහණ කරන්න එපා කියල ඉල්ලීමක් කළා. එතකොට බුදුන් වහන්සේත් ඒ කාරණය අනුමත කළා. දැන් එතනින් පෙන්වන්නෙ ඒ ඇති වන වේදනාව, කම්පනය චිත්ත වේගයත් එක්ක ශරීරයට කා වදින හැටි. ඒ වගේ අවස්ථාවකදි ඒ චිත්ත වේගයත් එක්ක චිත්ත කිරණක් හැදෙනවා. ඒ වගේ මේ භෞතික ද්‍රව්‍යවලත් කිරණ තියෙනවා. ඒවා අපි පාවිච්චියට ගත්තම ඒවායේ තියෙන කිරණත් අර විදියටම තමයි ශරීරය පසාරු කර ගෙන යන්නෙ. ඖෂධ කිරණ, විස කිරණ, සෙත් කිරණ, වස් කිරණ ආදී මේ සියල්ලම යන්නෙත් ඒ ක්‍රමයට. සමහර විස වර්ග පිටින් තිව්වම ඇතුළට පසාරු කර ගෙන ගිහින් විවිධ ප්‍රතික්‍රියා කරනවා.

උදාහරණ විදියට රත් නෙටොල් කියන ගහේ මුලක් නිකං තියා ගන්න බෑ පිච්චෙනවා. ඒ නිසා ඒක යමක ඔතල ඉනේ ගහගෙන ඉස්සර හිටපු මිනිස්සු මගුල් ගෙවල්වල යන ක්‍රමයක් තිබුණා. මොකද වැඩිපුර කෑම කන්න. ඒ කියන්නෙ අර රත් නෙටොල් මුල තියාගෙන ඉන්න තාක් කල් කන බොන ඒවා ඔක්කොම පිච්චිලා යනවා. ඉතින් එක් කෙනෙකුට තුන් හතර ගුණයක් වුනත් කන්න පුළුවන්. ඒ කියන්නෙ ඒ මුලේ තියෙන යම්කිසි කිරණකින් තමයි ඒ ආහාර පිච්චෙන්නෙ. ඒ වගේ විවිධ කිරණ වර්ග විවිධ ශාකවල තියෙනවා. ඒ කිරණ වර්ග විවිධාකාරයෙන් මිනිස් සිරුරට ඇතුල් වෙලා ප්‍රතික්‍රියා කරනවා. මීට පෙර මේ සඟරාවෙ 19 වෙනි කලාපයේ, බුලත් විටෙන් සර්ප විසට ප්‍රතිකාරයක් ගන්න හැටි විස්තර කළා. එතනදිත් බුලත්, පුවක්, හුණු, දුම්කොළ කියන මේ හතරෙන් සර්ප විස පුච්චන එක්තරා කිරණක් තමයි හැදෙන්නෙ. ඉතින් ඔය විදියට ගන්න බුලත් විට ඖෂධයක් කියල කිව්වට හුගක් අය පිළිගන්නෙ නෑ. නමුත් ඒකෙ තියෙන්නෙත් එක්තරා කිරණමය ඖෂධ ශක්තියක්. එහෙම දේවල් මේ ලෝකයේ ඕන තරම් තියෙනවා. නමුත් ඒ ක්‍රම පසු කාලෙක වැහිල ගියා. කෙම් ක්‍රම කියල අද හඳාගෙන තියෙන්නෙත් ඒ වගේ ක්‍රම තමයි. මොකද හේතුව ඒ ක්‍රම භෞතික ඖෂධ සිද්ධාන්තවලින් විග්‍රහ කරන්න බෑ. ඒ නිසා ඒකට කෙමක් කියල කියනවා.

මෙතනදි ක්‍රමයක් කියන වචනය තමයි පසු කාලෙක කෙරෙමය වෙලා අන්තිමට කෙම කියල හැඳුනෙ. ක්‍රම කියන්නෙ සංස්කෘත වචනයක්. සංස්කෘත භාෂාවෙන් තමයි ඔය වෙදකම් බොහෝ කොට ලියල තිබුනෙ. ඉතින් සංස්කෘත පාවිච්චි කරපු උදවිය වයසට ගියාම ක්‍රමයක් කියල කියන්න බැරි නිසා කෙරේමයක් කියල කියන්න ගත්තා.

එහෙමත් කියන්න බැරි සාමාන්‍ය අය කෙමක් කියල කියන්න ගත්තා. ඒ කියන්නෙ ර, ෆ... වගේ මහප්‍රාණ අකුරු දාල කතා කරන්න අමාරුයි. ඒ නිසා ලේසියට නිකං කෙමක් කියල කතා කරනවා. එහෙම තමයි ඒ වචනය එකින් එකට ආවෙ. මොකද හුඟක් වයසට ගියාට පස්සෙ ඒකෙන් වෙන සිද්ධිය විස්තර කරල කියන්න තේරෙන්නෙත් නෑ. භෞතික කයට දෙන බේත් නම් මේක වාතයට ගුණයි, මේක පිතට ගුණයි, මේක සෙම කාරකයි... ආදී වශයෙන් එකින් එකට විග්‍රහ කරල කියන්න පුළුවන්. නමුත් මේ කිරණ වර්ග එහෙම විග්‍රහ කරල කියන්න බෑ. එහෙම කියන්න තේරෙන්නෙත් නෑ. ඒ නිසා ඒකට කෙමක් කියල කියනවා. ඉතින් ඉස්සරත් තිබ්ච්ච ඔය කෙම් ක්‍රම කියන ඒවා බොහොම ප්‍රත්‍යක්ෂ ඖෂධ ක්‍රම. දැන් මේ තුනටියෙ අමාරුවට හඳුන්වා දීපු බේතත් ඔය කෙම් ක්‍රම හා සමානයි. නමුත් ඒක කෙමක්ම නෙවෙයි, භෞතික ඖෂධම තමයි. නමුත් අර කෙම් ක්‍රමය වගේම ක්‍රමයක්. හැබැයි ඒවායේ තියෙන ඖෂධ ශක්ති මොනවද කියල යම් කිසි භෞතික යන්ත්‍ර සූත්‍රවලින් හොයන්න අමාරුයි. මේ වගේ දෙයක් තමයි දැනට හෝමියෝපති කියන වෛද්‍ය ක්‍රමයෙන් කරන්නෙත්. ඒකත් මනෝමය කයට කරන්නා වූ එක්තරා කිරණමය ප්‍රතිකාරයක්. ඒ කිරණමය ප්‍රතිකාරයේ එක්තරා අංශයක් තමයි හෝමියෝපති ක්‍රමයෙන් කරන්නෙ.

දැන් මේ වගේ කිරණමය ප්‍රතිකාර ක්‍රමයක් ඒ කාලෙත් තිබුණ බව ඔප්පු වෙන තැනක් තියෙනවා. ඒ කියන්නෙ ජීවක වෙද මහත්තයට වෙදකම උගන්වපු ගුරුතුමා, බේතකට ගන්නෙ නැති දෙයක් තියේ නම් හොයාගෙන එන්න කියල කිව්වලු. (මේ කාරණය මීට පෙර කලාපයක පළ වූ ''විවිධ ශාකවල සැඟව ගිය ඖෂධ ශක්තීන්'' නම් ලිපිය යටතේ ඉදිරිපත් කළා). ඉතිං එතනදි මේ ලෝකෙ බේතකට නොගන්න කිසිම දෙයක් නැති බව කියනවා. එතකොට ලෝකෙ තියෙන සියළුම දේවල් බේත්වලට ගන්නකොට, අද අපි භෞතිකව බේතකට ගන්නෙ ඉතාම අල්ප මාත්‍රයයි. අනික්වා භෞතිකව බේත්වලට ගන්න බවක් අද දන්නෙ නෑ. නමුත් සියල්ලම බේත්වලට ගන්නෙ ඔන්න ඔය කියන කිරණ ශක්තිය නිසා. හැබැයි ඒ කාරණය දකින්නෙ යම්කිසි දිවැසක් හෝ එබඳු ශක්තියක් තියෙන කෙනෙක්. අන්න ඒ ශක්තියෙන් තමයි ඒ ක්‍රමය අරගෙන, ඒකට අවශ්‍ය ඖෂධ සංයෝග කියල දෙන්නෙ. ඕනම දෙයක් බේත්වලට ගන්නෙ ඔය ක්‍රමයට. ඒ කිරණ ශක්තිය ගැන දන්න අය ඒ අනුව ක්‍රියාත්මක වුණාම ඖෂධ සමාධියක් එනවා. අන්න ඒ සමාධියට තමයි ඔය ක්‍රම එන්නෙ. හැබැයි ඒව නිකං ඉගෙන ගෙන කියන්න පුළුවන් කමක් නෑ. මොකද ලෝකෙ තියෙන බේත් ඖෂධ ප්‍රමාණය ගත්තම කොහොම කියල ඉගෙන ගන්නද? නමුත් අර ශක්තිය ලැබුණම ඒ ඒ ඖෂධ වර්ග හැදෙන හැටි, ඒවා ක්‍රියාත්මක වෙන හැටි ඒ සියල්ලම බේත් සමාධියට ඇදිල එනවා.

ඉතින් ජීවක වෙද මහත්තයටත් තිබුණ නම් තියෙන්න ඕන ඔන්න ඔය වගේ විශේෂ සමාධි ක්‍රමයක්. එහෙම නැතිව උගන්වපු පොත් පත්වල ඔය ඔක්කොම තියෙන්න විදියක් නෑ. මොකද කතාවට කියන්නෙ ජීවක වෙද මහත්තයට උගන්වපු ගුරුවරයටත් අන්තිමට ඒ උගන්වපු බේත් මතක නැතිව ගියා කියල. ඒකට හේතුව විදියට කියන්නෙ, ශක්‍ර දෙවියො ඒ ගුරුවරයගෙ මුඛයට ආරූඪ වෙලා ඊශ්වරගෙන් ගත්තු වෙදකම් ජීවකට කියා දුන්න කියල. ඊශ්වර කියන්නෙ මේ ඖෂධ පිළිබඳ මූලික දෙවි කෙනෙක්. ඉතින් ඊශ්වරගෙන් සක්‍ර දෙවියො අරගෙන තමයි



අර ගුරුතුමාගෙ මුඛයට ආරූඪ වෙලා කිව්වයි කියන්නෙ. ආරූඪය ඉවත් වුනාම ගුරුතුමාටත් මතක නැති වුණාලු මොනවද තමන් කිව්වෙ කියල. මොකද ජීවක වෙද මහත්තය කියන්නෙ පෙරුම් පුරාගෙන බුදුන් වහන්සේට වෙදකම් කරන්න ආපු කෙනෙක්. ඊට අමතරව සංඝයාටත්, රජ පෙළපතටත් එතුමා වෙදකම් කළා. ඉතිං සියළු වෙදකම් දුන්නයි කියන කාරණය යථාර්ථයෙන් බැලුවොත්, **ලෝකයේ තියෙන සියළු වෙදකම් ඉගෙන ගන්න ගියොත් පුද්ගලයගෙ මුළු ජීවිත කාලයත් ඒකට මදි වෙනවා. නමුත් වෙදකමේ සිද්ධාන්ත නම් කියල දෙන්න පුළුවන්.** ඉතිං ජීවක වෙද මහත්තයටත් විශේෂයෙන් පාරමිතා පුරපු ශක්තිය නිසා අර බේත් ඖෂධ සමාධිය ලැබිල තියෙන්න ඕන. ඒකට අර ගුරුවරයා සිද්ධාන්ත ටිකක් කියල දෙන්න ඇති ඉතිරි ඒවා ඒ අනුසාරයෙන් හොයාගන්න. ඊට පස්සෙ ඒ බේත් සමාධියට විවිධ බේත් ක්‍රම අහුවෙනවා. රෝගය දකිනකොට ඒකට අවශ්‍ය කරන ප්‍රත්‍යක්ෂ ඖෂධ, ඒවා හදන ක්‍රම, පාවිච්චි කරන ආකාරය මේ සියල්ලම ඇදිල එනවා. එහෙම ක්‍රමයක් තියෙනවා.

ඉතිං ඒව උගන්වන්න පුළුවන් දේවල් නෙවෙයි. අර වගේ විශේෂ බේත් සමාධියකට ඇදිල එන්නෙ. උදාහරණ විදියට බුදුන් වහන්සේ සැරියුත් හාමුදුරුවන්ට දහමෙ මූල සිද්ධාන්ත කියල දුන්නම උන් වහන්සේට දහම් විග්‍රහ කිරීමේ හැකියාවක් ලැබුණා. එහෙම නැතිව එකක් නෑර හැම එකක්ම කියල දුන්නෙ නෑ. විග්‍රහ කරන ක්‍රමවේදය තමයි කියල දුන්නෙ. ඒකත් එක්කම පාරමිතා ශක්තියත් සමග උන් වහන්සේට දේශනා ශක්තිය නැගිල ආවා.

එතකොට නැවතත් මුල් විස්තරයට යොමු වුනොත්, සප්ත ධාතුවලින් ඇට මිදුළුවලට පෙර තියෙන පස් වෙනි ධාතුව තමයි අස්ථි ධාතුව කියන්නෙ. හැබැයි අස්ථි කියල කිව්වට මේ කියන්නෙ ඝනකම කොටස නෙවෙයි, කාටිලේජ වගේ තියෙන මෘදු කොටස හෙවත් වැඩීමට අවශ්‍ය කරන කොටස තමයි මේ කියන්නෙ. අන්න ඒ කොටසට පෝෂණය ගෙනියන සිදුරුවල විස ගිහින්, ඒව අවහිර වෙලා වේලවල ගියාම තමයි මේ රෝගී තත්ත්වය හට ගන්න හේතු වෙන්නෙ. **තුනටිය, හන්දිපත් ඇතුළු ශරීරයේ අස්ථි තියෙන තැන්වල මෘදු සිවි කොටස වේළනාම තමයි මේ අමාරුව එන්නෙ.** එතකොට අර පසුගිය කලාපයෙන් විස්තර කළා වගේ, මේ ශරීරයට විවිධ ක්‍රමවලින් ඇතුළු වෙන විස තමයි සප්ත ධාතුවලටම එකින් එක ගමන් කරන්නෙ. ඒ කියන්නෙ එකම විස මේ ධාතු කොටස් 7 ටම විවිධාකාරයෙන් ගමන් කරනවා. එතකොට ඒ ඒ ධාතු කොටස් නරක් වුනාම විවිධ රෝගාබාධ හැදෙනවා. ශරීරයේ තියෙන ප්‍රතිශක්තිය අනුව, ඒ වගේම කර්ම ශක්තිය අනුව ඒ කාරණය විවිධ පුද්ගලයින්ට විවිධාකාරයෙන් බලපානවා.

ඒ විස යම්කිසි විදියකින් අස්ථිවලට ගිහිල්ල තමයි දෙවනුව ඇට මිදුළුවලට යන්නෙ. මේ අස්ථිවලට ගියොත් එහෙම එතනදිත් ඒ විස රැඳෙන තැනක් තියෙනවා. එහෙම රැඳුනම අර මෘදු සිවිය වේලිලා ගිහින් ඒ වේලිච්ච සිවි එකතු වෙලා තමයි එක්ස් කිරණ ඡායා පිටපත් (X ray) වලට පේන්නෙ. ඒ කියන්නෙ ඇත් වෙලා තිබ්ච්ච අස්ථි දැන් ගෙවිල ඇකිලිලා ළං වෙලා වගේ පේනවා. එතකොට කියනව මේ අස්ථි ගෙවිල කියල. ඊට පස්සෙ ඒ ගෙව්ච්ච අස්ථි උස්සල තියන්න (ළං වෙන්නෙ නැති වෙන්න) කෘතිම විදියට තහඩුවක් අල්ලනවා. ඒක ටයිටේනියම් වගේ ලෝහයකින් ඇණ දාල අල්ලන ලක්ෂ 4 - 5 ක් හෝ සම්පූර්ණයෙන් පෞද්ගලික රෝහලකින් කරනව නම් ඊටත් වැඩිය වියදම් වෙන සැත්කමක්. ඉතින් ඒක දාල කොඳු ඇට පෙළ තද වෙන්නෙ නැති වෙන්න තුනටිය ළඟින් උස්සනවා. ☞

එතකොට ඒකෙ ආධාරයෙන් තමයි කොඳු ඇට අතර කෙටෙන්නෙ නැති වෙන්න තියෙන්නෙ. එහෙම නැත්නම් අර සිවිය වේලීම නිසා අස්ථි (කොඳු ඇට) අතර කෙටෙනවා. එහෙම කෙටුනම හරි කැක්කුමයි. ඒක තමයි මේ රෝගයක් විදියට එන්නෙ. ඒක හැදුනට පස්සෙ බේත් නෑ, අර සැත්කම තමයි දැනට කරන්නෙ.

ඉතින් මේ රෝගී තත්ත්වය ඔඩු දුවන්න ඉස්සෙල්ල විවිධ මට්ටම්වලින් එනවා. මුලින්ම එක්තරා මට්ටමකට තමයි ඒ අස්ථි ධාතු වේලවල නරක් වෙන්නෙ. එතකොට පොඩි පොඩි දේශීය ප්‍රතිකාරවලින් යම් කිසි කාලයක් අල්ලගෙන ඉන්න පුළුවන්. නමුත් විස කා වැදිල හුගක් වේලුනාම තත්ත්වය දරුණු වෙනවා. ඊට පස්සෙ කිවිසුමක් ගියත් නැගිට ගන්න අමාරු තත්ත්වයක් අන්තිමට එනවා. එතකොට තමයි අර සැත්කම කරල තහඩු අල්ලන්නෙ. ඒ මට්ටමට එනකල් පොඩි පොඩි තාවකාලික සිංහල බේත් ක්‍රම හැරෙන්න වෙන බේතක් දැනට නෑ.

මේ වගේ අවස්ථාවක එහෙම වියදමක් නොකර මේ රෝගය නිට්ටාවට සුව කර ගන්න පුළුවන් බෙහෙතක් තමයි මේ හෙළි කළේ. ඒ බේතෙන් කිසිම අතුරු ආබාධයක් නැතිව දවස් 3 ක් යන කොට අර මෘදු සිවිය පෝෂණය වෙනවා. ඊට පස්සෙ කැක්කුම නැති වෙනවා. නැවතත් ඒ තත්ත්වය එන්නෙ නෑ. මොකද ඒ විස ශරීරයෙන් අහකට යනවා. ඒ විස ශරීරයෙන් ගැලවුනාට පස්සෙ ඉවත් කරන්න තමයි උණු වතුර නාන්න හෝ තවන්න ඕන කියල කිව්වෙ. එහෙම නැත්නම් ඒ විස ගිහින් වෙනත් තැනක රැඳුනොත් එහෙම එතන තද වෙලා ඒ රෝගී තත්වය නැවතත් වෙන තැනකින් මතු වෙන්න බලනවා. මොකද සමහර විට ඒ විස එතැනින් ඉවත් වෙලා කකුල්වල උකුල් ඇටයට සම්බන්ධ වෙන ගෝල කුහර සන්ධිවල රැඳෙන්න පුළුවන්. එහෙම වුනොත් යන්න එන්න බැරිව කොර වෙනවා. ඒ වගේම උර හිස ළඟ අත් ඇටයට ගියොත් එතන තියෙන ගෝල කුහර සන්ධියේ රැඳෙනවා. එතකොට අත් හොල්ලන්න බැරි වෙනවා. ඒ වගේම දණ හිසට, වළලු කරට ගිහින් හිටියොත් ඒ ස්ථාන හිර වෙනවා. ඒ වගේ තවත් ස්ථානවලට ඒ විස ගමන් කරන්න පුළුවන්. අන්න ඒ භයානකත්වය නිසාම තමයි මේ බේත පාවිච්චි කළාට පස්සෙ අනිවාර්යෙන්ම උණු වතුරින් නාන්න හෝ තවන්න ඕන කියල කිව්වෙ. එහෙම උණු වතුරින් තැව්වම ඒක එතනින් ලේවලට ගෙනිහින් දාල සුද්ද කරනවා. නැවත කොතැනකවත් රැඳෙන්නෙ නෑ. ඒ නිසා නැවතත් බාහිරින් විසක් ඇතුල් වුනොත් මිසක් ඒ රෝගී තත්ත්වය නැවත එන්නෙ නෑ. හැබැයි **මේ බේත විතරක් නෙවෙයි, මොන බේතක් වුනත් කෙනෙකුට ප්‍රත්‍ය වෙද්දි ඒ පුද්ගලයගෙ ඒ අවස්ථාවෙ තියෙන කර්ම ශක්තියත් ඒකට බලපානවා. ඒ නිසා ඒ අවස්ථාවෙදි බලවත් කර්ම වේගයක් තියේ නම් සමහර විට ඒ බේත් අහන්නෙ නැතිව යන්න පුළුවන්. ඒක පුද්ගලයගෙ කර්ම දෝසයක් මිසක් බේතෙ වරදක් නෙවෙයි. ඒ නිසා මේ කියන ප්‍රත්‍ය වීම / සුව වීම කර්ම ශක්තියටත් යටත්වයි තේරුම් ගන්න ඕන.**

ඉතින් මේ විදියට හදපු බේතෙන් බොහොම සාර්ථකව මේ වෙන කොට ඒ කියපු විදියට ප්‍රතිඵල ලබාගන්න පුළුවන් වෙලා තියෙනවා. ඒ විදියට මේ බේතෙන් මෙවරත් ඉස්සෙල්ලම සාර්ථක ප්‍රතිඵල ලබාගත්තෙ රජයේ බටහිර වෛද්‍යවරයෙක්. ඒ තමයි මේ බේත් වර්ග බොහොමයක් හදල අත් හදා බලන නෙළුව සෞඛ්‍ය වෛද්‍ය නිලධාරී කැළුම් ලංකේශ්වර මහතා. මේ ඔහුගේ අත්දැකීම්.

''මට මේ කියන තුනටියෙ



අමාරුව මුලින්ම හැදුනෙ 2010 වසරෙදී. මම ඒ දවස්වල රාජකාරී කටයුතුවලට පවා ගියේ හරිම අමාරුවෙන්. මුල් වතාවෙ මාසයක් විතර යන කල් නැගිට්ටෙ, ඇවිද්දෙ බොහොම අමාරුවෙන්. X ray ගත්තම ඒවායෙ ප්‍රශ්නයක් නෑ කිව්වා. එහෙම තිබිල මාසයකින් විතර අඩු වෙලා ගියා. නැවතත් මාස 8 කින් විතර රෙදි කැල්ලක් මදින කොට අර කලින් විදියටම අමාරු වුණා. ඊට පස්සෙ ගමේ සිංහල වෙද මහත්තයෙක්ගෙන් වෙදකම් කළා. එහෙම සති 3 ක් විතර වෙදකම් කළාට පස්සෙ අඩු වෙලා ගියා. එහෙම ගිහින් අවුරුද්දකට විතර පස්සෙ නැවතත් නැගිටින්න බැරි විදියටම තුනටියෙ අමාරුව හැදුණා. ඊළඟට මීරිගම පැත්තෙ වෙද මහත්තයෙක්ගෙන් සති 2 ක් විතර ප්‍රතිකාර ගත්තම නැවතත් අඩු වෙලා ගියා. එහෙම අඩු වෙලා අවුරුදු 2 ක් විතර නැතිව හිටියා. නැවතත් මාස 2 කට විතර උඩදි අර විදියටම තුනටියෙ අමාරුව හැදුනා. ඒ අවස්ථාවෙ තමයි වහරක හාමුදුරුවන්ගෙන් මේ බේත ගැන දැනගන්න ලැබුණෙ. ඉතින් ඒ බේත ඒ කියපු විදියටම හදාගෙන දවස් 3 ක් පාවිච්චි කරනකොට නැගිටල හොඳින් වැඩ කරන්න පුළුවන් වුණා. මම ඉතින් වැඩි හොඳට කියල තවත් අමතර දවස් 2 ක් විතර ඒ බේත ඒ විදියටම පාවිච්චි කළා. දැන් ඉතින් හොඳටම සනීපයි. මෙච්චර දරුණු අමාරුවක් විශේෂ වියදමක් නැතිව, ඒ වගේ ස්වභාවිකව හදාගත්ත බේතකින් සනීප වුනයි කියන්නෙ හරි පුදුම දෙයක්. ඉතින් ඒක මේ රෝගයෙන් පීඩා විඳින රෝගීන්ට හඳුන්වා දෙන්න පුළුවන් නම් ඒකෙ වටිනාකම කියල නිම කරන්න බෑ.''

ඒ වගේම මේ බේත හදන්න ගන්න වල් දෙල් කොට්ටත් හැම කාලෙටම නෑ. ඒ නිසා තියෙන කාලෙට අරගෙන වැඩිපුර පල්පයක් වගේ හදල තියාගන්නත් පුළුවන්. හැබැයි හුළං නොවදින්න තියාගන්න ඕන. මොකද නැත්නම් පුස් කන්න බලනවා. ඒ නිසා මේ බේත හදා ගත්තට පස්සෙ ඒකෙ තියෙන තෙතමනය ඉවත් කර ගන්න සාමාන්‍ය මඳ රස්නය තියෙන ලිපක පදම් කර ගන්න පුළුවන්. මඳ රස්නෙට ලිපේ තියල සාමාන්‍යයෙන් වරුවක් විතර යන කොට ඒ බේතෙ තියෙන පුංචි තෙතමනය කොටස අයින් වෙනවා. එහෙම තෙතමනය අයින් වුණාට පස්සෙ හුළං නොවදින විදියට පොලිතින් උරවල ඔතල භාජනයක දාල අවශ්‍ය වෙලාවට ප්‍රයෝජනයට ගන්න අවුරුද්දක් විතර කල් තියාගන්න පුළුවන්. කල් තියාගන්නෙ නැතිව එවෙලෙට පාවිච්චි කරනව නම් ඒක කරන්න අවශ්‍ය නෑ. හැබැයි මේ දෙල් කොට්ට අහුල ගෙන බේත නොහද කල් තියාගෙන, පස්සෙ බේත හදා ගන්න පාවිච්චි කරන්න බෑ. මොකද දෙල් කොට්ටය අමුවෙන් තියෙන වෙලාවෙ තමයි ඒ බේතට අවශ්‍ය කරන රසායනික සංයුතිය තියෙන්නෙ. ඉතින් දෙල් කොට්ටයක් ගහෙන් වැටුනොත් ඒක දවස් 2 - 3 ක් ඇතුලත බේත හදා ගන්න පාවිච්චි කරන්න පුළුවන්. ඒ නිසා පරණ වෙච්ච දෙල් කොට්ට මේකට යොදා ගන්නෙ නෑ. ගහෙන් වැටෙන කොට අමු ගතිය තියෙද්දි අහුල ගන්න ඕන. එහෙම නැත්නම් වැටෙන්න පෙර ගහෙන් කඩල ගත්තත් ගැටළුවක් නෑ. එතකොට මේ වල් දෙල් කොට්ට හැම කාලෙටම හොයා ගන්න බැරි නිසා ඒවා නැති වුනොත් මේ රෝගයට ඉදිරියේදි, තවමත් අත් හදා බලමින් පවතින තවත් බේතක් හෙළි කරන්න බලාපොරොත්තු වෙනවා.

**සටහන**

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# හය ආකාර වූ සත්කාය දෘෂ්ටිය සහ දහසය ආකාර වූ විචිකිච්ඡාව

***(පසුගිය කලාපයෙන්: ආත්ම සංකල්පයෙන් පටන් ගත් විසි ආකාර වූ සත්කාය දෘෂ්ටිය.....)***

විසි ආකාර වූ සත්කාය දෘෂ්ටිය කැටි කරල තවත් හය ආකාරයකින් කළ විග්‍රහයක් සහ මේ සත්කාය දෘෂ්ටිය නිසා ඇති වන්නා වූ විචිකිච්ඡාව ගැන තමයි මේ විස්තර කරන්නෙ. (මජ්. නි. 1 - සබ්බාසව සූත්‍රය) නමුත් ඇත්තටම මෙතනදි බමුණන් විසින් හය ආකාරයකින් හදා ගත්තු ආත්ම දෘෂ්ටිය තවත් විග්‍රහ කරල දෙන්න ඕන නිසා තමයි බුදු දහමේ විසි ආකාරයකින් ඉදිරිපත් කරල තියෙන්නෙ.

දැන් මේ ආත්ම දෘෂ්ටිය ගත්තම ප්‍රධාන වශයෙන් දෘෂ්ටි 2 ක් තියෙනවා. අත්ථී මේ අත්තාති (ආත්මයක් ඇත) - නත්ථී මේ අත්තාති (ආත්මයක් නැත) - කියල හඳුන්වන්නෙ ඒ මූලික දෘෂ්ටි දෙක. ඉස්සෙල්ලම ආත්මය කියන වචනයේ මූලික අර්ථ නිරූපනය ගත්තොත් ''නිච්චෝ දුවෝ සස්වතෝ අවිපරිණාම ධම්මෝ'' කියන්නෙ **ආත්මය පෙළන්න බෑ, වෙනස් වෙන්නෙ නෑ, ස්ථිරයි, සදාතනිකයි, විපරිණාමය වෙන්නෙ නෑ කියන එක.** ඒ තමයි මම හෙවත් ආත්මයේ මූලික ස්වභාවය. මේ ශරීරය මෙහෙයවන්නෙ, මේ ශරීරයෙන් යන්නෙ එන්නෙ, කන්නෙ බොන්නෙ, අහන්නෙ බලන්නෙ, දුක සැප විඳින්නෙ, පිං පවු ගෙවන්නෙ, කයින් කයට යන්නෙ, මේ සියලු කටයුතු කරන්නෙ ඒ සදාතනික ආත්මයයි කියන දෘෂ්ටිය තමයි මේ හයෙන් හය වෙනියට විග්‍රහ වෙන්නෙ. ඒ හය වෙනි දෘෂ්ටිය ඉස්සෙල්ලම විග්‍රහ කළේ ආත්මයේ මූලික ස්වභාවය පෙන්වන්න. දැන් ඔය කියපු ජාතියේ ආත්මයක් ඇත කියන්නෙ ඒ දෘෂ්ටි 6 න් පළවෙනි දෘෂ්ටිය. ඒ කියන්නෙ මෙහෙම ආත්මයක් තියෙනවද නැද්ද කියල ඇහුවම තියෙනව කියනවා. අන්න ඒ තියෙනවයි කියන ආත්මයෙන් කරන වැඩ පිළිවෙල තමයි අර හය වෙනි එකෙන් විග්‍රහ කරන්නෙ.

ඊළඟට තව පිරිසක් භෞතිකවාදී අදහස් අරගෙන මෙහෙම කියනවා. ''ඕව බොරු කතා, ඔහොම ආත්මයක් නෑ, ආත්මයක් තියෙනව නම් විඳින්න වෙනවයි කියන කාරණය අපිත් පිළිගන්නවා, නමුත් ආත්මයක් කියල දෙයක් නෑ. උපන්නා, පණ ආවා, මළා, මොනව කළත් එච්චරයි. ඒ නිසා පිං පවු කළයි කියල කිසි වෙනසක් නෑ. ගුණ ධර්ම කියල කියන්නෙ එක එක්කෙනා කන්න හදා ගත්තු සූත්‍ර. ඉතින් පිං පවුවලට, දුෂ්චරිතවලට බය වෙන්න දෙයක් නෑ. හොඳට කාල බීල ඉන්න



එකනෙ තියෙන්නෙ'' මෙන්න මේ අදහස තමයි නත්ථී මේ අත්තාති හෙවත් **ආත්මයක් නෑ කියන දෘෂ්ටියෙන් ගත්ත උච්ඡේද වාදය.** ඒක තමයි දෙවෙනි දෘෂ්ටිය. මෙතනදි ආත්මයක් නැහැයි කියල කිව්වත්, ආත්ම කතාව මුල් කරගෙන හදාගත්තු දෘෂ්ටියක් නිසා මේකත් ආත්ම දෘෂ්ටියක්. ඒ කියන්නෙ මේ ආත්මයක් නැත කියන කාරණයත් ඇවිත් තියෙන්න ආත්ම සංකල්පය මුල් කරගෙනමයි.

එතකොට සත්කාය කියල කියන්නෙ බුදු දහමේ පෙන්වන පංච උපාදානස්කන්ධයට. ඒ පංච උපාදාන-ස්කන්ධයත් දෘෂ්ටියක් වශයෙන් ගන්න කොට තමයි සත්කාය දෘෂ්ටිය කියන්නෙ. බමුණන්ගෙ වචනවලින් මේකට කියන්නෙ ආත්ම දෘෂ්ටිය කියල. ඒ වචනයම තමයි මේ පංච උපාදාන ස්කන්ධයට දාල විග්‍රහ කරන නිසා සත්කාය දෘෂ්ටිය කියල කිව්වෙ. ඉතින් ආත්මයක් ඇත / නැත කියන්නෙ බමුණන්ගෙ දෘෂ්ටි දෙකක්. එතකොට ඒක සත්කායත් එක්ක කියන්න ගියාම බුදු දහමයි, බමුණු දහමයි පටලවා ගන්නවා. ඒ නිසා දැන් මේ බමුණො කියන හැටියට තමයි මේ දෘෂ්ටි 6 විග්‍රහ කරන්නෙ.

ඊළඟ දෘෂ්ටිය තමයි අත්තාව අත්තානං සංජාමීති කියන්නෙ. ඒ කියන්නෙ **මම හෙවත් ආත්මය විසින් ආත්මය හඳුන ගත්තා කියන එක.** ආත්මය ඉන්න බව හඳුන ගත්ත කියන්නෙ, අතීතයේ පටන් ''මම'' කියල කෙනෙක් ඉන්නව කියල දැක්කයි කියන එක. දිවැස් පහළ වෙච්ච සමහර උදවියට පේන එකක් තමයි මේ ඒ විදියට අර්ථ දක්වන්නෙ. ඉතින් ඒ අතීතයේ තිබ්බච ආත්මයම තමයි මේ දැන් තියෙන්නෙත් කියනවා. ඉස්සරත් මේ වගේම ආත්මය හිටිය කියනවා. මේ විදියට ආත්මය විසින් ආත්මය හඳුන ගත්තයි කියල ඒ අය කියනවා.

ඊළඟට තව පිරිසක් කියනවා අනත්තාව අත්තානං සංජාමීති කියල. අනත්ථ කියන වචනය එතනදි භාවිතා කරල තියෙනවා. ආත්මයක් නෑ කියන එක තමයි ඒකෙන් කියන්නෙ. හැබැයි **දැන් නැති වුණාට මරණයෙන් පස්සෙ ආත්මය ස්ථිරවම තියෙනවයි කියනවා.** ඒ දෘෂ්ටියට අනුව දැන් ජීවත් වෙලා ඉඳෙද්දි මම කියල කිව්වට, මෙතන නෙවෙයි ආත්මය තියෙන්නෙ, මේ තියෙන්නෙ කැඩෙන බිඳෙන වැනසෙන දෙයක්, මෙතනින් මළාට පස්සෙ ආත්මය සදාතනිකයි. ඒ කියන්නෙ රූප අරූප බඹ ලොව ඉපදුනාට පස්සෙ ඇති වෙන තත්ත්වය ඒ අය කල් තියා දැනගන්නවා. මොකද ධ්‍යාන ලාභීව ඉන්න අයට ධ්‍යාන අරමුණු විදියට ඒ වගේ දේවල් පේනවා. ඒ වඩන කර්මස්-ථානයකින් ආලෝකය දැක්කට පස්සෙ ඒක ආත්මය කියල ඒ අය රැවටෙනවා. හැබැයි ඒක තියෙන්නෙ දැන් නෙවෙයි, මළාට පස්සෙයි කියනවා. ඒ කියන්නෙ **අනාත්මයේ ඉඳල**

**ආත්මය හඳුන ගත්තයි කියනවා.** මේ තමයි හතරවෙනි දෘෂ්ටිය.

ඊළඟට පස් වෙනි දෘෂ්ටිය තමයි අත්තාව අනත්තානං සංජාමීති කියන්නෙ. ඒ කියන්නෙ **ආත්මයේ ඉඳල ආත්මයක් නෑ කියල හඳුන ගන්නවා.** ඒ අය ඒකට මෙහෙම තර්කයක් තමයි ඉදිරිපත් කරන්නෙ. ''දැන් මේ ජීවත් වෙන කොට මෙතන නම් ආත්මයක් තියෙනව කියල පේනවා. මොකද මම කියල යන එන, කන බොන, කරන කියන ඒව ඔක්කොම අපිට පිළිගන්න පුළුවන්. නමුත් මළාට පස්සෙ ඒ ආත්මය ඉවරයි.'' මේ කියන්නෙ හතර වෙනි දෘෂ්ටියේ විරුද්ධ පැත්ත. එතකොට හය වෙනි දෘෂ්ටිය තමයි මුලින්ම විස්තර කළේ.

ඊළඟට මේ ආත්ම දෘෂ්ටිය පොදුවේ නම් 6 කින් හඳුන්වනවා.

1. දෘෂ්ටිගතං (දෘෂ්ටිගතව)
2. දෘෂ්ටිගහනංවා (දෘෂ්ටියෙන් වැහිල ගියා, ගහණය වුණා)
3. දෘෂ්ටි කාන්තාරෝ (දෘෂ්ටි කාන්තාරයක් වගේ දෘෂ්ටියෙන් දැවෙනවා)
4. දෘෂ්ටි විසූකං (දෘෂ්ටිය උසුළු විසුළු තත්ත්වයට, නිකං විහිළුවක් බවට පත් වුණා)
5. දෘෂ්ටි විප්පංදිතං (දෘෂ්ටිය නිසා කම්පනය වෙනවා)
6. දෘෂ්ටි සංයෝජනං (දෘෂ්ටිය නිසා ඒකට බැඳෙනවා).

සත්කාය දෘෂ්ටිය හඳුන්වන්නත් මේ වචන 6 පාවිච්චි කරනවා. සත්කාය දෘෂ්ටිය කිව්වත්, ආත්ම දෘෂ්ටිය කිව්වත් මේ හය තමයි විග්‍රහ වෙන්නෙ. දැන් මේ හය ආකාරය විග්‍රහ කළේ බමුණන්ගෙ ක්‍රමයට. ඒකම තමයි විසි ආකාරයට අරගෙන පංචස්කන්ධයට දාල බුදු දහමින් විග්‍රහ කළේ.

ඊළඟට බමුණන්ට අනුව 16 ආකාරයක සැකයක් ගැන විග්‍රහ වෙනවා. ඒකම තමයි බුද්ධාදී අට තැන පිළිබඳ සැකය (විචිකිච්ඡාව) කියල වෙනත් විදියකින් බුදු දහමේ විග්‍රහ කරල තියෙන්නෙ. මේ සැක අටක කතාවෙන් පෙන්වන්නෙත් බමුණො 16 ආකාරයකින් පෙන්වපු සැකයමයි.

දැන් මේ සත්කාය දෘෂ්ටිය සහ විචිකිච්ඡාව (අද සැකය යනුවෙන් හඳුන්වන) අතර සම්බන්ධය මොකක්ද කියල කෙනෙක් අහන්න පුළුවන්. අර පෙන්වපු සත්කාය දෘෂ්ටිය නිසාමයි මේ විචිකිච්ඡාව (සැකය) මතු වෙන්නෙත්. ඒ තමයි සම්බන්ධය. අර කලින් පෙන්වපු විදියට නිච්ච වූ සාස්වත වූ ... ආදී වශයෙන් කියන ආත්මයක් තියෙනව කියල ගත්තට පස්සෙ, ඒ ගැන බොහෝ දෙනෙකුට විවිධ මත එනවා. ඒව තමයි මීට කලිනුත් විග්‍රහ කළේ. ඒ ආත්මය තියෙනවද? එතකොට ඒ ආත්මය වෙනස් වෙන එකක්ද? කොහේ ඉඳන් එනවද? කොහොම එනවද? ... මේ ආදී වශයෙන් විවිධ ප්‍රශ්න නගනවා.

එතකොට අතීතයේ මම (ආත්මය) වූයෙම්ද? නොවූයෙම්ද? කවරෙක් වූයෙම්ද? කෙසේ වූයෙම්ද? කවරෙක්ව සිට කවරෙක් වූයෙම්ද? මේ තමයි **අතීතය ගැන පස් ආකාරයක විචිකිච්ඡාව.** (අද කියන විදියට සැකය)

ඊළඟට අනාගතයෙදි මම (ආත්මය) වෙම්ද? නොවෙම්ද? කවරෙක් වෙම්ද? කෙසේ වෙම්ද? කවරෙක්ව සිට කවරෙක් වෙම්ද? මේ තමයි **අනාගතය ගැන එන පස් ආකාරයක විචිකිච්ඡාව.**

ඊළඟට දැන් මේ කාලයේ (වර්තමානයේ) මම වෙම්ද? නොවෙම්ද? කවරෙක් වෙම්ද? කෙසේ වෙම්ද? කොහි සිට ආවෙම්ද? කොහි යන්නෙම්ද? මේ තමයි **වර්තමානය ගැන විචිකිච්ඡා හය.** එතකොට ඔක්කොම විචිකිච්ඡා (සැක) 16 යි. ඒ තමයි බමුණන්ට අනුව සැක 16. ඉතින් සෝවාන් වුනාට පස්සෙ මේ ඔක්කොම විචිකිච්ඡා (සැක) ඉවරයි. ඒ කියන්නෙ මේ 16 යි, 8 යි ආදී වශයෙන් කියන ඔක්කොම විචිකිච්ඡා (සැක) ඉවරයි. ඒක තමයි අද සැකය කියල හඳාගෙන තියෙන්නෙ.

බුදු දහමෙ පෙන්වන්නෙත් ඔය 16 ම තමයි. මේ 16 ආකාරයක සැකය නිසාම තමයි බමුණන්ට ප්‍රශ්න තිබුණෙ. එතකොට පිරිසක් මෙහෙම කියනවා. ''මේ මම (ආත්මය) කියන සදාතනික කෙනා ඒකාන්තයෙන් ඉන්නවා. කවුරු හරි මම කියල කෙනෙක් ඉන්න බව අපිට විස්වාසයි. ඒක නෑ කියන කෙනා බුදුන් කියල අපි පිළිගන්නෙ නෑ. බුදුන් නම්, සර්වඥනම් ඒකාන්තයෙන්ම අපේ ප්‍රශ්නවලට උත්තර දෙන්න ඕන. අපේ ප්‍රශ්න ඒකාන්තයෙන්ම සත්‍ය වූත් වැදගත් ප්‍රශ්න. නොවැදගත් ප්‍රශ්න නෙවෙයි.'' මේ තමයි ඒ අය පිහිටපු මතය. ඉතින් ආත්මයක් නෑ කිව්වොත් ඒ අය කොහොමටවත් ඒක පිළිගන්නෙ නෑ. එතකොට මම (ආත්මය) කියල කෙනෙක් ඉන්නවද කියල ඒ අය ඇහුවම, ඉන්නව කියල කිව්වොත්, කවුරු වගේද? කෙසේද? කොහෙද ඉන්නෙ? කොහෙන්ද එන්නෙ? හැඩය කොහොමද? කළුද සුදුද? ලොකුද පුංචිද? ඉන්නව නම් ඉන්න තැන හරියටම කියන්න. නිකං වනල කියල හරි යන්නෙ නෑ .... මේ විදියට දැන් කෙළවරක් නැති ප්‍රශ්න අහනවා. දැන් ඒක තමයි ඒ අයට තියෙන ලොකුම ප්‍රශ්නය.

ඉතින් ඒ අයට සැක තියෙන ඔය කාරණා තමයි ප්‍රශ්න විදියට ඉදිරිපත් කරන්නෙ. යම් කෙනෙක් බුදුන් නම්, මේ සැක ටික ඇරල දෙන්න ඕන කියල තමයි ඒ අය කියන්නෙ. ඒ වෙලාවෙදි මම (ආත්මය) කියල කෙනෙක් නෑ කිව්වොත්, ඒව එකක්වත් කතා කරන්න එපා, මම කියල කෙනෙක් ඒකාන්තයෙන්ම ඉන්නවයි කියනවා. ඉතින් බුදුන් වහන්සේ ඒ අයගෙ ප්‍රශ්නවලට මොන උත්තරයක් දුන්නත් ඒ අය ඒක පිළිගන්නෙ නෑ. මේ ප්‍රශ්නවලට කෙලින්ම උත්තර දෙන්නෙ නැති කෙනා අපි බුදුන් කියල පිළිගන්නෙ නෑ කියනවා.

අන්න එතකොට බුදුන් පිළිබඳව ඒ විදියට ඇති වන සැකය තමයි **බුද්ධේ කංඛති විචිකිච්ඡති** කියන්නෙ. ක + අංක + ඉති - කංඛති. අංකයක්, තැනක් දෙන්නෙ නෑ, අංක ක්‍ෂය වුනා. ඒ කියන්නෙ මේ අය බුදුන් වහන්සේ ගණන් ගන්නෙ නෑ. ඒක තමයි කංඛති කියන්නෙ. දැන් විචිකිච්ඡා කියන වචනය ගත්තමත් ඒ විදිය තමයි. විචිකිච්ඡා (විචි + කි + ඉච්ඡා - විකෘති කටයුතුවලට කැමතියි) බුදුන් වහන්සේව ගණන් ගන්නෙ නැත්නම් ඒ අය විකෘතියට තමයි කැමති. එතකොට ප්‍රකෘතියයි, විකෘතියයි තෝර ගන්න ඕන. ප්‍රකෘතිය නිවන, විකෘතිය ලෝකය. ඉතින් මේ බමුණු මතය දරන අය බුදුන් වහන්සේ නිවන් මග පෙන්වල දුන්නට කවදාවත් ඒක පිළිගන්නෙ නෑ, ගණන් ගන්නෙ නෑ, ඒ ගැන සැක කරනවා. බුදුන් වහන්සේ ගණන් ගන්නෙ නැත්නම් ප්‍රකෘතිය හෙවත් නිවන ගණන් ගන්නෙත් නෑ. නිවනට විරුද්ධ දේට තමයි කැමති. එතකොට ඒ විකෘතියට තියෙන කැමැත්ත තමයි විචිකිච්ඡා කියන්නෙ. විකෘති කටයුතු කරන්නෙත් ඒ නිසා. කංඛති, විචිකිච්ඡා කියන දෙක තෝර ගන්න ඕන ඒ විදියට. එහෙම නැතුව නිකං සැකය කියල බෑ. මොකද සැකය කියන වචනය ගත්තම බොහොම පටු අදහසක් තමයි එන්නෙ. නියම අදහස එන්නෙ නෑ.

ඊළඟ විචිකිච්ඡාව තමයි **ධම්මේ කංඛති විචිකිච්ඡති** - බුදුන් වහන්සේ දහම දේශනා කරන කොට ඕව ගණන් ගන්න එපා, මුලාවක් කියල ඒ අය කියන කොට ඒ අය ඒ දහම පිළිගන්නෙත් නෑ, ඒක වැරදියි කියනවා. ''බුදුන් නම් මේ ප්‍රශ්නවලට උත්තර දෙන කෙනා තමයි ධර්මය දන්නව කියල අපි පිළිගන්නෙ. වෙනත් කෙනෙක් බුදුන් වෙන්නෙ නෑ. බුදුන් හැබෑ නම් අපේ ප්‍රශ්නවලට උත්තර දිය යුතුමයි. අපේ ප්‍රශ්න ප්‍රතික්ෂේප කරන්න බෑ. එහෙම දෙයක් නෑ කියල කියන එකක්වත් අපි

පිළිගන්නෙ නෑ. බුදු කෙනෙක් නම් ඒකාන්තයෙන්ම අපේ ප්‍රශ්න විසඳන්න ඕන. ඔය කියන ධර්මය අපේ ප්‍රශ්න විසඳන එකක් නෙවෙයි. ඔය මොනවද කියන්නෙ? අපේ ප්‍රශ්න ප්‍රතික්ෂේප කරන එකක්නෙ ඔය.'' මේ තමයි බුදුන් වහන්සේගෙ ධර්මයට ඒ අය දෙන උත්තරය. ඉතින් ධර්මය ගණන් ගන්නෙ නෑ. ධර්මය කියන්නෙ නිවන් මග. නිවන තමයි ප්‍රකෘතිය. විකෘතිය තමයි ලෝකය. ලෝකයේ වැඩක් නැති දේවල් හොයන්න තමයි ඒ අයගෙ කැමැත්ත. ඒ කියන්නෙ විකෘති වැඩවලට කැමතියි. එතකොට ධර්මය පිළිබඳ විචිකිච්ඡාව.

ඊළඟට සංඝයා පිළිබඳව ඒ අය මෙහෙම කියනවා. ''ඒ අය කොහොමද ශ්‍රාවකයො වෙන්නෙ? සංඝයා වෙන්නෙ? ශ්‍රාවක සංඝයා වෙන්න බුදුන් ඉන්න එපැයි! ධර්මය තියෙන්න එපැයි! බුදුනුත් නැතිව, ධර්මයත් නැතිව ඔය අය සංඝයා කියල අපි පිළිගන්නෙ නෑ. ඒ අය කියන දේ අපි පිළිගන්නෙ නෑ. අපේ ප්‍රශ්නවලට උත්තර දෙන කෙනෙක් ඉන්නව නම් සංඝයා කියල අපි පිළිගන්නවා. නමුත් ඔය අය කවුද? බුදුනුත් නැතිව, ධර්මයත් නැතිව නිකං කයිවාරු ගහන අය සංඝයා කියල අපි පිළිගන්නෙ නෑ.'' මෙන්න මේ අදහසේ තමයි ඒ අය ඉන්නෙ. ඒක තමයි **සංඝේ කංකති විචිකිච්ඡති** කියන්නෙ. එතකොට සංඝයා ගණන් ගන්නෙ නෑ, සංඝයා යන මාර්ගය ගණන් ගන්නෙත් නෑ. ලෝකයට හෙවත් විකෘති වැඩවලට තමයි කැමැත්ත. ඒ පස්සෙමයි දුවන්නෙ.

ඊළඟට බුදුන් වහන්සේ ශික්ෂණය වෙන හැටි කියල දෙනවා. ධර්මයට ඔහොම කලබල කරල බෑ, යථාර්ථය දැන ගන්න ඔහොම බෑ, ඒකට නිවිච්ච හිතක් ඕන. ඔය වගේ නීවරණවලින් වැහිල ඉන්න හිතකින් ඒක කරන්න බෑ, ඉස්සෙල්ලම හික්මෙන්න ඕන. ඔය දැන් ඉන්නෙ විකෘති මානසිකත්වයෙන්. ඉස්සෙල්ලම ඒක තේරුම් ගන්න නැඹුරු වෙන්න ඕන. ශික්ෂණය වෙන්න ඕන. දැන් මෙහෙම කිව්වම බමුණො මොකද කියන්නෙ? ''අපි ඔය ශික්ෂණය ගණන් ගන්නෙ නෑ. ඕවායින් අපිට වැඩක් නෑ. ඕව අපිට කියන්න එපා. අපිට හොඳට මොළය තියෙනවා.'' මේ තමයි ඒ අය දෙන උත්තරය. ඒ කියන්නෙ සික්ඛාව පිළිබඳ ගණන් ගන්නෙ නෑ. **සික්ඛාය කංකති විචිකිච්ඡති** කිව්වෙ ඒකට.

ඊළඟට පූර්ව අන්තයක (පෙර අත්බැවක) මම හෙවත් ආත්මය හිටියද කියල ඒ අය අහනවා. ''මේ කියන ජාතියේ මම ඉස්සර හිටියද? හිටිය නම් අඩු ගාණෙ ඉන්නව කියල කියන්න'' එතකොට බුදු දහමට අනුව මම (ආත්මය) කියන්නෙ නිකං සංකල්පයක් කියල හේතු ඵල දහම අනුව කියන කොටම ඒ කතාවත් බමුණො වහනවා. කියන්න දෙන්නෙ නෑ. ''ඒ කතා අපිට ඕන නෑ. මේ කියන නිච්ඡ වූ සාස්වත වූ සදාතනික වූ මම හිටියද නැද්ද? ඒ දෙකෙන් එකක් කියන්න.'' මේකට උත්තරයක් තමයි බමුණො ඉල්ලන්නෙ. එතකොට බුදු දහමට අනුව හිටිය කියන්නත් බෑ, නෑ කියන්නත් බෑ. නෑ කියල කිව්වොත් පිරිසක් මෙහෙම කියනවා. ''අපි කිව්වනෙ ආත්මයක් නෑ කියල, පිං පවුවල විපාක නෑ කියල. ආත්මයක් නැත්නම් කොහොමද පිං පවුවල විපාක විඳින්නෙ ? ඉස්සර ඉඳලත් නෑ. එහෙනම් දැනුත් නෑ.'' ඒ අය මෙහෙම කියන නිසා බුදුන් වහන්සේ එවෙලෙ නෑ කියල උත්තර දෙන්නෙත් නෑ. බැරි වෙලාවත් හිටිය කියල කිව්වොත්, ඒ අය මෙහෙම කෑ ගහනවා. ''අපිත් කිව්වනෙ හිටිය කියල, එහෙනම් අපි කියන කතාවට පක්ෂයි. අන්න බුදුන් වහන්සේත් ආත්මය තියෙනවයි කියන කතාව අනුමත කළා.'' ඉතින් හිටිය කිව්වොත් ආත්මයක් තියෙනව කියලමයි අදහස ගන්නෙ. ඒ නිසා උන් වහන්සේ මම කියල කෙනෙක් හිටියද නැද්ද කියල එතනදි උත්තර දෙන්න ගියේ නෑ. ''එතකොට පෙර හිටියද නැද්ද? හිටිය නම් කවුරු වගේද? කොහොමද? කොහෙ ඉඳලද ආවෙ?'' දැන් බුදුන් වහන්සේ මේ



එකකටවත් උත්තර දෙන්න යන්නෙ නෑ. මොකද ඒ අහන ප්‍රශ්නවල හැටියට ඒ අය බලාපොරොත්තු වෙන ආකාරයේ උත්තරයක් දෙන්න බෑ. හේතු ඵල දහම අනුව ඒක පැහැදිලි කරන්න ගියොත් ඒ අයගෙ අදහසින් පිට පනින නිසා ඒ අය ඒක පිළිගන්නෙ නෑ, ගණන් ගන්නෙ නෑ. එතකොට **පුබ්බන්තේ කංකති විචිකිච්ඡති** කියන පූර්ව අන්තය ගැන සැක කරනවා.

ඊළඟට අපර අන්තය. ඒ කියන්නෙ මම කියල කෙනෙක් මතුවට ඉන්නවද අහනවා. බුදුන් වහන්සේ ඒකට උත්තර දෙන්නෙත් නෑ. හේතුඵල දහම අනුව කියන්න යන කොට ඒකට ඉඩ දෙන්නෙම නෑ. ඒ කතා එකක්වත් ගණන් ගන්නෙ නෑ. ''අපේ ප්‍රශ්නයට උත්තර දෙන්න. මේ සදාතනික මම මතුවට ඉන්නවද ? ඉන්නව නම් කෙලින්ම ඉන්නව කියන්න, නැත්නම් නෑ කියන්න'' මේ විදියට එල්ල කරල උත්තරයක් ඉල්ලනවා. වෙන උත්තර දුන්නට හරි යන්නෙ නෑ. එතකොට අපර අන්තය ගැන සැක කරනවා. ඒක තමයි **අපරන්තේ කංකති විචිකිච්ඡති** කියන්නෙ.

ඊළඟට දැන් (වර්තමානයේ) මම කියල කෙනෙක් ඉන්නවද නැද්ද, ඉන්නව නම් ඉන්න තැන කියන්න කියනවා. අර විදියට කෙලින්ම උත්තරයක් ඉල්ලනවා. හේතු ඵල දහම අනුව කියන්න හැදුවොත් ඒකට ඉඩ දෙන්නෙ නෑ. ඒව ගණන් ගන්නෙ නෑ. එතකොට ඒ ගැන සැක කරනවා. මේකට තමයි **පුබ්බාපරන්තේ කංකති විචිකිච්ඡති** කියන්නෙ.

ඊළඟ එක **ඉදප්පච්චයතා පටිච්ච සමුප්පාදේ කංකති විචිකිච්ඡති.** දැන් බුදු දහමට අනුව මේ ආත්මය (මම) කියන කාරණය තෝර ගන්න නම්, මේ මේ මොහොතෙ එන පටිච්ච සමුප්පාදය බලන්න, එතකොට ඔක වැටහෙයි කියන කොට, ඒව අපිට හරි යන්නෙ නෑ, අපේ ප්‍රශ්නයට උත්තරය ඔතන නෑ කියල ඒ අය ඒක ප්‍රතික්ෂේප කරනවා. උදාහරණ විදියට ජාති කිව්වම, ජාති වෙන්නෙ භව ප්‍රත්‍යයෙන්. ජරා මරණ එන්නෙ ජාති ප්‍රත්‍යයෙන්. නමුත් එහෙම කිව්වට ඒ අයට ඒක හරියන්නෙ නෑ. අපේ ප්‍රශ්නය ඔය එකක්වත් නෙවෙයි කියල ඒ අය කෙලින්ම කියන්නෙ. ''අපේ ප්‍රශ්නය තමයි මේ නිච්ඡ වූ සදාතනික වූ වෙනස් වෙන්නෙ නැති මම හෙවත් ආත්මය ගැන. අපේ ඔය ප්‍රශ්නයට උත්තර දෙන්න. ඒ හැරෙන්න වෙන මොනව විග්‍රහ කළත් අපි පිළිගන්නෙ නෑ.'' දැන් බුදුන් වහන්සේ මේ හේතුඵල න්‍යායෙන් ''මම'' හැඳෙන

හැටි විග්‍රහ කරල දුන්නට පස්සෙ ඒ අය ඒක පිළිගන්නෙ නෑ. ඉදප්පච්චයතා පටිච්ච සමුප්පාදය ගණන් ගන්නෙ නෑ. අවිද්‍යා ප්‍රත්‍යයෙන් සංඛාර වේ කිව්වට, සංඛාර ප්‍රත්‍යයෙන් විඤ්ඤාණ වේ කිව්වට ඒ අය ගණන් ගන්නෙ නෑ. ''අපි අහන්නෙ ඕව නෙවෙයි, ආත්මය තමයි ඔය සියල්ල කතා කරන්නෙ. අපි ඒක දන්නවා. අපට විස්වාසයි. අපි අහන්නෙ අන්න ඒ ආත්මෙ ගැන.'' ඉතින් කොච්චරවත් ප්‍රශ්න කරන්නෙ මේ ආත්මයක් ගැනමයි.

එතකොට බුදුන්, දහම්, සඟුන් ආදී වශයෙන් කියන මේ කාරණා ගණන් ගන්නෙ නැති කෙනා නිවන හොයාගෙන වෙනත් දේවල් පස්සෙ තමයි දුවන්නෙ. මේකට හොඳ උපමා කවියකුත් තියෙනවා.

**අප මුනි තිලෝනා**
**- හැර කියන බස් මෙදනා**
**හැර කිරි පිරි තනා**
**- වැන්න අඟ රැගෙන කිරි දෝනා**

තුන් ලෝකාග්‍ර වූ බුදු පියාණන් වහන්සේ හැර නොයෙක් බස් කියන ජනයාගේ ස්වභාවය කියනව නම්, හරියට එළදෙනකගෙ කිරි පිරිච්ච කිරි බුරුල්ල අත හැර අඟ අල්ල ගෙන කිරි දොවන්න හදනව වගේ. ඉතින් අඟේ කොහෙද කිරි? ඒක විකෘතියක්. එතකොට එතනදි ප්‍රකෘතිය තමයි කිරි ගන්න නම් එළදෙනගෙ කිරි බුරුල්ල අදින්න ඕන කියන කාරණය. ඒක නොකර කිරි ගන්න අඟ අදිනවයි කියන්නෙ විකෘතියක්. අංවල කිරි තියෙනවයි කියල මෝඩ කමට අඟ අදිනවා. ඒකෙන් තමයි විචිකිච්ඡාව තෝර ගන්න තියෙන්නෙ.

ඒ උපමාවෙන්ම කංකති කියන එකත් තේරුම් ගන්න පුළුවන්. අඟේ කිරි තියෙනව කියල කියන කෙනා, කිරි බුරුල්ලෙ කිරි තියෙනව කියල ගණන් ගන්නෙ නෑ. කිරි පෙනි පෙනී තියෙද්දි මෝඩකමට ඒක ගණන් ගන්නෙ නෑ. මේ වගේ නිවන තියෙන්නෙ බුදු දහමෙ නෙවෙයි, අපේ ප්‍රශ්නවලට උත්තර නැති ඕකෙ කොහෙද නිවන කියල විවිධ පරිබ්‍රාජකයො කියන කතා අහල සමහරු ඒ පස්සෙ යනවා. නිවන් මග නොවන වෙනත් මගක් අනුගමනය කරල නිවන් හෙව්වට ලැබෙන්නෙ නෑ, ඒව විකෘති කටයුතු. ඒවට තියෙන කැමැත්ත විචිකිච්ඡාව.

දැන් එතකොට බුදු දහම මුල් කර ගෙන ඒ අයගෙ එක ප්‍රශ්නයකටවත් උත්තර නෑ කියල තමයි ඒ අය කියන්නෙ. ''බුදුන් නම් මේවට උත්තර දෙන්න ඕන. ධර්මය නම් අපේ ප්‍රශ්නයට උත්තරයක් තියෙන්න ඕන. ශ්‍රාවක සංඝයා නම් ඒක දරා ගත්ත අය වෙන්න ඕන, ඒ අය ඒක දැන ගෙන ඉන්න ඕන. ශික්ෂාවක් නම් අපේ ප්‍රශ්නයට උත්තරයක් දෙන ශික්ෂණ මාර්ගයක් වෙන්න ඕන. ඒක නැතිව වෙන එකක් අපිට කියල වැඩක් නෑ. පෙර හිටියද නැද්ද කියල කියන්න ඕන. මතු ඉන්නවද නැද්ද කියල කියන්න ඕන. දැන් ඉන්නවද නැද්ද කියල කියන්න ඕන. මේ ආත්මය ගැන අපිට පිළිගන්න පුළුවන් හේතු දෙන්න ඕන, හේතුඵල ධර්මය කියන කතාව අපි පිළිගන්නෙ නෑ. බුද්ධාදී අට තැන සැකය කියල අද හඳුන්වන්නෙ ඕන්න ඔය කාරණා අට. එතකොට සත්කාය දෘෂ්ටිය නිසාම තමයි මේ විචිකිච්ඡාව එන්නෙ. ඒ නිසා තමයි සීලබ්බත පරාමාස කියල ලෝකෙ විකෘතිය පස්සෙ යන්නෙ, විකෘතියෙන් ක්‍රියා කරන්නෙ. විකෘතියට තියෙන කැමැත්ත නිසා ඒ පසු පසම දුවනවා. ඒක තමයි විචිකිච්ඡාව කියන්නෙ.

හැබැයි මේකට සැකය කියල කිව්වම ඒ අදහස සම්පූර්ණ වෙන්නෙ නෑ. මොකද විවිධාකාරයේ සැක තියෙනවා. එතකොට විචිකිච්ඡාව ඒකාන්තයෙන්ම සෝවාන් ඵලයත් එක්කම ඉවරයි. දැන් අර ලෝක සම්මතයේ තියෙන සැකය විචිකිච්ඡාව කියල කිව්වොත් එහෙම, සෝවාන් වෙලා හිටපු මහානාම කුමාරයටත් තමන් අපායෙ යයිද කියල සැකයක් තිබුණා. බුදුන් වහන්සේ එහෙම වෙන්නෙ නෑ කියල තුන් වතාවක් කියන කල්ම ඔහුට ඒ සැකය තිබුණා. ඉතින් එතකොට සැකය කියන කාරණය සෝවාන් වෙච්ච කෙනාට නැති වෙනව නම්, ඒක නැවත කවදාවත් තියෙන්න විදියක් නෑ. එතකොට ධර්මය ගැන සැකය කිව්වම බුදුන් වහන්සේ දේශනා කරන සියලු ධර්මය ගැන නෙවෙයිද මේ කියන්නෙ? මෙන්න මේ කාරණය හරියට පැහැදිලි කර ගන්න ඕන.

මෙතනදි විකෘතිය (විචිකිච්ඡාව) කියල කියන්නෙ ලෝකය. ප්‍රකෘතිය කියන්නෙ නිවන. නිවනට සාපේක්ෂව විකෘතිය තමයි ලෝකය. ලෝකයෙත් ප්‍රකෘතිය, විකෘතිය කියල දෙකක් තියෙනවා. ලෝකයට සාපේක්ෂව ලෝකයේ විකෘතිය තමයි පවු (දස අකුසල්), ප්‍රකෘතිය තමයි පිං. හැබැයි නිවනට සාපේක්ෂව බැලුවොත් ලෝකෙට අයිති පිං පවු දෙකම විකෘතියි. කුසල් කියන කොට ඒක ආර්ය මාර්ගයට වැටෙන්නෙ. ඒ කියන්නෙ ප්‍රකෘතිය විදියට වැටෙන්නෙ කුසලය සහ නිවන. කුසල් කියන්නෙ ටිකෙන් ටික නිවන කරා යෑම හෙවත් අත් හැරීම. එතකොට නිවනට සාපේක්ෂව ලෝකෙට අයිති, පැවැත්මට අයිති යමක් තියේ නම් ඒක විකෘතියක්. එහෙනම් නිවනට සාපේක්ෂව ලෝකෙට අයිති පිං පවු දෙකම විකෘතියක්. පිං කියන්නෙ ලෝකය පිනවන්න පැතීම, ලෝකය පිනවීම. ඒකට අවිද්‍යා, තණ්හා දෙක කියල කිව්වත් හරි. ඒ කියන්නෙ මේ ලෝකයේ ජීවත් වෙන කොට අවිද්‍යා තණ්හාව මුල් කර ගෙනත් පිං කර ගන්න අවස්ථාව තියෙනවා. ඒ කියන්නෙ අවිද්‍යා පච්චයා පුණ්‍යාභි සංඛාරා කියන අවස්ථාව. හැබැයි ඒව සියල්ලම ලෝකයට සාපේක්ෂව ප්‍රකෘති. ඒ කියන්නෙ ලෝකෙ හොඳ පැත්ත. දෙව් ලොව, බඹ ලොව වගේ සුගති ලෝක ප්‍රාර්ථනා කිරීමත් ලෝකයට සාපේක්ෂව ප්‍රකෘතියක්. නමුත් මේ ඔක්කොම ලෝකෝත්තර වූ නිවනට සාපේක්ෂව නම් විකෘති.

දැන් කෙනෙකුට ප්‍රශ්නයක් එන්න පුළුවන්, එතකොට නකුල මාතා, නකුල පිතා කියන ස්වාමි පුරුෂයයි, භාර්යාවයි දෙන්නම සෝවාන් වෙලා ඉඳගෙනත් දෙව් ලොව පැතුවා, ඒකත් විකෘතියක්ද, විචිකිච්ඡාවක්ද කියල. නමුත් ඒ දෙන්නම එහෙම පැතීමක් කළත්, කටයුතු කළේ නිවන මුල් කර ගෙන. සැනසුම නිවනයි කියල දැන ගෙන හිටියෙ. නිවන් දැකල අවසන් වෙන තුරු, නිවන පූර්ණ කරගන්න තුරු පැවැත්මක් විතරයි අපි බලාපොරොත්තු වෙන්නෙ කියන අදහසේ තමයි මේ දෙන්නම හිටියෙ. ඒ බලාපොරොත්තුවෙන් දෙව් ලොව පැතුව මිසක් දෙව් ලොව හොඳ නිසා පැතුව නෙවෙයි. එතකොට ඒ කාරණය එහෙමයි කියල දැන ගන්නෙ කොහොමද? ඒ අයගෙන් ඇහුවොත් දෙව් ලොවද බලාපොරොත්තුව කියල, නෑ නෑ නිවන කියන තැන තමයි ඉන්නෙ කියනවා. ඒ කියන්නෙ පළවෙනි තැන දීල තියෙන්නෙ නිවනට. එතකොට ඉච්ඡාව (කැමැත්ත) තියෙන්නෙ නිවනට මිසක් දිව්‍ය ලෝකයට නෙවෙයි. නමුත් නිවන් පූර්ණ කරල පිරිනිවන් පාන කල් යම් තැනක හොඳින් ඉන්න පුළුවන්ද, එතැන ඉන්න ප්‍රාර්ථනා කරනවා. ඒක විචිකිච්ඡාවට අයිති වෙන්නෙ නෑ. මොකද බලාපොරොත්තුව එල්ල කරල තියෙන්නෙ නිවනට. සෝවාන් වෙච්ච කෙනෙක් නිවන එල්ල කළා නම් ඒ පුද්ගලයගෙ ඉච්ඡාව තියෙන්නෙ නිවනට මිසක් ලෝකෙට නෙවෙයි. ඒ නිසා විචිකිච්ඡාවක් නෑ.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# හෙළ බොදු පියුම දහම් සඟරාවේ 34 වන කලාපය සඳහා ශ්‍රමය හා මූල්‍යමය දායකත්වය සැපයූ පිංවතුන්

**ශ්‍රම දායකත්වය -**

♦ ධම්මික සේනාධීර මහතා - නෙක්මෝ කම්පියුටර්ස් ආයතනය - මාලබේ ♦ අසංග මංජුල කුමාර මහතා - හෝමාගම ♦ සමන් සිල්වා මහතා - කළුතර ♦ චන්දන සිරිවර්ධන මහතා - අලපලාදෙනිය ♦ ෆික්රි ඉස්මයිල් මහතා - ගොතටුව ♦ ඩබ්.ඒ. තිළිණවතී මහත්මිය - කඩවත ♦ එස්.එම්. ජයසේකර මහතා - මාලබේ ♦ පර්ෆෙක්ට් කම්පියුටර් ආයතනයේ කාර්ය මණ්ඩලය - පිටකෝට්ටේ ♦ ඉමාෂි මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය ♦ නන් අයුරින් දායකවූ පින්වතුන්

**මූල්‍යමය දායකත්වය** -

♦ අසංක විරාජ් මහතා, ඩොනල්ඩ් කළුතන්ත්‍රී මහතා, උපුල් දිසානායක මහතා, ඉන්දිකා ප්‍රියදර්ශනී මහත්මිය සහ ගයාත්‍රි ද සිල්වා මහත්මිය - යෝර්ක්, එංගලන්තය - රු. 17,770/- ♦ සමන් සිල්වා මහතා - කළුතර - රු. 16,000/- ♦ ප්‍රියනාත් ආරියරත්න මහතා ඇතුළු පවුලේ සැම- කුරුණෑගල - රු. 10,000/- ♦ දෙහිවල ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනට සම්බන්ධ දායක පිංවත් පිරිස - රු. 10,000/- ♦ ඩබ්ලිව්. ඒ. තිළිණවතී මහත්මිය ඇතුළු පවුලේ සැම - කඩවත - රු. 10,000/- ♦ බිනග සමාධිත් පුතා, අජිතා චාමලී මහත්මිය, කපිල සිල්වත්ගේ මහතා - බත්තරමුල්ල - රු. 6,000/- ♦ අමිත් හඳුගොඩ මහතා - අත්තිඩිය - රු.5,000/- ♦ කැළුම් ලංකේශ්වර මහතා ඇතුළු පවුලේ සැම - නෙළුව- රු. 5,000/- ♦ ගයාන් පුෂ්පික ඉන්ද්‍රජිත් ලොකුමාන්න මහතා ඇතුළු පවුලේ සැම - ගල්කිස්ස - රු.5,000/- ♦ සොනාලි සමරදිවාකර මෙනෙවිය - මහරගම - රු.5,000/- ♦ චමින්ද සාලිය වර්ණපුර මහතා - මාතර - රු. 5,000/- ♦ සුභාෂ් රණසිංහ මහතා - මගලෙගොඩ - රු. 5,000/- ♦ නන්දා ජයලත් මහත්මිය ඇතුළු පවුලේ සැම - පාදුක්ක - රු. 5,000/- ♦ නලින් රණතුංග මහතා - පිළියන්දල - රු. 5,000/- ♦ උපුල් පරාක්‍රම ද සිල්වා මහතා - මාරවිල - රු. 4,200/- ♦ නයනා ෆොන්සේකා මහත්මිය - පිළියන්දල - රු. 3,000/- ♦ ජනක හපුආරච්චි මහතා ඇතුළු පවුලේ සැම - ගිනිගත්හේන - රු. 3,000/- ♦ අමිල සල්ගාදු මහතා - බෝමිරිය - රු. 2,500/- ♦ ඩබ්.කේ. නලිනසේකර මහතා සහ ඩබ්.ප්‍රේමවතී මහත්මිය - වළල්ලාවිට - රු. 2,500/- ♦ ටී.ටී.පී. සිල්වා මහත්මිය - නාගොඩ කළුතර - රු.2,500/- ♦ එච්.ඩී. සරිත් මහතා - ගාල්ල - රු.2,150/- ♦ ඩබ්.ටී. අමරදාස මහතා - පාදුක්ක - රු. 2,000/- ♦ යශෝදරා රන්මිණි මෙනවිය - මඩපාත - රු. 2,000/- ♦ තිලකා ජයවර්ධන මහත්මිය සහ ආරියරත්න රණසිංහ මහතා - බොරලැස්ගමුව - රු. 2,000/- ♦ චන්ද්‍රා විජේවර්ධන මහත්මිය - පාදුක්ක - රු. 2,000/- ♦ ෂවීන් ශ්‍රී ජයවර්ධන පුතා ඇතුළු පවුලේ සැම - මාලබේ - රු. 2,000/- ♦ ගංගා කෝදාගොඩ මහත්මිය - බොරැල්ල - රු. 2,000/- ♦ බැසිල් ප්‍රේමරත්න මහතා - මොහොට්ටිමුල්ල - රු. 2,000/- ♦ සංජය රණවීර මහතා - මහරගම - රු. 2,000/- ♦ කෝෂලා සිරිවර්ධන මෙනවිය - ගාල්ල - රු. 2,000/- ♦ අයිරාංගනී තිලකරත්න මහත්මිය - නාවල - රු. 1,500/- ♦ ශවීන්ද්‍රි ඩයස් මෙනවිය - නාවින්න - රු. 1,350/- ♦ අම්රිත් ඉන්ද්‍රරත්න මහතා - ඕස්ට්‍රේලියාව - රු. 1,000/- ♦ ශ්‍යාමල් බණ්ඩාර මහතා - කුරුණෑගල - රු. 1,000/- ♦ රුවන් රණසිංහ මහතා - පන්නිපිටිය - රු.1,000/- ♦ නදීශා හර්ෂනී ලියනගේ මෙනවිය - කළුබෝවිල - රු. 1,000/- ♦ එරංග ලියනගේ මහතා සහ බිසන්තිකා ගුණසේකර මහත්මිය - කළුබෝවිල - රු. 1,000/- ♦ නිහාල් ලියනගේ මහතා සහ චිත්‍රා ශ්‍රේරු මහත්මිය - කළුබෝවිල - රු. 1,000/- ♦ අනුරුද්ධ ඉද්දවෙල මහතා - කඩවත - රු. 1,000/- ♦ ශමීන් බණ්ඩාර මහතා - උඩුබැද්දාව - රු. 1,000/- ♦ පුබුදු කමල් දසනායක මහතා - හොරණ - රු. 1,000/- ♦ ඉන්ද්‍රානි විශාකා ජයසිංහ මහත්මිය - බොරලැස්ගමුව - රු. 1,000/- ♦ එස්. ප්‍රසන්න ප්‍රියදර්ශන සිල්වා මහතා - ගල්කිස්ස - රු. 1,000/- ♦ ෂෙහානි බස්නායක මහත්මිය - මත්තෙගොඩ - රු.1,000/- ♦ රේණුකා ගුණරත්න මහත්මිය ඇතුළු පවුලේ සැම - ගොතටුව - රු. 1,000/- ♦ නුවන් යාපා අමරසේකර මහතා - රදාවාන - රු.1,000/- ♦ ඩබ්.විලියම් මහතා - දෙහිඅත්තකණ්ඩිය - රු.1,000/- ♦ ඉන්දික වික්‍රමසිංහ මහතා - වැලිවේරිය - රු. 1,000/- ♦ අංජු රණතුංග මහත්මිය - පිළියන්දල - රු. 1,000/- ♦ වී. පියසිරි මහතා - රුවන්වැල්ල - රු. 1,000/- ♦ ජනිත හෂාර ජයකොඩි මහතා - අත්තිඩිය - රු. 1,000/- ♦ වරුණි ප්‍රියංවදා දනංගල මහත්මිය - පාදුක්ක - රු. 1,000/- ♦ එන්. පද්මලතා මහත්මිය - ඌරාපොළ - රු. 1,000/- ♦ සුරේෂ් චින්තක මහතා - නුගේගොඩ - රු. 1,000/- ♦ අශෝකා ගුණරත්න මහත්මිය - මාවතගම - රු. 1,000/- ♦ වයලට් වික්‍රමාරච්චි මහත්මිය - කටුබැද්ද - රු. 1,000/- ♦ තුඩාව සහෝදර සමාගමේ කාර්ය මණ්ඩලය - නාරාහේන්පිට - රු. 1,000/- ♦ ශමික සෙනෙවිරත්න මහතා - කැළණිය - රු. 1,000/- ♦ සී.එම්.පී.සී. ලක්රුවන් මහතා - කළුතර - රු. 1,000/- ♦ විපුල සංජීව මහතා ඇතුළු පවුලේ සැම - හෝමාගම - රු. 1,000/- ♦ නෙළුව මැදගම කණිටු විදුහලේ 5 ශ්‍රේණියේ සිසු දරු පිරිස - රු. 1,000/- ♦ නිමල් චන්ද්‍රසිරි මහතා - නෙළුව - රු. 1,000/- ♦ ලලිත් විජේසිංහ මහතා - නෙළුව - රු. 1,000/- ♦ ජයරත්න ගමගේ මහතා - නෙළුව - රු. 1,000/- ♦ ඩී. මාලනී මහත්මිය - බෙන්තර - රු. 1,000/- ♦ ප්‍රසාද් රණසිංහ මහතා - පන්නිපිටිය - රු. 1,000/- ♦ සීතා කුලතුංග මහත්මිය - අවිස්සාවේල්ල - රු. 1,000/- ♦ රංජිත් වික්‍රමසිංහ මහතා, පද්මාවතී වික්‍රමසිංහ මහත්මිය, සුභාෂිනී දිසානායක මෙනවිය - කඩිගමුව, උපුල් විජේනායක මහතා - මාවනැල්ල, මනෝජ් ජයසූරිය මහතා, උදාන ආරියවංශ මහතා - මහරගම, ඉසුරු සම්පත් මහතා - කළුතර, චතුර මල්වාන මහතා - කෑගල්ල, චන්දිම ගුණදාස මහතා - මොරටුව, දුමින්දා සංජීවනී මහත්මිය - නිට්ටඹුව, කුමාරි ගොඩවිට මහත්මිය - කුරුණෑගල, ශ්‍රී රංජිත් සිංහ මහතා -

කැළණිය, යමුනා උඩුමලගල මහත්මිය - පිළියන්දල, රසික තුශාන්ත මහතා - හෝමාගම, දමයන්ති ලියනගේ මහත්මිය ඇතුළු පවුලේ සැම, වෛද්‍ය ජයරත්න අබේකෝන් මහතා - හබරකඩ, කළණි කුලතුංග මහත්මිය - පොළොන්නරුව, නිලූකා ගුණරත්න මහත්මිය ඇතුළු පවුලේ සැම - ගොතටුව, චම්පිකා වන්නිආරච්චි මහත්මිය - කොළොන්නාව, ඩී.වී. සෝමසිරි මහතා - කොටියාකුඹුර - රු.7,200/- ♦ එකතු වූ සියලු මුදල් පරිත්‍යාග- රු. 192,670/- ♦ පළමු පිටපත් 10000 සඳහා මුද්‍රණ වියදම රු. 232,500/- ♦අනෙකුත් වියදම් - 18,640/- ♦ සම්පූර්ණ වියදම - රු. 251,140/- මුද්‍රණ කටයුතු සඳහා ගිය හිඟ මුදල සඟරා අලෙවියෙන් පියවා ගන්නා ලදී. සඟරා අලෙවියෙන් ලැබෙන ඉතිරි සියලු මුදල් නැවත මුද්‍රණ කටයුතු ඇතුළු දහම් කටයුතු සඳහා යොදවනු ලැබේ.

**ඉහත නම් සඳහන් පිංවත් පිරිස ඇතුළු ආධාර උපකාර කළ සියලු දෙනා සිදු කරගත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද හේතු කොටගෙන, අනන්ත සසරේ පටන් මේ දක්වා තම තමන් අතින් අවැඩ, අසාධාරණ, වැරදි, ප්‍රමාද දෝෂවලට ලක් වූ සියලු දෙනාට මෙන්ම උදව් උපකාර කළ සැමටත්, මියගිය සතර වර්ගයක ඥාති මිත්‍රාදීන්ටත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද විඳිදී පැතිරී පිහිටා සුඛිත මුදිත වෙත්වා, සුගතිගාමීව තම තමන්ගේ පැතුම් පරිදි නිර්වාණාවබෝධයටද හේතු වාසනා වේවා! එම ආධාර උපකාර කළ පිංවත් පිරිස් ඇතුළු සිය පවුල්වල සැමටත්, කරන කියන යහපත් රැකී රක්ෂා ව්‍යාපාර ආදියෙන් සියලු ජයග්‍රහණයන් අත් වේවා. දූ දරුවන්ගේ අධ්‍යාපන ආදී කටයුතුවලින් විශිෂ්ඨ ජයග්‍රහණ අත් වී සුචරිත පිරිසක් වී සියලු අභිවෘද්ධිය උදා වේවා!**

---

**සියවස් ගණනාවකට පෙර සැඟව ගිය නිමල බොදු මග යළි පුබුදුවමින්,**
**හෙළ බොදු පියුම දහම් කරුණු ඔබ වෙත රැගෙන එන්නේ, බුදු පියාණන් වහන්සේ අනුදැන වදාළ,**
**අග්ගඤ්ඤ සූත්‍රය, නිරුත්තිපථ සූත්‍රය සහ අරණවිභංග සූත්‍රය යන සූත්‍රාන්තයන්ට අනුව,**
**දහම් පදවල සැඟවුණු දහම් අරුත් මතු කරන පද නිරුක්ති සහ**
**අතීතය, වර්තමානය, අනාගතය හඟවන තුන්කල් නිරුක්ති සහිත ව්‍යවහාර ශබ්ද**
**නිරුක්ති ක්‍රමවේදය අනුව මිස, උන්වහන්සේ අනුමත නොකළ ලිඛිත භාෂා රීති සහිත**
**බමුණන්ගේ ත්‍රිවේද නිරුක්ති මත නොවන බව සලකන්න.**

---

**පින්වත් ඔබ වෙනුවෙන් එළි දැක්වූ දහම් ගබඩාවන්...**

www.hiddendhamma.net mp3.hiddendhamma.net www.helabodhupiyuma.net www.aaryadharma.org

විද්‍යුත් ලිපිනයː webmaster@helabodhupiyuma.net දු.අː- 071 3046895

**දම් සභා ගුවන් හඬ** - www.waharaka.com වෙබ් අඩවිය ඔස්සේ පුර සහ අමාවක පොහොය දිනයන්හි උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා

**සැඟවුණු බොදු මග යළි විවර කරමින් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ සදහම් වැඩසටහන් පැවැත්වෙන කාල හෝරාවන්:**

සැම පුන් පොහෝ දිනකම සහ සැම අමාවක පොහොය දිනකම උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා - පෙහෙවත් සමාදානය, දහම් සාකච්ඡා සහ විශේෂ පුණ්‍යානුමෝදනාව.

ගමන් මාර්ගයː නිට්ටඹුව - රුවන්වැල්ල ප්‍රධාන මාර්ගයේ ගෝණගල්දෙනිය හන්දියේ සිට වහරක අතුරු මාර්ගයේ මීටර 350 ක් පමණ දුරින් දකුණු පස.

---

## හෙළ බොදු පියුම දහම් සඟරාවේ පසුගිය කලාපයන් ඇතුලු සියලු කලාපයන් දැනට ලබාගත හැකි ස්ථානː

1. ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ
2. නෙක්මෝ කම්පියුටර්ස් ආයතනය - මාලබේ.
3. නිව් පියුමි කොමිනිකේෂන් - පීරිස් මාවත, කළුබෝවිල - 0773742023
4. තුෂාරා ෆැෂන් - හයිලෙවල් පාර, හෝමාගම.
5. පිනකල් නෙට් - ශානි ඉන්ස්ටිටියුට් - හයිලෙවල් පාර, ගොඩගම
6. තුෂාරි සාරි සෙන්ටර් - කොළඹ පාර, පාදුක්ක.
7. සුජය ෆාමසි - කටුබැද්ද හංදිය, මොරටුව.
8. ගේට්වේ අධ්‍යාපන ආයතනය - කලේගාන, ගාල්ල.
9. සමනල පොත්හල - නෙළුව.
10. නිව් මෙට්‍රෝ කම්පියුටර්ස් - කාලිදාස මාවත, මාතර
11. මෝලෙ කඩේ - මුදුන, වලස්මුල්ල.
12. කේ. පී. ස්ටෝර්ස් - ගන්තුන, කෑගල්ල.
13. නුගේගොඩ නාලන්දාරාම විහාරස්ථානයේ සදහම් වැඩසටහනින් (ඉරිදා උදේ 9.00 සිට සවස 2.00 දක්වා පමණි.) (077 7577592)
14. දෙහිවල කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනින් (සෙනසුරාදා උදේ 8.30 සිට සවස 2.00 දක්වා පමණි) (දෙහිවල පොලිස් ස්ථානය අසල)

**තැපෑලෙන් ගෙන්වා ගැනීම සඳහා විමසන්න -**

**ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - අංක 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ - 0777794676**

***ඉහත ආයතන හිමි පින්වතුන් මෙම සද් කාර්ය ඉටු කරනු ලබන්නේ කිසිදු වෙළඳ ලාභයකින් තොරව සාසනික කටයුත්තක් වශයෙන් පමණි.***

# පෙර හර



හරවත් දහම දෙන්නට පෙර කරන නද
බෙර හඬ සමග රැව් දෙයි නැටුමකට බැඳ
හොර නැති හඬෙහි ගරු බව සවනතට වැද
පෙර හර කියයි ලොව සොබ දම් මෙලෙස අද

කසයක විලස පුපුරයි සසරෙහි ගැටුම
හිස ගිනි අරන් කළ තිරිසන් වැඩ කටුම
වෙසකින් මුහුණු පෙන්වන විට ඔළු නැටුම
ඇසකින් දැකිය හැක දුගතියකට වැටුම

ගිනි ගත් සසරෙ හැටි පෙන්වන ගිනි කෙළිය
තැති ගත් සතුන් කොටවන විට මහ එළිය
නැති මුත් අද සැපක් ලොකුකම් කළ අලිය
ඇති වෙත් හඬක් ගැටුමෙන් ලී කෙළි වලිය

නිලයෙන් බලෙන් මත් වී දස අකුසලය
කළ කී විලස පෙන්වන නිලමෙල පෙළය
සලමින් ඔළුව ඒ අනුමත කළ එලය
දළ පිහිටියත් තිරිසන් අලි ඇතු කුලය

සුදු හැඳ කොඩි වියන් මල් සේසත් රැගෙන
මුදු ගුණ ලොවට පෙන්වා කළු සිත් නොගෙන
නිදුකට බසින පෙර වත් පිළිවෙත් ඉගෙන
බුදු බණ කියයි පෙරහර මහ සෙත් නැගෙන

සක් හඬ සුදු දහම පතුරන විලස එන
එක් කර මනස දම් ඇසුමට සුවය දෙන
දුක් නැති කරන මග මොහොතින් වැකෙන කන
මොක් පුර දොර අරියි සඟ පෙළ දෙසන බණ

සසරෙහි සොබා එළි දක්වනු පිණිස කළ
ඇස කන තුළින් දැක අහගෙන මිදෙන පෙළ
වස විස දෝස තිබුණොත් දුගතියට මුල
සසඳල බලන හැටි ඇත පෙරහරක තුළ

හේවිසි දවුල් ගැට බෙර හඬ එන මැද්දේ
පා නිසි ලෙසට හව කතරෙහි ඇති යුද්දේ
ලෝ වැසි සැමට ගුණ දෙන දහමකි ඇද්දේ
නෑ කිසි දොසක් මේ කිවු පෙර හර සද්දේ

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන



# උපන් දිනේ...

























උපතක පිළි සමුපන් බැව් නොදැනා
සැප ලෙස ගෙන නෙක සැමරුම් පුදනා
විපතකි දවසින් වැහැරුම් සදනා
ඉපදුම මරු හට දන් දෙයි එදනා

වැහැරෙන දේ සතුටක් ගෙන දෙනවද
ඇහැ නැති උන් හට සතුටක්මය එද
නැහැවේ නම් දිගටම අවිදුවෙ ඉඳ
ගැහැටකි සසරෙහි ඉන් නිදහස වෙද

දාට උපන් සේසත වියදම් කර
රෑට නිදන් නැතිවද තව කල් මර
පාට වලින් සරසා මෝහෙන් බර
කාට කියන්නද උපතක ලත් හර

සුභ පැතුමන් පත් දහසින් පානා
ඉඹ වැළඳා යන දසුනන් නානා
දුබලව යන කය වයසින් පේනා
ලැබ ගත් හරයක් සසරින් නේනා

පිනක් දමක් නොකරන උපන් දිනේ
අණක් ගුණක් නැත අවිදුවෙන් තැනේ
දිනක් එන විටදී මර බියෙන් වැනේ
තැනක් ලැබ දෙයිද සැමරුමෙන් අනේ

මෙවන් උපන් දින සැමරුම් පෙර කල
භවෙන් භවය සැමරුව හැටි කප කෙළ
එවන් උපත් මරණින් කෙළවර කළ
සොවින් තැවුනු හැටි මතකද ලොව තුළ

පින් දම් කරමින් සමරන උපතේ
අන්තිම මොහොතද නොම යත අපතේ
සුන් වී ගිය මුත් මේ කය විපතේ
උන් යළි උපදිති දහමක සැපතේ

භවයක ඉපදුම දුක යැයි දැක ගෙන
දවසට ඉපදුන සිහි කර නුවණින
ලොවටම ඇති ණය දහමින් පියවෙන
නිවනට පැමිණෙව් මතු දුක් නොම දෙන

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන

නීතිඥ චන්දන සිරිවර්ධන විසින් නුගේගොඩ ගංගොඩවිල වනාත පාරේ අංක 96/A දරණ ස්ථානයේ පිහිටි ඉමාෂි මුද්‍රණාලයේ මුද්‍රණය කර ප්‍රසිද්ධ කරන ලදී